

# සැත්තෑ විය ඉක්මවිය; පරිකල්පනය වෙනස්විය.

චන්ද්‍රසිරි විජයරත්න
විසිනි

This e-book is available in www.archive.org for free downloading.

<u>Other books by the author</u>

- Adjudication and arbitration, Volume 1 of 2 – [Buildings & Water works] 04 Case studies of Disputes
- Adjudication and arbitration, Volume 2 of 2 – [Road works] 09 Case studies of Disputes
- Technical and contractual issues and the engineer's decisions [views]—[road work related] –
    - Publisher Sihela time and space No 616, Makola North, Makola; Available for sale at Sarasavi book shop and IESL library

<u>Books for General reading</u>

- Maga kathawa – a story of site life of a Resident Engineer in Sinhala - e book
- Uthuru palathe da sewayata paminiyemi – day to day life experiences in Northern Province as the Resident Engineer, in Sinhala - e book
- Haththawiya ikmawiya – parikalpanaya wenas wiya – Thoughts of an old man on matters experienced at the time of writing, in Sinhala – e book
- Bale asu dutu katha ha charitha – a recollection of memories as a juvenile living in Mathara district in nineteen fifties, in Sinhala - e book

# පෙරවදන

මීට පෙර මගේ වැඩබිම් අත්දැකීම් කියැවූ සමීපයන් උනන්දු කළ නිසාත්, වයසට යනවිට ඇතිවෙන පාළුව මකා ගනු පිණිසත්, නැවතත් මට හිතට එන දේවල් ලියන්නට සිතුනි

මේ පොතට ද පාදක වන්නේ මෙය ලියන කාලය තුළ අහන, දකින, හිතන, මතක් වෙන දේ ය . එහෙත් ඉන්ජිනේරුවකුගේ කෝණයෙන් නොව සාමාන්‍ය වැඩිහිටියකු ගේ ඇසින් කරුණු ඉදිරිපත් වෙනු ඇත.

මෙය ලියන්නේ පැහැදිලි අරමුණක් ඇතිව නොවේ. කාලය අනුව යෙදෙන හැටියට පොත සැකසෙනු ඇත. සමහරවිට සම්බන්ධයක්, ගලායාමක්, නැති දේ ද තිබෙන්නට පුළුවන.

කියවන ඔබේ රුචිය අනුව මේවා ප්‍රිය හෝ අප්‍රිය රචනා වනු ඇත. 2017 සිට ඉදිරි කාලයේ ලංකා සමාජයේ හා පොදුවේ මිනිස් සමාජයේ කරුණු, මා දකින හැටි මෙහි සටහන් වේ.

සී. විජයරත්න

“සාරංගා”

නෙරතල්දෙනිය පාර

පිළිමතලාව

2017 ජනවාරි සිට 2023 ජුනි

# පටුන

## 1. උතුරු පළාතෙන් පිටත් වී ..

උතුරු පළාතෙන් මා නික්මුණේ, බාරව සිටි ව්‍යාපෘතිය සම්පූර්ණයෙන් ඉවර වෙන්නට පෙරය. හේතුව, නිම කළයුතු කාලය අවසන වැඩය නිම නොකරන එක වැඩබිමක් පමණක් ඉතිරිවෙන බව, මට සත්තකින්ම සිතුනු නිසාය. උතුරෙන් ඇවිත් මසකදී 'උතුරු පළාතේ ද සේවයට පැමිණියෙමි' පොතේ සෝදු පත් කියවා නිම කළෙමි. පිටු සකසා අවසන් කිරීම, පරිගණක වැඩකරන දරුවන්ට දුන් පසු සිත නිදහස් විය.

නිකම් ඉන්න බැරි මට මේ පොත ලියන්න සිතුනි. ආරම්භක අත්දැකීම් ලැබුනේ, තාවකාලික වැඩකට, මා වැඩකළ සමාගම විසින් මා කොළඹට කැඳවූ පසුය.

කාර්යාලය පිහිටා තිබුනේ කොළඹ උප නාගරික පරිසරයක ය; දශකයක පමණ කාලයක් තුළ, වේගයෙන් පැතිරෙන, නාගරිකකරණය විසින් ගිලගත් ගැමි පරිසරයක ය. පිටින් බැලුවාම නො පෙනුනත්, පටු මාවත්වල ඇවිදිනා'තර, මගේ විමසුම් දෑසට ගැමි ගතිය මග හැරෙන්නේ නැත. අතරින් පතර ඇති කරන කිරි හරකුන්, අලකොළ ගාල්, කොහිල වළ, වැට මායිමේ වැවෙන මුරුංගා, කතුරු මුරුංගා, ගෙවතුවල ඇති කොස් දෙල් ගස්, හා මිදුල්වල දාස් පෙතියා , අඹ දාස් නොහොත් අටපෙතියා, හෙන්දිරික්කා මල් පැළඇති, කුඩා ගෙවල්, මන්දිර අස්සෙන් ගැමි පරිසරය තවමත් රැකගෙන සිටියි. ජීවන රටාව නාගරික වීම හා ගෙවල් සාදන ද්‍රව්‍ය,සිමෙන්ති ගල් හා තහඩු නිසා, මේවයේ යම් නූතනත්වයක් ද ඇත.

රෝගී බව නිසා මා කළයුතු ඇවිදීමේ ව්‍යායාමය සඳහා, මඳ දුරකින් පිහිටි, මං තීරුව මා තෝරා නො ගත්තේ කරුණු දෙකක් නිසාය. කඳු ගැටයක් නැග එහි යාමට සිදු වීම, හා ඇවිදින තීරුවේ ඇවිදීමට කරන, අතිරේක සූදානමක් සඳහා අකැමැති වීම ද වේ. කඳු නැගීම මගේ රෝගී හදවතට අගුණ වීම නිසා, නවාතැන අවට එම මට්ටමේ ම පිහිටි, පටු මාවතක් ඔස්සේ ගොස්, මහපාරට වැටී, කෙටිදුරකින් නැවත ඇල වේල්ලක් ඔස්සේ අවුත්, නවාතැන ළඟටම පැමිණිය හැකි, රවුමක් මම තෝරා ගත්තෙමි.

ගමනේ අවසාන කොටස ඇල වේල්ල දිගේ සෙමෙන් එන නිසා, මම ඇල දෙස බලමින් විවේකීව එන්නෙමි. මගේ ගමන මට ව්‍යායාමයක් වුනත් කාටවත් එසේ නො තේරෙන්නේ මා සෙමින් යන, ව්‍යායාම් කට්ටලයකින් නො සැරසුන, සෙරෙප්පු පළඳින, අයකු වීම නිසාය. උදේ හයට පිටත් වෙන්නට බැරි වුනු දාට, පාසල් යන සිඟිත්තෝ ද මා පසු කර යති; ඒ, මගේ ගමන සෙමෙන් වුනත්, පැටව් වැඩිහිටියන් සමග දුවමින් වේගයෙන් යන නිසා ය. හැමදාම එකම රවුම යනු දුටුවකු මිස, එක දවසක් දකින කෙනෙකුට,මා ව්‍යායාම සඳහා ඇවිදින කෙනෙකැයි නො සිතේ. ශෝභාමාන ධාවන පථ ඇඳුමක්ඇඳ , හැඩ සපත්තු දෙකක් පැළඳ, ලස්සන හැඩ රුව ඉවත්වගිය ඇඟ සකස්කර ගැනීමට, කඩිනම් ගමනින් යන කාන්තාවක් හා එවැනිම කලිසමකින් හා ටී ෂර්ටයකින් සැරසුන, විශ්‍රාමික හමුදා නිලධාරියකු ගේ පෙනුමැති, පිරිමි කෙනෙක් ද, අතරින්පතර දවස්වල, මගේ ගමනේ දී මට හමුවෙත්. ඔවුනට

තරම්, ස්ථූල පෙනුමක් මට නැතත්, අප තිදෙනාම, පමණ ඉක්මවා ආහාර ගැනීමේ හා, නිසි පමණ කය නො වෙහෙසීමේ දුක, අනුභව කරන්නමෝ වෙමු යි සිතමින්, ඇල දෙස බලා ගෙනම ඔවුන් අසළින් මාරු වෙමි.

ගමනේදී මග දෙපස මා බලන්නේ, කවදත් ගහ කොළට ඇති කැමැත්ත නිසාය. මුදල් මත්තේ හැපී, කඩෙන් කටට - බඩට යවන, නාගරික ජනයා අතර, ගෙවත්තේ කෑමට සුදුසු දේ වවන අය ඇති සැටි ද නරඹමි. ටෙලිපෝන් කණුවකට යවා ඇති සරුසාර මෑ වැලක්, කොඩොල් එල්ලෙන අල වැලක්, වැට දිගේ යන හාතාවාරිය වැලක්, මම නිරීක්ෂණය කර ඇත්තෙමි. වත්තේ කෙළවර වළක ඇති, ඇඟිලි කොහිල පඳුරු මා නෙත ගැටේ. කැන්ද ගසක කොළ දකින මට, හැලප හදන්නට කුරක්කන් පිටි පැකට්ටුවක් මිලදී ගන්නට ඕනෑ යයි සිතුනි.

කොළොම් පුරයේ සුළු ගංවතුර ගැටලුව වෙනුවෙන් කළ ව්‍යාපෘතියක් නිසා, මා යන එන මේ ඇල වේල්ල හැඩ ගැන්වී ඇත. වේල්ල පාරේ ද තාර දමා ඇතත්, කුඩා වාහනයකට පමණක් එහි යා හැකිය. ඇල වේල්ල තම පිවිසුම් මාර්ගය කරගෙන ඇත්තේ, කුඩා ගෙවල් ය. නාගරික සංවර්ධනය විසින් මුල්ලට තල්ලු කරනු ලැබූ, ප්‍රදේශ වාසීහු ඒවායේ සිටිති. ව්‍යාපෘතියේ වැඩ නිසා, ඇල ශුද්ධ පවිත්‍ර වී ඇත. ඉවුරේ අලකොළ පැළවී ඇතත්, වතුර පිළිවෙලකට ගලා බසී. ජලය පිරිසිදු නැතිදු, පල්වී නැත; පැහැදිලිය. කුඩා මස්සු එහි පිහිනති, විසාල ජපන් කොරලි ද දැකිය හැකිය. දියකාවෝ, කිරල්ලු, කොක්කු වර්ග කිහිපයක්, පිළිහුඩුවෝ, මෙහි සරති. කබරගොයින් පිහිනා යන්නේ අලස ලෙසින් කෑම සොයමින් හා, ඉතා සෙමෙන් ය. මේ කුඩා බිම් තීරයට සීමා වුනු පරිසරය කෙසේ නම් නාගරික යයි කිව හැකි ද? කොළොම් පුරය පුරා ඇති මේ වැනි අත් හැරුණු බිම් කඩ, නිසි ලෙස පිරිසිදු කර තබන්නේ නම්, උද්‍යාන නගරයක් වුන පැරණි කොළොම් පුරයේ සොබාවිකගතිය, දිගටම රැක ගන්නට පුළුවන.

පමාවුණු දිනෙක, පටු මාර්ගයෙන් මහපාරට හැරෙන්නටත් බැරිය. වාහන පේලි දෙක තුන ඉස්පාසුවක් නැතිව ඇදෙද්දී, බසයට එන ජනයා ද, යුහුසුළුව එකිනෙකා පරයමින් බාගෙට දුවති. මම සැමට ඉඩදෙමින්, සෙමින් හා විටෙක නවතිමින්, නිස්කාන්සුවේ ගොස් ඇල වේල්ලට ගොඩ වෙමි. මේ දුවන්නේ ප්‍රමාද වුන අය යි. කලින් පිටත් වුනා නම්, මේ පීඩනය දරා ගෙන, ඉගිල්ලෙන්නට වලි කෑමේ හේතුවක් නැත. එහෙත් නාගරික සමාජයේ හැඩගැස්ම එයයි.

මේ පොරය කුමකටද ? ජාතිය ගොඩ නගන්නටද? තමා ගොඩ නැගෙන්නට ද? සේවා ස්ථානයේ දෝෂාරෝපණයෙන් ගැලවෙන්නට ද? එක එක්කෙනාට තම තමාගේ හේතු ඇත. එසේ කිරීම අවශ්‍යය . මගේ මනස අසන ප්‍රශ්න ඔවුනට අදාළ නැත. සංවිධිත සමාජයේ ජීවත්වීම නිදහස් නැත; එකිනෙකට පැටලී ඇත; තරඟකාරීත්වයක් දක්වා වර්ධනය වී ඇත. ප්‍රවාහයට අසු වුන විට එයින් මිදීමක් නැත. ජීවත්වීම යාන්ත්‍රික වී ඇත්තේය. පද්ධතියේ ඇනයක් මුරිච්චියක් වී ඇති

කෙනාට, පද්ධතිය වෙනස් කිරීමට හෝ එය විශ්ලේෂණයට වෙලාවක්, ඉඩක් හෝ, අයිතියක් නැත්තේ ම ය.

ජීවිතයේ ඒ ඒ යුග, අප විසින් පසු කළ යුතුය. බිළින්දෝ මව් පිය සෙනෙහස ලබති. ඔවුනට ජීවිතයේ බරක් හෝ තරඟයක් නැත; පින නැත්තෝ ඒ ටිකද නො ලබති. එහෙත් පාසලට යැවූ දින පටන්, දරුවෝ ද මේ තරඟයට, බරට කර දෙති. දැන හෝ නො දැන සමාජ යන්ත්‍රයේ කැරකීමට හසු වෙති. ඊ ළඟ සමය, විභාග ජය ගැනීම, පුහුණු වීම, රැකියා සපයා ගැනීම් ආදිය වේ. මේ ගොඩනැගෙන යුගයයි,

ගොඩ නැගුනෝ රැස් කිරීමේ යෙදෙති. වැටුප්, මිළමුදල්, ඇඳුම් පැළඳුම්, යානවාහන, ගෙවල් දොරවල්, උපකරණ ආදී කී නො කී දේ රැස් කරති. විවාහ වී දරු මල්ලන් රැස් කරති. රැස් කිරීම සාර්ථක වී හෝ නො වී, ඒ සැමටම, රැස් කළ දේ දරු මල්ලන්ට හෝ, දරුවන් නැත්නම් නෑ සියන්ට හෝ, පුණ්‍යායතනයකට පවරා යන්නටම සිදු වේ. ජීවිතයේ මේ චක්‍රය නො වැළැක්විය හැකිය.

මා දැන් ගෙවන්නේ රැස් කිරීමේ ඉම හා, පැවරීමේ ඇරඹුම යයි මම සිතමි. සේවයට හැල්මේ / පිම්මේ යන අයට, මේවා සිතන්නට ඉඩක් නැත. රිය අනතුරුවලින් බේරීම, අංක එකේ ප්‍රමුඛතාවය යි. ජීවත්වීමේ භෞතික අවශ්‍යතා, අද දවසේ මිනිසාට නිදහස්ව සිතීමේ ඉඩ ද අවුරමින් සිටී.
ජීවිතය යනු කුමක් ද? ' උපන් සත්වයා විසින් එන එන හැටියට ගත කළ යුතු කාල පරිච්ඡේදයකි යයි මම නිර්වචනය කරමි. මේ ගැන කාර්යාලයේ තරුණ දරුවන් ගෙන් ඇසුව කල, තුෂ්නිම්භූත ව සිට 'දන්නේ නැහැ, ඉවරයක් නැති ප්‍රශ්න පත්‍රයක්' ආදී දේ කීහ. ඒ ඔවුනගේ අත්දැකීම් අනුවය. හැත්තෑ වසරක් ජීවත් වුනු මටද ජීවිතයට අර්ථයක් දිය නො හැකිය.

ජීවිතය යනු ඇතිවෙන, වියැකෙන හා පවතින [සිතන වෙලාව තුල] **සබඳතා. සිදුවීම් හා මතකයන් සංඛ්‍යාවක්** [පුද්ගලයන් අනුව සංඛ්‍යාව වෙනස් වේ]පමණි.

## 2. අලුත් පිරිසක් සමග

අලුත් වැඩපළේ මට පැවරුනේ උදව් කිරීමේ කාර්යයකි. මේ පිරිස කරගෙන ගිය වැඩය කොටස් කිහිපයකින් යුක්ත, පුස්තකයක් සෑදීමයි. එහි, එක කොටසක් රචනා කිරීම මට පැවරුනේ, එවැනි පොතක ආදර්ශයක් කියවීමෙන් පසුවය. මේ අතරේ අනෙක් පිරිස පොතේ අනෙක් කොටස් පිළිබඳ වැඩ කළහ. මේස වටේ වාඩි වී, වැඩ කරද්දී, ඒ අයගේ කටයුතු වලට ඇස හා කණ යොමු කළෙමි.

මේ පිරිස යෞවනයන් ය. අත්දැකීම් සහිත අය අවසන් පිරිපහදුව කළත්, දෙන ලද රාමුව තුල, පුස්තකයේ දළ සටහන නිම කරන්නේ මේ අය යි. මේ හැමෝම වෘත්තීය සුදුසකම් ලත්, උපාධි හෝ ඩිප්ලෝමා ධාරීහු වෙත්. ඔවුන්ගේ සිතුම් පැතුම් හඳුනා ගන්නට මට සිත් විය. එය ඔවුනට නො හැඟෙන්නට කිරීම මගේ වුවමනාව වින. වැඩි දෙනාට වැඩ කෙරෙන ආකාරය හෝ, වැඩ පරිසරය ගැන, පහන් බවක් නැත. එහෙත්, අකමැත්තක් ද නැත. රැකියා ස්ථානවල මේවා වෙන නිසා, ඔවුන් ඒවා තකන්නේ ද නැත. කළ කාරිය නුසුදුසු නම්, නැවත අසාගෙන නිවැරදි කරන්නේ මැසිවිල්ලකින් තොරවය. මේ සහයෝගී ධනාත්මක ගුණය මම සිතින් අගය කළෙමි.

තරුණ පිරිස වයස අවුරුදු තිහට අඩු, වසර දෙක තුනක පමණ වැඩ අත් දැකීම් ඇති අය යි. මේ අයට වඩා හොඳ මගපෙන්වීමක් ඇත්නම්, මේ වැඩ මීට වැඩ නිවැරදිව හා වේගයෙන් කරනු ඇත. වතුරට තල්ලු කරලා ‘පීනන්න ඉගෙන ගනින්’ කියන තාලයට, දරුවන් වැඩට යෙදවීම මට පිරිය නැත. කාර්යක්ෂමතාවට බලපාන වැඩ කිරීමේ පහසුකම්, මේ ස්ථානයේ එතරම් හොඳ නැත. සේවා ස්ථානයේ ශ්‍රම ක්ෂමතාව [ergonomics] තව දියුණු කළ යුතුය. එහෙත් ඒවා ගණන් ගතයුතු කාරණා හැටියට කාටවත් සිතෙන්නේ වත් නැත; එසේ නැතත්, හැකි හොඳින් කටයුතු කරමින් ඉලක්ක සපුරා ගැනීමට කවුරුත් සිතති. වැඩෙහි දී වෙහෙසීම අනිවාර්යය. එහෙත් අනවශ්‍ය ලෙසින් වෙහෙසෙන්නට වේ නම්, එය නුසුදුසු ය. කාර්යක්ෂමතාව වැඩි කිරීමේ ක්‍රම බොහෝසේ දියුණු වී ඇත. ඒවා තම ආයතනයේ සීමා තුළවත්, යොදා නො ගැනීම, අඥාන කමකි.

මේ යුගයේ පමණක් නොව ආදී ප්‍රාථමික යුගයේ පවා, මිනිසාට ජීවත් වෙන්නට වෙහෙස වන්නට සිදු විය. තව කොපමණ දියුණු වුවත්, වෙහෙස නොවී ජීවත් වෙන්නට බැරිය. දියුණු වෙනවිට, ශාරීරික වෙහෙස මානසික වෙහෙස බවට හැරී, එය මානසික ආතතිය දක්වා වැඩි වී ඇත. එයින් ශාරීරික රෝග දක්වා මිනිසුන් ගෙන යනු ලැබේ. කයේ වෙහෙස, මනසේ වෙහෙසට වඩා සෞඛ්‍යයට හිතකර ය.

පෞද්ගලික හිමිකම් නැති, පරිසරයේ ඉබේ හැදුනු දේ, සොයාගත් කෙනා පරිහරණය කළ යුගයේ වුවද, ගහේ හැදුනු ගෙඩිය හෝ වැලේ බැස්ස අලය නෙලා ගන්නට බොහෝ වෙහෙස වීමට තිබුණි. නිකම් ලැබෙන දේ කියා, කිසිවක් නිකම්ම ලැබුනේ නැත; වාතය මිසක්. ඇලේ දොළේ වතුරට ළඟා වෙන්නටත් පල්ලම් බැස, දිය සෙවෙල් බැඳුනු ගලේ නොලිස්සා, පරෙස්සමෙන් කටයුතු කළ යුතුවිය. ඒ නිසා ලේසියෙන්

කරන කිසිවක් ලොවේ නැත. එනමුදු අතින් අල හාරනු වෙනුවට කෝටුවක්, උලක්, යකඩයක් අදී වශයෙන් උපකරණ සාදා ගත් මිනිසා, ගස් බඩ ගානු වෙනුවට කෙක්කක් සාදා ගත්තා පමණක් නොව, කෙක්කෙන් කඩන ගෙඩිය වැටෙන්නට කෙක්කට මල්ලක් බඳින තරමට ක්‍රමවත් විය. කරන කාරිය විග්‍රහ කළ විට, පමාව, හානිය, නැවත කිරීමේ අවශ්‍යතාවය, අධ්‍යයනය කළ විට, වඩා හොඳ ක්‍රම සොයා ගත හැකි ය.

කාර්යාල හා කම්හල් සේවයේ දී මේවා විශ්ලේෂණය කළ ඇත්තන් ලියූ, වැඩ කිරීමේ කාර්යක්ෂමතාව සම්බන්ධ පොත් පත් පවා ඇත්තේ ය. ඒ පොත් කියවා ඇතත්, තම සේවා ස්ථානයට ඒ ක්‍රම යොදා ගන්නට නො සිතීම, ලංකාවේ සුලබ දෙයකි. හොඳින් බැලුවොත් සෙව්වොත්, එසේ නැති ස්ථාන වල ලොක්කන්, මේ පොත් කියවපු ඇත්තන් බව දැන ගත හැකිය.

කණ්ඩායම විශාල වෙනවිට වැඩ කොටස් බෙදාගෙන, සදෙනෙක් වෙනත් කාර්යාලයකට [ගෙයකට] යවනු ලැබිණි. මාත් නවකයන් දෙදෙනකුත් එහි නිත්‍ය ලෙසින් ස්ථාපිත වුනු අතර, දෙදෙනෙක් අවශ්‍යතාව අනුව ප්‍රධාන කාර්යාලයේත් අපේ කුඩා කාර්යාලයේත් වැඩ කළහ. අලුත් ස්ථානයේ අපට වැඩ කරන්නට වුනේ, ගෙයි සාලයේ මේස කීපයක් තබා ගෙන, මුහුණට මුහුණ ළා වාඩි වෙලාය. පරිගණක තිර වලින් මුහුණු වැසුනත්, බෙල්ල දික් කර කතා කිරීම් සිදුවින. හැමටම වැඩ අධික නිසා කතාව අල්ප වුනත්, ඒකාකාරී බවෙන් මිදෙන්නට පැයකට දෙකකට වරක්, අපි කෙටි පිළිසඳර අත් නො හැරියෙමු. මේ කතා නිසා, වැඩ ගොඩක් දවසට ඉවර කළත්, අපට වෙහෙසක් නො දැනින. මේ නවකයෝ වෙනසක් නැතිව, එකට ගැවසෙන කතාකරන පමණට, වැඩිහිටි මට සමීප වුනෝය.

ජීවිතය දෙස ඔවුන් බලන්නේ, රැස් කිරීමේ කාරිය සාර්ථක කරගන්නේ කෙසේද, මේ වාණිජ සමාජයේ ඔවුනගේ හැකියාවන් අලෙවි කරන්නේ කෙසේද, වඩා හොඳ සේවා පත්වීමක් ලබන්නේ හෝ ඒ සඳහා පෙළ ගැසෙන්නේ කෙසේද, දෙමාපියන් වෙනුවෙන් කළයුතු යුතුකම් [කාගේත් මා පියන් විශ්‍රාමික ය.] සඳහා කොපමණ කැපකරන්නට සිදුවේද, ආදී දේ බව, සුහද කතා තුළ මම ග්‍රහණය කළෙමි. ඒ වයසේ දී එසේ වීම සුදුසුය. එහෙත් ඒ සියල්ල, යම් දිනක ජයග්‍රහණ හෝ මස්තකප්‍රාප්ති [achievements] නොවන බව, මගේ වයසට එනවිට ඔවුනට වැටහෙනු ඇත. මම ඒ බව ඔවුනට නො කීවෙමි. වෘත්තියක් උගත් නිසා, එහිම ඉදිරියට යාම වඩා සුදුසු බවත්, දෛනිකව වෘත්තියේ යෙදීම ප්‍රිය ජනක නො වේ නම්, සේවා ස්ථානය පමණක් නොව, ගැලපෙන පරිදි වෘත්තීය වුනත් මාරු කිරීම සුදුසු බවත් පමණක් කීවෙමි. මන්ද යත්, අප රැකියා කරන්නේ ජීවත්වීමට මුදල් ඇවැසි නිසාය. දවසේ කරන දේ අප අසතුටට පත් කරන්නේ නම්, මුදල් සඳහා සිතේ සතුට බින්දුවට දා ගන්නට වුවමනා නැත. මුදල් ජීවත් වීමට අවශ්‍ය එක සාධකයක් පමණි. වාණිජ සමාජයේ එයට ලොකු බරක් දැම්මත්, මූලික අවශ්‍යතා සපුරා ගත්තාට පසු, ලොකු මුදල් කන්දරාවක් පරිහරණය කිරීමත්, අපටම බරක් වෙනවා ඇත.

මේ වැනි වයස විසි ගණන්වල දරුවන් සියයකට වඩා මා සමග මේ වනවිට වැඩ කර ඇත, ඉන් අඩකට වඩා මා සමග සමීප වුනේ, මා පනස් විය ඉක්මවූ පසුය. වැඩ ඉලක්ක සඳහා දරුවන්ට සැර පරුෂ වීම, මම මේ කාලයේ දී අත් හළෙමි. මගේ දියණිය වැඩපලේ කතා කියනු අසා, මගේ දොස් මම වටහා ගතිමි.

පිරිමි දරුවා මා සමග එම ගෙයිම නවාතැන් ගත් අතර, කඩෙන් කෑම ගෙන ඒම, අස් කිරීම් ආදිය කළේය. ගැහැණු දරුවෝ ගෙදරින් රස කැවිලි ගෙන ආවෝය. මා සැර කෑම නො කන නිසා එක දැරියක්, ඉඩ ඇති දිනක ගෙදරින් පියා සමග රියේ ඇවිත්, අපට රෑ බත සැපයුවාය. මේ දරුවෝ තිදෙන ඒ පිරිසෙන් මට වැඩිම සමීප අය වෙත්. මගේ බාල පුතාගේ වයසේ හෝ ඊටත් බාල මේ ළමයින් සමග, දුරක් පරතරයක් නැතිව කල් ගෙවූවෙමි යි මම සතුටු වෙමි. වසර ගණනාවක්, සබඳතා ලියලෑම හා වියළී යාම මට පුරුදු වුනත්, මේ දරුවන් ගේ ස්වභාවය යම් සතුටක් දුනි. මේ තාවකාලික රාජකාරිය අවසන් කළ දින, මේ දරුවෝ අද කාලයේ ළමයින් ගේ පිස්සුව වන “සෙල්ෆියකට’ මාත් එකතු කර ගත්තෝය.

‘මේ දරුවෝ ඉදිරියටත් මා හා සබඳතා පවත්වති’ යි මට සිතේ.

## 3. මග අනතුරු හා ලංකාවේ අපි

රැකියාවෙන් ඉවත්ව ඊ ළඟ තනතුර ලැබෙන තුරු ලද ඉසුඹුවේ, මට නිශ්චිත දින චරියාවක් නොවීය. නිදමත වුනවිට නිදාගෙන, ඇහැ ඇරුන පසුත් අලසව දිගාවී ඉඳ, අලස සිත දිගේලි කර ඔහේ යන්නට හැර සිටීම ද එපාවුණු විට, ඇඳෙන් බසින මම, උදේ අටත් පසුවී දවස අරඹමි.

මගේ විනෝදයට, නැත්නම් අලුත් කතාබහට අනුව මගේ 'උණ' නිසා, කරන ලිපි කටයුතු හැරුණු විට, දෙන දෙයක් කාල බලා ඉන්නවා හැර කළ යුතු දෛනික වැඩක් නැත . මේ නිසා නාලිකා දෙක තුනකින් ම රූපවාහිනී ප්‍රවෘත්ති බලන්නට පුරුදු වුනෙමි.

දිනපතා සිදුවන වාහන අනතුරු ගැන, රූප රාමු හා සංඛ්‍යා ලේඛන සහිත තොරතුරු, ඒවායේ විකාශනය වේ. මගේ බාල පුතා රැකියාව සඳහා වාහනයක නිතරම යන නිසා, මේ තොරතුරු ගැන මගේ සංවේදී තාවය වැඩිය. මගේ වෘත්තියත් මාර්ග හා සම්බන්ධ නිසා, මේ තොරතුරු මගේ මනසට රිංගා යද්දී, ඒ ඔස්සේ, සිතිවිලි ධාරා උත්පාදනය වෙයි.

වාහන, එකිනෙක හෝ පුද්ගලයන්ගේ ගැටීම, ගස්- ගල්, කණු, නාමපුවරු ආදියේ ගැටීම හා මාර්ගයෙන් ඉවතට වීසි වීම, යන පොදු කුලක තුනකට, සියලු අනතුරු පුළුල් වශයෙන් ගොනු කළ හැකිය. අනතුරුවලට හේතු වශයෙන් කියවෙන්නේ, වාහනය පාලනයෙන් ගිලිහීම, නින්ද යාම, මත්වී වාහන පැදවීම, මාර්ග නීති නො පිළිපැදීම ආදියයි.

මග අනතුරු සිදුවෙන්නේ ඇයි දැයි, සිහි බුද්ධිය ඇති ඕනෑම කෙනෙකුට තේරේ. වාහන පමණක් නොව, පයින් යන්නෝ ද අනතුරුවලට මුහුණ දෙති. පයින් යන දෙදෙනකු හැප්පුනොත්, තුවාල වී බෙහෙත් ගන්නට නො වෙන නිසා, කවුරුත් ඒවා නො තකති. වාහනයක හැප්පුනොත්, වාහන කරුට දෙස් දෙති. එහෙත් සමහරවිට අනතුර කැඳවා ඇත්තේ, පයින් ගිය කෙනා ය.

අප කොහි හෝ යතොත්, ඒ අසළ තවෙකකු යන්නේ නැත්නම්, ඇගේ හැපෙන්නේ නැත.. එනිසා හැප්පීම් ඇතිවෙන්නේ, සීමිත ඉඩක වැඩි ගණනක් යන නිසාය. ගණන වැඩිවෙන විට, හැප්පෙන අවස්ථා ද වැඩිය. ඉඩකඩ වැඩි නම්, හැප්පෙන්න තිබෙන ඉඩ අඩුය ඉඩ කොපමණ තිබුනත්, හිතුමතේ, හිතු අතේ, කවුරුත් යන්නට ගත්තොත්, ගැටුම් වැඩිවේ. මාර්ග නීති සාදා ඇත්තේ මේ නිසාය. අපේ රටේ අය මාර්ග නීති නොසලකා යන නිසා, අනතරු සිදුවීමට පළමුවන හේතුව එය බව මම කියමි**.**

පාරේ දකුණෙන් යාම, කහ /සුදු ඉරකින් පමණක් පාර හරහා යාම, අහළක පොලිස් කොස්තාපල් කෙනකු නැත්නම් කරන්නේ කී දෙනාද? පාරේ තාර පටියෙන් ඉවත

ඇති, වැලි හෝ තණ තීරුවේ යන්නට, පදිකයෝ නො කැමැත්තාහ.නගරයේ හෝ කඩ අසළ පදික වේදිකා තිබුණත්, පදිකයෝ තාර පටියේ ද ගමන් කරති. යන්නේ දකුණේ ද වමේ ද යන්න පවා, ඔවුනට වැදගත් නැත. කඩවල [බෝඩ්] පුවරු හෝ බඩු ප්‍රදර්ශනයට තබන්නේ ද පදික වේදිකාවේ ය. මිළ ගණන්දැක්වෙන ඒවා හා 'උදේ/ දවල්/ රෑ කෑම ලෑස්තියි' පුවරුද ඇත. පදිකයෝ ඒවා මග හැර තාර පටියට ගොඩ වෙති. පුවරුව පසුවෙලාත් ඔහේ පාරේම ඇවිදිති.

පයින් යන කෙනාට, ඕනෑම විටෙක ගමන් පථය මාරු කිරීමට හෝ නැවතීමට, තත්පරයක් වත් ගත නොවේ. වැඩිපුර අය පයින් යන, දුම්රියපොළ බස් නැවතුම් පොළ වැනි තැන්වල, පයින් යන අය පවා එකිනෙකාගේ ඇඟේ හැප්පෙනු, හෝ අවහිරකර, එහා මෙහා පැන, තම ගමන් පථය තෝරාගන්න වාර අනන්ත බව, ඔබ නිවීහැනේ බලා සිටියොත්, නිරීක්ෂණය කළ හැකිය. මෙසේ වෙන්නේ, ඉවසිලි නැති කම හා අනිකා ගැන නො සිතා, තමා ගැන ම සිතීම යන කරුණු දෙකය නිසා ය.

අපේ රටේ සමහර පදික වේදිකාවල ගල් ගැලවී ඇත. වැසි වෙලාවට කුඩා දිය වලවල් ඇත. මේවා සොයමින් හෙමින් යා යුතුය. බිම බලාගෙන වේගයෙන් ගියොත් කාගේ හරි ඇඟේ හැප්පෙනු වළක්වන්නට අමාරුය. මේ නිසා යන අය මෙන්ම, පාර නඩත්තු කරන අය ද, පදිකයන්ට වෙන අනතුරුවලට සම්මාදම් වෙති.

පාර මාරුවෙන කහ ඉර මැකී ගොස් යන්තම් පෙනෙන විට, වාහනය ළඟට එන තුරු රියදුරාට ඉර නො පෙනේ. 'පදික මං සරස' [බොහෝ අය කියන ලෙස 'ක්‍රොසින් එක'] දැක්වෙන සංඥා පුවරුව නො පෙනෙන්නේ, ඒ අසළ ම නොයෙක් වෙළඳ දැන්වීම් පුවරු සවි කරන්නට ඉඩ දී ඇති නිසාය.

මේ නිසා දෝ, පදික මං සරසකට පෙර, පාරේ සුදු ඉරිවලින් රොම්බසයක හැඩයක් ඇඳීම අරඹා ඇත. එය යම් ප්‍රමාණයක හොඳ විසඳුමකි. පදික මංසරස දැක දැක, වෙනත් තැනකින් පාර මාරු වෙන්නේ, වගකීමක් නැතිකම නිසාය. මෙසේ යන අය අතර, හදිසියට දුවන්න බැරි, වයසක අය මෙන්ම, දරුවන් අතින් ගෙන යන අය ද, බඩ දරු අම්මලාද වෙති. ලංකාවේ මිනිසුන්ට කම්මැලිකම නිසාම, ජීවිතයේ වටිනාකම අමතක වෙයි.

නාගරික පෙදෙස් වලින් ඈත, දුර ගමනාන්ත වලට යන අයට, කහ / සුදු ඉර පෙනේනේ කරදරයක් ලෙසටය. එහෙත් නාගරික නොවන පෙදෙස් වල, කැලෑවක නොවේ නම්, අවම මීටර දෙසිය පනහකින් පමණ, පදික මාරුවක් ලකුණු කරන්නේ, නීතියට ගරු කරන මිනිහාට ද, සාධාරණ දුරක් ඇවිද ගෙනගොස්, පාර මාරුවීමටය. එහෙත්, 'මේ පාලු හරියේ කහ ඉරි මොකටදැ'යි අසන රියදුරන්, මට හමුවී ඇත. සමහර අය පදික මං සරස අයිතියකි ය සිතා, වාහන එනු දැක දැක ම, පාර හරහා යති. රියදුරා දත කාගෙනම වාහනය නැවැත්විය යුතුය. මේ මානසිකත්වය හා බැඳුණ හොඳ කතාවක් ඇසීමි. කට සැර මහලු රියදුරෙක් කහ ඉර අසළ වහනය නතර කළේ, තරුණියක් වාහනය දැක දැකම කහ ඉර මතට ආ නිසයි. රියදුරා තරුණියට දොස්

කීවේය. "මේක අපටයි අයිති" තරුණිය කීවාලු. " එහෙනම් පැදුරක් දාගෙන බුදිය ගනින්" රියැදුරා කියා ඇත.

තිරිංගවල ඇති යකඩ, රබර් හෝ වෙනත් කෘතීම ද්‍රව්‍ය, ද්‍රව හෝ වායු පීඩක පද්ධති, ඒවාට අලුතෙන් එක්වී ඇති ඉලෙක්ට්‍රොනික පරිපථ, ගැන ඕනෑවටත් වඩා විශ්වාස කරන්නට හොඳ නැත. මින් එකක් හරි නොගියොත්, වාහනයක් වැඩිපුර අඟල් කීපයක් යාමට ඉඩ ඇත. රෝද කැරකීම නැවතුනත් එන ගැම්ම [ගම්‍යතාවය] බින්දුව වෙන්නේ, රෝදයේ හා පාරේ ඇති ඝර්ෂණයේ ප්‍රමාණයට ය. මෙය එක එක තැන වෙනස් ආකාර වේ. පාරේ තෙත ගතිය , වැලි ගතිය, තෙල් ගතිය හා ටයරයේ කට්ට වල තත්වය ආදී සාධක ගැන, කාට සහතික ලෙස මිනිය හැකිද? වාහනයක් නැවතෙන තත්පර ගණනක දී, මේ සියල්ල සිතා බලා තිරිංග යොදන්නට කාටවත් බැරිය. ගැටුමකදී මදි වෙන්නේ, මිලී මීටරයක දුරකි. අඩියක් දෙකක් දුර තියා නවත්වන්න සිතුවොත්, වැරදිලා ගියත් මිලි මීටරයකට මෙහායින් නවත්වා ගත හැකිය. ආසන්න සෙන්ටිමීටරයටම සිතා නවත්වන්නට යන අය, මිලි මීටරයක් මදි වී ඇනගනිති / 'අනාගනිති'.

ඒ නිසා අවශ්‍ය සාධක ගිලිහී යාමේ ප්‍රවණතාවය සිතා බලා, ඉවසිල්ලෙන් යන්නට, කවුරුත් පුරුදු විය යුතුය. ගමනක් යන්නට අපේ අයට පුදුම හදිස්සියක් ඇත. ගමන අවසානයේ, මේ අය ඉතිරි වෙන මිනිත්තු ගණන මොන ප්‍රයෝජනයකට ගන්නවාද? උදේ වැඩට යන්නට වේගයෙන් යනවාට වඩා, කලින් පිටත්වීම සරල වැඩකි. හවසට ගෙදර යන්නත් හදිස්සි ඇයි? නෝනා පැමිණීමේ ලේඛනයේ රතු ඉරි ගහන්නේ නැහැ නොවැ?

කවදා හෝ මගී ජනතාව සිය මානසිකත්වය හා ආකල්ප හදා ගන්න තුරු, මහ පාරේ. කහ /සුදු ඉරේ හෙවත් පදික මං සරස මත මියැදෙන ගණන, අඩුනොවෙනු ඇත.

පාරේ නීතිය අනුව නම් පසුපසින් ඇවිත් ගැටුණ කල, වරද කරු වෙන්නේ, පසු පසින් ආ තැනැත්තාය. එහෙත් නොයෙක් විට, ඉදිරියේ අය සැණෙන් තිරිංග තද කළ බව පවසා, පස්සෙන් ආ කෙනා කෝප වෙයි. තමා නිසි පරතරය තබා ගෙන නො පැමිණි බව, ඔවුහු නො සිතති. දුර ගමනක් වේගයෙන් යන විට, ඉදිරිවාහනය හදිසියේ නතර නො කරාවිය යි සිතාගෙන ළං වෙන්නේ මන්ද? වේගය වැඩි වෙත්ම, වාහන අතර පරතරය වැඩිවිය යුතුය. එහෙත් අප එසේ ගියොත්, තවෙකෙක් ඇවිත් මැද්දට රිංගා ගනියි. මා, රිය බලපත සඳහා පුහුණුවෙන කාලයේ, අපට කියා දුන්නේ, කෙතරම් හෙමින් ගියත් ඉදිරි වාහනයේ රෝදය කැරකෙනවා පෙනෙන තරම් දුරින්, යන ලෙසය. අස්සට රිංගන්නෝ, තිරෝද හා මෝටර් සයිකල් කරුවෝ ය. මේ නිසා දැන් සාමාන්‍ය වේගයෙන් යද්දී පරතරයක් තබා ගත නොහැකිය.

පසුපස රියකරු කෙතරම් කල්පනාවෙන් ආවත්, ඉදිරි රියේ සංඥා එළි වැඩ කරන්නේ නැත්නම්, පසු රියකරුට ප්‍රතික්‍රියා කාලය මඳ වෙයි. එවැනි වාහන පාරට දැමීම

තහනම් වුනත්, බොහෝ බස් , ලොරි හා ට්‍රැක්ටර් මේ වරද සහිතව අනන්තවත් පාරේ යති. ඉරිකපනවා බලන රථවාහන පොලිසියට මේවා පෙනෙන්නේ නැත.

සමහර අය හැරවීමේ සංඥා එළි දල්වන්නේ, හැරවීමට පටන් ගැනීමෙන් පසුය. සමහර අයට හරවලා ඉවරවෙලාත් එළිය නිවන්නට මතක නැත. සිහි කල්පනාව නැති කම සේ ම, හරියට වාහනයක් එළවලා නැති කම ද, මීට හේතුවේ. අනතුරු වළක්වා ගෙන ගමන ඉවර කිරීමේ වගකීම හා අවධානය නැති රියරියදුරෝ, අසීමිතව අනුනට කරදරයක් වෙති.

කෙටි ඉඩකදී ඉස්සර කරන්නට යාම, බොහෝ දෙනා අනවශ්‍ය අවදානමක් ගන්න අවස්ථාවකි. ඉස්සර කරන්නට යන කෙනාට, ඉස්සරහින් යන වාහනයට වඩා ලොකු, වැඩි වේගයක් නැති නම් ඉස්සර කිරීමේ කාලය වැඩිය. ප්‍රායෝගිකව මේ වෙනස හඳුනා ගන්නට බැරි අය, මහපාරේ ගමන අපටත් එපා කරවති. ඉන්ධන පිරිමසින නව වාහන හා, ස්වයං ක්‍රියා ගියර පෙට්ටිය, මේ තත්වයට රුකුල් දෙයි. ගියරය වෙනස් කරගෙන හෝ, හොඳින් ඉඩ ඇති තැනක පමණක් ඉස්සර කිරීමෙන්, මේ තත්වය විසඳා ගත හැකිය. ඉදිරියේ එන වාහනය දැක දැක ඉස්සරකර, ගැටුම් ඇති කරන ගණන ඉතා ඉහළය. මෙසේ වැරදියට ඉස්සර කරන ප්‍රධාන කණ්ඩායම මෝටර් සයිකල් කරුවන් ය. වාහනය කුඩා නිසා අස්සෙන් යන්නට පුළුවන් ය යන මතය, ඔවුන් වරදට පොළඹවයි. ලොකු වාහන කාරයන්, මෝටර් සයිකලය තඹේකට මායිම් නොකරන බව, ඔවුහු නො සිතති; නො දනිති. සංවෘත පරිපථ රූපවාහිනී කැමරා හෙවත්, කවුරුත් දන්නා පරිදි සී සී ටී වී කැමරාවල රූප, ප්‍රවෘත්තිවලට පෙන්වද්දී, අනතුරේ ස්වභාවය හා අනතුරු කරගන්නා අයගේ මනෝ භාවයන් හොඳටම අනුමාන කළහැක්කේ, සිදුවීම වාර කිහිපයක්, මන්ද්‍ර චලිතයෙන් [slow motion] පෙන්වන නිසා ය.

අන් අය නොතකා යන බර වාහන, බස් හා ලොරි ය. බස්, මහපාරේ තරඟයට දුවන බව අපි කවුරුත් දනිමු. මේ අයට තව 'කැලි කීපයක්' [බස් කාර්යන් ගේ වහරට අනුව මගියා 'කැල්ලකි'] සඳහා, ජීවිතයක් හෝ කෙනකුගේ අතපය බිලිගන්නට දුක නැත. එහෙත් බඩු ගෙනයන ලොරිවලට ඇති හදිස්සිය මොකක් දැයි මම සිතමින් උන්නෙමි.

ළඟ දී මා හා කතාකළ පරණ රියදුරු තරුණයකු කීවේ " මේ රස්සාව ඇතිවෙලා ටාගට් ගහලම" යනුවෙනි. ඔහුගේ දැන් රැකියාව ලොරියක බඩු ප්‍රවාහනය කිරීම ය. සතියකට බඩු ගෙන යා යුතු වාර ගණනක් ඇත, එය කරන්නට බැරිවුනොත් පඩියෙන් 15% ක් අඩුවේ. වැඩියෙන් ගියොත් අනුපාතිකව වැඩි වේ. මේ නිසා, මාර්ග තදබද වලදී සිදුවෙන පමාව අල්ලන්නට, ඉඩ ඇති තැන්වල පිඹගෙන යන්නට සිදුවේ. ලොරි රථ අප මරන්නට එන්නා සේ සිතෙන්නේ, එසේ පිඹගෙන ඒම නිසාය. ලොරි රථවල අනතුරු වලට තවත් හේතුවක් වෙන්නේ අධික ලෙස බර පැටවීමය. එසේ වූ විට තිරිංගවලට රිය නවතා ගැනීම අපහසුය. රෝද නැවතුනත් එන ගම්මට තල්ලුවී යන දුර වැඩිය. ඉස්සරහ යාන්තමට ඉස්සෙන නිසා, සුක්කානම හැසිරවීමේ හැකියාවද තරමක් අඩු ය.

අතුරු පාරෙන් මහපාරට එන සමහර අය, නවත්වා දෙ පස බලා, පාරට වාහනය ඇතුළු කරන්නේ නැත. කෙලින්ම වාහන පේළියට එකතු වෙන්නට හදන්නේ, කිසිම තැකීමක් නැතිව, ගෙදර මිදුලේ හරවනවා ය සිතාගෙනය. ඊ ළඟට එන කෙනා ද, නවත්වන්නේ නැතිව, වැරදියට පාරට ගොඩ වෙන අයට, අවහිර කරන්නට යයි. අවසානයේ දෙදෙනා ගේ ම හදිස්සිය ප්‍රමාදයක් වී, වාහනවල ඇදකුද හදාගන්නට ද සිදුවේ.

තවත් අවස්ථාවල කුඩා පාරේ සිට මහපාරට ඒමට ඉඩ නැත. මහපාරේ වාහන නවත්වන අය කුඩා පාරේ විවරය පමණක් තබා, වාහන නවත්වති. කුඩා පාරේ එන වාහනයට, මහපාරට අයිනෙන් ඇතුළු විය නොහැකිය. එය මහා පාරේ මැදට ගොස් හරවන්නට වේ . එවිට මහපාරේ එන වාහන ප්‍රවාහයට අවහිර වේ, කුඩා පාරෙන් එන අය ඉවසිලිවන්ත නම් හෝ, මහපාරේ එන අය සෙමෙන් එන ඉවසිලිවන්ත අය නම්, අනතුරක් නොවේ. හැම කුඩා පාරකම, මහපාරට එක්වෙන තැන සුදු ඉරිවලින් ඝන්ඨා කටක් [bell mouth] ලකුණු කර නැත. මේ හැඩය මාර්ග තැනීමේ අත් පොත් වල දී ඇතත්, අපේ අය ඒවා නො තකති. සමහර අය ඝන්ඨා කට ත්‍රිපීසියමක් කර සාදති. එවිට හැරවීමේ ඉඩ අඩු නිසා, ප්‍රධාන පාරේ වාහන පේළියට කෙමෙන් නොව, ඉක්මනින් ඇතුල්වී, යම් මට්ටමක අවහිර කිරීමක්, අතුරු පාරෙන් එන අය ගෙන් සිදුවේ. හරි ක්‍රමය නම් අතුරු පාරේ කට හරහා තනි සුදු ඉර ඇඳිය යුතු ය. ඝන්ඨාඝ කටේ ඉවුරු සළකුණු කළ යුතුය. මේ ඉවුරු සළකුණු වන ඉරි අතර, වාහන නො නැවැත්විය යුතුය. පාරේ යන වාහන ඉරි කපනවද බලා ඉන්නා පොලිස් මහත්තුරුන්, මේවා බලන්නේ නම්, අනතුරු අඩුකළ හැකිය. වාහන පේළියේ යන රියක, එක රෝදයක් තනි ඉර කැපීමෙන් නොව, අනතුරු හා අවහිර ඇති වෙන්නේ මේ තැන්වලින් එන වාහන නිසාය. පාර පරිහරණය කරන අය මෙන්ම, සාදන අයද අනතුරුවලට ඉඩ නො තැබිය යුතුය.

හන්දියකදී හෝ වංගුවකදී ඉස්සර කිරීම, භයානක සෙල්ලමකි. ප්‍රධාන හන්දි නම්, ඈත තියාම පෙනේ. ඒ නිසා ඒ හරියේ දී වේගය අඩාල කර, ඉස්සර කිරීමේ අදහස කල් දැමිය හැකිය. කුඩා පාරක් එක්වෙන තැන ද හන්දියකි. අනතුරු ඇති වීමේ අවස්ථාව ද ඒ මට්ටමේ ම ය. ඒ නිසා අතුරු පාර පෙන්වන මාර්ග සංඥා කණු, අනිවාර්යයෙන් ම ප්‍රධාන පාරේ සවි කළ යුතුය.

වංගුවකදී ඉදිරිය පැහැදිලි නම්, ඉස්සර කළත් කමක් නැත. එහෙත් තද වංගුවල මීටර පනහක් සීයක් ඈතට පෙනෙන්නේ නැත්නම්, පසුබා සිටිය යුතුය.මේ තැන් වල තනි ඉර හා ද්විත්ව ඉර අඳිනු ලැබේ. මංතීරු දෙකේ, එනම් ‘ඒ’ හා ‘බී’ පන්තියේ සමහර පාර වල පමණක් මේවා ඇත්තේය. අපේ රටේ බොහෝ පාරවල් තනි මං තීරුවේ ඒවා නිසා, මාර්ග සංඥා කණු නැති පාරවල රිය පදවන අය, මනා සංයමයෙන් පැදවිය යුතු ම ය.

වංගුවක් ඉදිරියේ කඩ ඉර තිබේ නම්, එය ඉස්සරකිරීමට ඉඩ දී ඇති එකකි. තනි ඉර හෝ ද්විත්ව ඉර පෙන්වන්නේ, ඉස්සර නොකළ යුතු බවය. එසේ කළොත්, සැඟවී ඉන්නා පොලිස්රාලහාමි එළියට පැන, දඩ කොළය පූජා කරනු ඇත. 'දඩ නො ගෙවන ක්‍රම' ද තිබේ. ඉර අනුවම යන්නට ගියොත්, ඉස්සරහ කොට ලොරියක් හෝ යකඩ ලොරියක් තිබේ නම්, ගමන් කාලය දෙගුණ වේ. කඳුකරයේ වංගු නැති මාර්ග කොටස් 25% වත් නැත. ඒ නිසා නීති කඩන්නට රියදුරන්ට සිදුවේ. සිහි කල්පනාවෙන් යනු මිස, ඉර බලාගෙන, ඒ අනුවම යන්නට ගියොත්, ලොරියක් පස්සෙන් යන රියදුරාට දෙයියන්ගේම් පිහිටෙන් මිස, ඉස්සරහට යන්නට හෝ වෙලාවට ගමනක් යන්නට බැරිය.මෙසේ ඉරි ගසා, වාහන පාලනය කරන්නට ගිය අසාර්ථක උත්සාහයන් කොළඹ - නුවර පාරේ කඩුගන්නාවේ හා නුවර - කුරුණෑගල පාරේ ගලගෙදර ඇත. බඩු අරගෙන කන්ද උඩට යන ලොරි පසුපස යාමට සිදු වෙන, කිසිම කුඩා රියක්, මේ ඉරි තුට්ටුවකට ගණන් ගන්නේ නැත. කවුරුත් හොඳ ළමයින් සේ එකා පස්සෙ එකා යන්නේ නම්, රථවාහන පොලිසිය පාරේ ඉන්න බව දන්නෝ දනිති.

වංගු වේදී ඉස්සර කළාම, දඩ ගැසීම රාළහාමි ගේ ස්වයං තීරක අයිතිය අනුව හෙවත් අභිමතානුරූපව සිදුවේ. විනෝද ජනක උදාහරණ දෙකක් මෙසේ දක්වමි. (1) මං තීරු දෙකේ පාරක වංගු වකදී මෝටර් සයිකලයකට ඉස්සර කළ රියදුරාට දඩ කොලයක් දෙන හේතුව, ඉර කැපුනේ නැතත්, තනි ඉර ඇති තැනක ඉස්සර කිරීම නුසුදුසු නිසාය. මේ සිද්ධියේ දී අනතුරකට කිසිම ඉඩක් තිබුනේ නැත. (2) කඩ ඉර ඇති වංගු වක ඉස්සර කළ රියදුරාට දඩ කොලය දුන්නාම, කඩ ඉර ඇතිවිට ඉස්සර කළ නොහැකි දැයි ඇසුව රියදුරාට, 'මං දඩ කොලය දුන්නේ වංගුවේදී ඉස්සර කළ නිසා පුතා, ඉරේ ප්‍රශ්නයකට නෙවි' යයි ආදරෙන් කීවේ, රාජකාරියේ ප්‍රීතිය භුක්ති විඳින, වයසක සාජන් මහත්තයෙකි. දඩ කොළයේ ඉර කැපීම හා වංගුවේ දී ඉස්සර කිරීම වැරදි දෙකක් ලෙස වෙනම ඇති බව, සාජන් බාප්පා පුතාට කොලය පෙන්වා කියාදුන්නේය. අලුත් රස්සාවට ආ කොලුවාට, මාසේ පඩිය ගන්නටත් පෙර දඩ ගෙවන්නවීම ගැන දුක හිතී, මම රුපියල් දෙ සියය ගෙවා 'බාප්පාට උම්මා දීලා වරෙන්' කියා රියදුරා යැව්වෙමි.

වාහන පාරෙන් ඉවතට වීසි වෙන හේතු දෙකක් තිබේ. පළමුවැන්න වංගු වට නොගැලපෙන වේගය යි. දෙවැන්න මාර්ග තලයේ ස්වභාව ය යි. මාර්ග තලයේ රළු බව හා වංගු වේ හැරුම හා වක්‍රයේ අරය අනුව, මාර්ගයේ හරස් බෑවුම නිසි පරිදි සෑදිය යුතුය. මේ සෑදීමේ දී, වංගුවට නිසි වේගයක් හෙවත් සැලසුම් කළ වේගයක් ඇත. රේල් පාරේ සෑම වංගුවකම මේ අගය දක්වන පුවරු තිබේ. මහපාරේ එසේ කළ නො හැක්කේ, විවිධ වර්ගවල වාහන යන නිසාය. ඒ නිසා කොයි එකටත් හරියන උපරිම සැලසුම් අගයක් නියම කළ හැකිය. එහෙත් පාරේ එක එක තැන්වල එක එක අගයන් ලකුණු කර දඩ ගැසීම, අසාධාරණ ක්‍රමයක් ලෙස දුන් නඩු තීන්දුවකට පසු, ඕනෑම පාර කොටසක පැයට කි.මී 70 හා නගරාසන්නව 50 හා 40 ලෙසින් කුඩා හා බර වාහන සඳහා අගය කීපයක්, මුළු රටේ ම පාරවලට දැන් නියම කර ඇත. රිය පදවන්නා ම, තමාගේ වේගය දැන ගත යුතුය. එසේ නොදන්නා අය පාරෙන් ඉවත විසිවෙති. තනියම නොව අන් අයට ද හානි කරමිනි.

ඉඩම් අත්පත් කර ගැනීමේ සීමා හා, කඳුකර යේ භූ විෂමතා, වංගු සැලසුම් කිරීමේ සීමා සාදන ප්‍රමුඛ සාධකයන් ය. එනිසා සම්මත වේගයෙන් යාමට සුදුසු, පහසු වංගු සාදන්නට නො හැකිය. වංගු සහිත ප්‍රදේශ වල සෙමින් යාම හැර, අන් විකල්පයක් නැත. මේ වැනි ප්‍රදේශ වල, නිශ්චිත වේගයෙන් ඕනෑම වාහනයකට යා හැකි වංගු සෑදීම අභව්‍ය දෙයකි

වංගුවක යා හැකි උපරිම වේගය සොයන්නට, ප්‍රායෝගික පරීක්ෂණ කරන්නට යන, අපේ රටේ දක්ෂයෝ, පාරෙන් ඉවතට වීසිවී, අඬු පඬු කඩා ගනිති; වාහන ලස්සන කර ගනිති.

මේවා වළක්වන්නට, ජනතාවට ආදරය කරන විද්වත්හු හා පොලිස් නිලධාරීහු වේගයෙන් යන අය සොයා, දඩ ගැසීමේ ආනිසංස කියති; දඩ මුදල ඉහළ නංවති. දෙස්පලුවෝ ද දඩය ඉහළ නැංවීම අගයති. ආණ්ඩුවේ කැටේට වැටෙන ගණන වැඩිවුණු තරමට උත්සව පැවැත්වීමට හා “වෙනත් දේ” සඳහා ගන්නට මුදල් තිබෙනවා නොවා? සංවර්ධනයට අවශ්‍ය මුදල් පර දෙසින් ණයට ගත හැකි නේ! මොකද? නරකද?

නින්ද යාම නිසා අනතුරු බහුල බව ද කියැවේ. නිදිමත අය සොයා දඩ ගැසීමක් නම් තවම නැත. වේගයෙන් යන අය සොයා දඩ ගසන්නේ, මැරෙන තුවාල වෙන ගණන අඩු හෝ නැති කිරීමේ අදහසින් නම්, නිදිමත සොයා දඩ ගැසීමේ ක්‍රමයක් මේ අයට තවම කල්පනා නොවෙන්නේ ඇයි? රථවාහන පොලිසිය විසින් දන්සල් දෙන්නා සේ, රෑ ගමන් කරන රිය නවතා ඉඟුරු තේ දෙන්නට කටයුතු කරන දවසක් ඒවි දෝ යි, මගේ විකාර සිත මතක් කරයි.

මට හිතෙන හැටියට නම්, අනතුරුවල මූලික හේතු දෙක නො දැනුවත්කම හා විනයක් නැති කම ය. නො දනුවත්කමට නම් දැනුවත් කිරීමේ වැඩ සටහන් සකස් කළ හැකිය. විනයක් නැති කම දඬුවමින්, දඩයෙන්, සකස් කළ නො හේ.

මහපාර කාටත් යෑමේ අයිතිය ඇති පොදු තැනකි. සීමිත ඉඩකදී, පාරේ නීතිය අනුව, අදාළ අයට ඉදිරියට යෑමේ ප්‍රමුඛතාව දීම අවශ්‍ය ය. අයිතිවාසිකම පෙන්වන්නට වැරදියට එන අයට හරස් කරනවාට වඩා, යන්නට දඟලන අයට යන්නට ඉඩදී, කුඩුහම බේරාගෙන තම ගමන යන්නට සිතන්න තරම්, නිහතමානී සිත් ඇති රියදුරන් මේ රටට ඕනෑ කර තිබේ. ගමනක් යන කෙනා, කාලය, වේගය හා දුර සම්බන්ධ සමීකරණය, අන්තිම තත්පරයට ගණනය කරන්නට ඉගිල්ලෙන්නේ නැතිව, පැය කාලක් බාගයක් කලින් ගොස් ඉන්නට සූදානම් වීම, අනතුරු වැලක්වීමට මෙන්ම, ආතතිය අඩු කර ගැනීමට ද උදව් වෙයි.

නිදිමත නම් වාහනය මග නවත්වා නිදා ගැනීම, රෑ කඩයකින් උණුසුම් යමක් [මත්පැන් නොවේ] බීම හෝ වාහනය නවතා මුහුණ ටිකක් සෝදාගෙන, ටිකක්

සක්මන් කිරීම අමාරු වැඩ නොවේ. මේ මොනවා කළත් පදිකයන් මෙන්ම අනිකුත් පාරේ එන අය ද එනයන හැටි අනුව, අනතුරු වැලැක්වීම තනියම කරන්නට ද අමාරුය.

මේ නිසා, ශ්‍රී ලකා ප්‍රජාතන්ත්‍රවාදී සමාජවාදී ජනරජයේ මහා පාරක බැහැලා යන්නට, මාර්ග නීති, සංඥා සහ, පොලිස් රාළහාමිලා රැක ඉන්නා තැන් පමණක් නොව, පාරේ යන එන අනිත් අය ද මොන දාංගලේකට එනවාද කියා, කල්තියා හිතා ගන්නත් පුළුවන් දැනුමක් අවශ්‍ය ය.

බොහෝ දේ දැනගැනීම බහුශ්‍රුතභාවය වේ. එනිසා ඉහත කරුණු අනුව අනතුරු නොවී ලංකාවේ පාරේ  යන්නන්ද බහුශ්‍රුත ය.

මාර්ගය පුරා විනය පවත්වන එක, රථවාහන පොලීසියට පමණක් කරන්නට දෙන්නේ නම්, රටේ ජනගහනයෙන් කාලක්වත්, රථ වාහන පොලිසියට අනුයුක්ත කළ යුතු වේ. ඒ නිසා රාළහාමිලා ඉරි කපනවා බලන්නට රැක සිටිය යුතු නොවේ. සී සී ටී වී කැමරා දර්ශන විශ්ලේෂනය් කිරීමේ ඒකකයක් පිහිටුවා, අදාළ වාහනයේ අයිති කරුට දඩ කොළ යැවීම් හා නොගෙවා සිටියොත්, වාහන බල පත්‍රය ගන්නට පැමිණිවිට, පොළියත් එක්ක අය කරන ක්‍රමයක් සකස් කළ යුතුය. මේ ක්‍රියාව නගරබදව පටන් ගෙන, ක්‍රමයෙන් අනිත් ප්‍රදේශ වලට ද, දිගු කළ හැකිය. පාරේ රැක සිටිනවාට වඩා, මත්නාශක හා පාතාල වැඩ බලන්නට පොලිසිය වුවමනාය. පාරේ යන අය ස්වයං විනයක් ඇති කර ගැනීම, ජාතික අවශ්‍ය තාවයකි. "විනයෝච සුසික්ඛිතෝ"- සියයට හැත්තෑවක් පමණ බෞද්ධයන් සිටින ලංකාවේ අයට, මංගල සූත්‍රයේ මේ පදය මතක් කර දීම වටී.

කෙසේවෙතත්, සමහර ලොරිවල බස් වල, ලියා ඇති හැටියටම, ලංකාවේ පාරේ යන අය ට " **බුදු සරණයි; දෙවි පිහිටයි**"

## 4. පින් කමක් - සිත ගිය දුරක්

නැගෙනහිර පළාතේ පන්සලක, ගොඩනැගිල්ලක් සැදීමේ අවශ්‍යතාවයක් තිබුණි. ඒ පන්සලේ හාමුදුරුවරු අප හඳුනති. ඒ නිසා, ඒ සඳහා සැලසුම් චිත්‍ර සකසා ගැනීමේ හැකියාව විමසන ලදුව, මම එයට ඉදිරිපත් වීමි

සීමිත ඉඩෙහි ගොඩනැගිල්ල ඉදි කිරීම හා, අවට ගොඩනැගිලි හා ගැලපීම පිණිස, ස්ථානය දැකීම යෝග්‍ය නිසා, අපි එහි ගියෙමු. කටයුතු සාකච්ඡා කර අවසන් වුනු පසු, හිමියෝ බුලත් විටක් සප්පායම් වීමට සූදානම් ව මෙසේ ඇසුවෝය. "මහත්තයා විට කනවද?' "කිසිවිට නැත" මගේ පිළිතුර විය. 'අපි නං ලැබුණු විට කන්නෙමු' යි සිනාසී කියමින් අපට සමු දුන්නේ, එ හිමියන් විසින් රචිත " දිගා මඩුල්ලේ පැරණි පුදබිම්" හා ඒ ස්ථාන වලට යන පාරවල් පිලිබඳ පොතක් මට තෑගී කරමිනි.

මම එය සහමුලින් ම කියවීමි. පුරාණ ස්ථාන විසි පහකට වැඩි සංඛ්‍යාවක් ගැන, එහි තොරතුරු තිබේ. ප්‍රකට ස්ථාන වන දීඝවාපිය, බුද්ධංගල, යුදඟනාව, බුදුරුව ගලට අමතරව තවත් විස්සක් පමණ පුරාණ ස්ථාන, අබල දුබලව ඇත්තේ, පැරණිකම නිසා මෙන්ම, ගමේ දායකයන්ගේ ආර්ථික අබල දුබල කම ද නිසා ය. අපි කවුරුත් හැමෝම දන්නා සොළොස්මස්ථානය වැඳීමට උත්සුක වෙමු. ඒ යන ගමනේ ම යා හැකි, මේ ස්ථාන වලට නො යන්නේ, නො දැනීම නිසා ය. මේ පොතේ කියන සමහර පන්සල්, කාවන්තිස් රජ සමයේ සිට පැවත එන ඒවා ය. බොහෝ ඒවා, 1818 කැරැල්ලට පසු සුද්දන් නසා - පාගා දැමූ සිංහලයන් ගේ හා, ඒ නිසා පළා ගිය අපේ මුතුන් මිත්තන් ගේ, දුර්වලවූ සහයෙන් රැකුණු / රැකෙන, කුඩා පන්සල් ය. දුෂ්කරතාවයන් නිසා කුඩා පන්සල්වල හාමුදුරුවරුන් ඇත්තේ ඉතා අඩුවෙනි. මේ පන්සල් මොණරාගල, අම්පාර, මඩකලපුව හා ත්‍රිකුණාමලේ දිස්ත්‍රික්ක වල විසිර තිබේ.

වන්දනාවේ යන අය දැනුවත් නම්, අතරින් පතර හෝ මේ ස්ථාන වලට ගොඩවෙන්නේ නම්, පින් පෙට්ටියටවත් කීයක් වත් වැටෙනු ඇත. අත මිට සරු අය ආධාරයක් ද කරනු ඇත. එසේ වෙතොත්, මේ පන්සල්වල මූලික පහසුකම් වත් සපයා ගත හැකිය. පන්සලට හිමිවරුන් හිග නොවෙන්නට කාරණා යොදා ගත හැකිය.

අත මිට සරු ජන කොටස් ඉන්නා පොහොසත් ප්‍රදේශවල, පන්සල් වලට සිවුපසය ලැබේ; ජනප්‍රිය පන්සල්වලට ඒවා වැහිවහැලා ය. ඒ නමුත් මේවා බෙදා දෙන ක්‍රමයක්, අපේ මහා නායක හාමුදුරුවරු තවම සකස් කර නැත. දායකයෝ ද ලොකු ලොකු පන්සල් වලට ම රොද බඳිති. බුදුන් වහන්සේ වෙනුවෙන් ඉදිකළ කොයි පන්සලත් පූජනීය ය. ස්ථානයක පිළිගැනීම හෝ පූජනීයබව ඇති වෙන්නේ, පුදන පිරිස වැඩිවීමත්, බොහෝ කාලයක් පිදුම් ලැබීමත්, නිසා වුවත්, අද කාලයේ ප්‍රසිද්ධිය සියල්ල අභිබවා සිටී. ඒ නිසා මේ පැරණි පුදබිම් වලට, ප්‍රසිද්ධිය හා කළඑළිය ලබා දුන හොත්, රජයේ රක්ෂිත කොන්වල අටවා ගන්න, නාගරික කුඩා පන්සල් වෙනුවට, රටේම පන්සල් ඕනෑ තරම් ඉඩ කඩ ඇතිව, ජන සෙත සඳහා විවෘත වෙනු ඇත. දනකට බණකට අමතරව, පන්සලේ ඉඩම බලෙන් අල්ලා ගැනීම හා පැරණි දේ, මෝඩ නිදන්

හොරුන් ගෙන් බේරා ගැනීම පමණක්, මේ ඈත පන්සල්වල හිමිවරුන් ගේ කාරිය වී ඇත. හොරුන්ට එකතු වෙන අයද නැත්තේ නොවේ. මම ඔවුනට හාමුදුරුවන් යයි නො කියමි. අප, වඩා සංවිධිත ලෙස මේ උරුමයන් ගැන සොයා බැලිය යුතුය.

“දීඝවාපිය ඩෝසර් කළාය, මුහුදු මහා විහාරයට අයිති ඉඩම් අල්ලා ගත්තාය, තවත් විහාරයකට යන පාරක් මුසල්මානුවන් අවහිර කරනවා” යයි කෑ ගෑම හෝ විරෝධතා දැක්වීමට නොව, වෙනත් ස්ථාන වලටත් එවැනි තත්වයන් එන්නට පෙර, නැගෙනහිර පළාතෙන් පිටත සිටින බෞද්ධයන්ට, උපකාර කළ හැකිය. ලොකුම උදව්ව නම්, වසරකට සිය දහස් ගණන් මේ තැන්වලට වන්දනාවේ යාම ය. එයම ස්ථානයේ අනන්‍යතාව හා පැවැත්ම තහවුරු කරනු ඇත.
මේ සිතිවිලි ඔස්සේ, අදාළ පන්සල් සියල්ල එකතු කරගෙන සුරැකීමේ ක්‍රමයක් සාදන්නට අප හිමියන්ට යෝජනා කළෙමි. යෝජනාවට එකඟ වුනත්, කවදා කරාවිද, කරන්නට හැකි වේ ද යි නො දනිමි. එවැන්නක් සිදුවෙතොත් මා දන්නා හඳුනන, මේ පොත කියවන කාගේත් සහාය පතමි.

බුදු සසුන රඳා පවත්න්නේ, සිව්වනක් පිරිස වන භික්ෂු, භික්සුනී, උපාසක, උපාසිකාවන් නිසා යයි අපේ සම්මතයක් ඇත. මෙය, මොන බණ පොතේ කොතන ඇත්තේ දැයි, මම නොදනිමි. මේ පිරිස හමුවෙන ස්ථානය පන්සලය. පන්සල රැකුනොත් මේ අය ගේ සහසම්බන්ධතාවය රැකෙනු ඇත. මේ පිරිස්වල සංඛ්‍යාව, ගුණාත්මකභාවය හා, කැපවීම ඉහළ යනවිට, පන්සලද ඉහළ යනු ඇත. ඒ නිසා උද්යෝගයක් ඇති අයට, නිද්‍රාශීලී අයද අවදි කරගෙන, අපේ රටේ පන්සල් ටික, පවතින ආණ්ඩුවට, දේශපාලකයාට දණින් නො වැටී රැක ගැනීම, කළ හැකි දෙයකි.

මේ අතර දානයක්වත් නොදෙන, පන්සලකටවත් නොයන, සමහර බෞද්ධයෝ හාමුදුරුවන් ගේ සීලය ගැන කතා කරති. හාමුදුරුවන් ගේ සීලය සෙවිය යුත්තේ, ඒ හිමි වරුන් ගේ හෘද සාක්ෂිය ය, ඒ අයගේ ගුරු හාමුදුරුවරුන්ය. දනක් දුන්නට, සිරිතට වැන්දට, අපට ඒවා සොයන්න කාරණාවක් නැත. දුස්සීලයකු බුදුන් වහන්සේ වෙනුවෙන්, ආර්ය සංඝයා වහන්සේ වෙනුවෙන්, දෙන දේ පරිභෝජනය කරයි නම්, ඔහු අපාගත වෙනු ඇත. අප අකැමැති අයට දන් නො දෙන්නට, නො වඳින්නට, බොදු අපට අයිතිය ඇත. විවේචනය නො කර පසෙකට වී ඉන්නට, අපට සිහිය තිබිය යුතු ය. මිශ්‍ර ජන සමාජයක ඉඳගෙන, අපේ දේ ගැන කරන අනවශ්‍ය විවේචන නිසා, අන්‍යාගමිකයන් ගේ දෑස් ඉදිරියේ, අපේ ආගමික සංස්ථාවන්, අපිම හෑල්ලු කර ගන්නෙමු.

අප දෙන්නේ හොඳ හිතින් නම්, බුදුන් වහන්සේ ගේ නාමයෙන් නම්, ලබන්නා ගැන අප සිතිය යුතු නොවේ. කුසල විපාක ගැන රේරුකානේ හිමියන් ගේ පොතක මා කියවා ඇත්තේ, දානයක විපාක ඉහළවනුයේ, ලබන්නාගේ ගුණවත් බව, තුන් සිත පහදවා ගෙන දීම, ධාර්මිකව ඉපයූ ධනය පමණක් වැය කොට, දානය සඳහා යෝග්‍ය, හා සුදුසු හෙවත් ප්‍රත්‍ය දේ, දාන වස්තු ලෙස දීමත් ය.

අපට රහතන් වහන්සේ ට දානය දිය නොහැකිය. ඉන්නා ස්වාමීන් වහන්සේලාට දන් දීමට සිදුව ඇත. එහෙත් ඉහත කී දානයේ පලදායී කරුණු හතරෙන් තුනක්ම, අපේ විය යුතු අතර, ලබන්නා ගේ කොටස පමණක් හාමුදුරුවරුන්ට අදාලය. අපේ කොටස් තුන හදා නොගෙන, අනුන්ගේ කොටස ගැන කතා කිරීම, වැඩක් නැත. ධාර්මිකව ඉපයීම, දානයේ පෙර සුදානමේ සිට දෙන මොහොත හා දීමෙන් පසු සිහිවෙන ඕනෑ ම මොහොතක, ලොබ නැතිව ශ්‍රද්ධාවෙන් සතුටු වීමට හැකි නම්, ඒ ඇත. ලෝකෙට පෙනෙන්න ලොකුවට දීම, එවෙලේ උද්දාමයට හෝ දරන්න බැරි වියදම් කිරීම හා පසුව මාත්‍රයක් හෝ පසු තැවීම, නො කළයුතු  දේවල් ය. පින් කරන්නෙත් හැකි පමණට යයි මම සිතමි.

කෙසේ වෙතත් ගිහියන් ගේ ගරු බුහුමනට පාත්‍ර විය යුතු භික්ෂුව, කාය- වාග් සංවරයවත් ගිහියන් ඉදිරියේ රැක ගත යුතුය. සාමනේර සීලය වත් නො රකින, උපසම්පදා භික්ෂූන් අපට ඇස ගැසේ. විරෝධතාවලට යන ඇත්තෝ, දායකයන් වෙනුවෙන් ප්‍රතිඋපකාර වශයෙන් ඉදිරිපත් වී, සංවරය බිඳගෙන පොලිස් කාරයන්ගෙන් ගුටිකන, තල්ලු කරනු ලබන හැටි, දකින අපට හිතට අමාරුය. එහෙත් සිවුරු හැඳි අයට දැනමුතුකම් කිව යුත්තේ අප නොව, ඔවුන්ට මහණකම දුන් ගුරු හාමුදුරුවරුන් ය. මේ අයට චීවරධාරීන් යයි කියන කලිසම් - සරම් ධාරීන් ද සමාජයට අවශ්‍ය නැත.

පන්සල සමග සිව්වනක් පිරිස එකතු කිරීමට යම් ප්‍රමාණ හැකියාවක් ඇත්තේ, භික්ෂුණී ශාසනයක් ද දැන් ලංකාවේ ඇති නිසාය. මේ භික්ෂුණීන්ට නිසි පිළිගැනීමක් නැත. ඔවුන් ගේ උපසම්පදාව පිලිබඳ ප්‍රශ්නාර්ථයක් ඇත. එහෙත් කාය- වාග් සංවරය රැකගෙන, බුදුන් වහන්සේ පළමු ස්ථවිරීන් ට දුන් ගරු ධර්ම අට පිළිපදිමින්, භික්ෂුනීන්ට ද නියම කළ අනෙකුත් විනය ශික්ෂා පද රකින්නේ නම්, ඒ අය භික්ෂුනීන් හැටියට පිළිගැනීමේ නරකක් නැත. මෑතක රූපවාහිනී සංවාදයක, භික්ෂුනී පදයේ නිර්වචන සමග, එය යෙදීම නුසුදුසු බව හා මහණවී ඇති නිසා මෙහෙණ පදය සුදුසු බව පිළිගැනිණි. සුදුවත් හඳින දස සිල් මෑණිවරුනුත්, කසාවත් හඳින දස සිල් මෑණිවරුනුත් රකිනා සිල් පද ගැන වැඩියමක් නොදනිමි.

සාමනේර මෙහෙණින් වහන්සේ ලෙස හඳුන්වා ගන්න අය සේ ම, උපදම්පදාව ලැබුවා යයි කියන භික්ෂුනීන් ලෙස තමන් හඳුන්වන අයත් සිටිති. මේවා යේ විග්‍රහ, ගිහි අය නොව එම භික්ෂුනීන්, මෙහෙණන් හා ඔවුනට මහණ කම දුන් ගුරු හාමුදුරුවරුන්, සොයා බලා එකඟතා පිළිගැනීමකට බඳුන් විය යුතුය.

කෙසේ වෙතත් අඩුපාඩු මත හෝ, අපට සිව්වනක් පිරිස ඇති නිසා බුදු සසුන රැක ගැනීමේ මූලික අඩිතාලම අපේ රටේ ඇත්තේය. එය ගොඩ නගා ගැනීම, 'අපිත් බෞද්ධ' ය කියන නාමික බෞද්ධයන් හෝ උප්පැන්න සහතිකයේ ලියා ඇති නිසා බෞද්ධ අය හැර, ඉතිරි බෞද්ධයන් ගේ යුතුකම හා වගකීම යි.

සිවුරක පෙනුම ඇති රෙද්දක් පොරවා ගත්තෙක්, මහණ වූවෙක් නොවේ. බුදුන් වහන්සේ හා පස්වග තවුසන් ගෙන් පසු, ශාසනයට ඇතුළු වුනු කාටත්, උන්වහන්සේ ගෙන් පැවිද්ද ලැබුණි. සමහර අයට 'එහි භික්ඛු ' භාවයෙන් පැවිද්ද ලැබුණු බව සඳහන් ය. ඊට පසු බොහෝ අයට, එසේ පැවිදි වුනු හිමි වරුන් ගෙන් පැවිද්ද ලැබුණි. සංඝ විනය පිළිබඳව ගිහි අප දැනගැනීම අවශ්‍යම නැත. ශාසන ඉතිහාසය අනුව බැලුවොත්, නිකම් කහපාටට හුරු රෙදි පොරවා ගත් අයට, භික්ෂුවකට හිමි ගෞරවය නො දිය යුතුය. බුදුන් වහන්සේ ජීවමාන කාලයේම, සිවුපසයට ලොබින් මහණකම ලැබුවා වූ හෝ, එසේ නොලබාම මහණ ලෙසින් පෙනී සිටි අය, ජීවත් වුනු නිසා, අදත් එවැනි අය නැති යයි කිව නො හැකිය.

එහෙත් විධිමත් සමාජයක ඉන්නා අපට, සියලු ම මහණ ඇත්තන්ට නිසි පරීක්ෂාවකට භාජනය කිරීමෙන් පසු, භික්ෂු හැඳුනුම් පත් ලබා දෙන ලෙස රජයට බල කළ හැකිය. වඳින්නට පෙර හැඳුනුම් පත් පරීක්ෂාවට නොව, ශාසනය ගඳ ගස්වන, තනියම කහ රෙදි පොරවාගෙන මහපාරේ බීමතින් යන උන්, ඉවත් කිරීම සඳහා ය. මා එවැන්නන් එකකු දෙන්නකු දැක තිබේ. ඒ අයට ද සඟ රුවන සේ සලකන, ඊට පසු ශාසනය ගැන අකම්පාල වෙන, ගිහි අය ද සිටිති. සංවරයක් ඇතිව ගිහියන් ඉදිරියේ හැසිරෙන්නට නො දන්නා, මහණකම ලැබූ කෙනෙකුට වුනත්, සංඝ ගෞරවය පුදන්නට මා නම් සූදානම් නැත; ඔවුනට පසඟ පිහිටුවා වඳින්නේ නැත.

විනය කර්ම, සංඝ කර්ම අනුව ලංකාවේ සංඝ නිකාය බෙදී ඇතත්, ගිහි අපට එය අදාළ නැත; අපට කොයි පන්සලටත් යා හැකිය; ඕනෑ ම පන්සලකට දායක විය හැකිය. වඳින්න පුදන්න කාගෙන් වත් අවසර ගත යුතු නොවේ. එහෙත් පන්සලේ දේ ද අත ගා ගෙන යන, බෞද්ධයන් ඉන්නා නිසා, දොර අගුලු ලා පන්සල් රකින්නට ද, හාමුදුරුවරුන්ට සිදු වී ඇත්තේය. පොදුවේ බෞද්ධකමට, නිකාය භේදයේ ගැටළුවක් නැත. කොයි පන්සලත්, පන්සල ලෙස සලකා රැක ගැනීම, බෞද්ධ හැම ගේ යුතුකමකි. ඒවා රජයෙන් කෙරෙන තුරු බලා ඉන්නට ඕනෑ නැත. එහෙත් පුරාවිද්‍යා බලධාරීන් හා ගැටෙන්නට නම් සිදුවේ.

පන්සලකට හිරිහැර වෙන කොට නැති 'පුරා විද්‍යාව', ස්ථානයක් වැඩි දියුණු කරන්නට අත ගැසුවොත් පැන ගෙන එන්නේ, උදව් කරන්නට නොව, අවහිර කරන්නට ය. මේවා ගැන අප වඩා දූරදර්ශී විය යුතුය. පුරාවිද්‍යාව විෂයකි. පුරාවිද්‍යා කටයුතු ලංකාවේ ඇරඹුණේ සුද්ද ගේ කාලයේ ය. ඒ නිසා අති බහුතර බෞද්ධ පුරාවස්තු රකින්නට, අප දඟලන්නේ සුද්දාගේ ක්‍රමයටය. බෞද්ධ ක්‍රමයට පුරාවස්තු නැත්තේ, ඒවා නටබුන් වෙන්නට නොහැර රැකගත් නිසාය. යුද්ධ කාලවලින් පසු, එක එක රජවරු පැරණි ස්ථාන වැඩිදියුණු කළ බව මහාවංසයේ හා අනෙකුත් වංස කතාවල කියා තිබේ. ඒ නිසා පුරාවිද්‍යා දෙපාර්තමේන්තුවට මොන ආගම් අදහන අය ආවත්, බෞද්ධ පුරාවස්තු පිළිබඳ තීරණ වලදී, ඒවා ගැන හැඟීම් ඇති නිලධාරීන්, පළාත් මට්ටමෙන් වත් පත් කරගත යුතු ය.

සිව්වනක් පිරිස රැස් වුනත්, පන්සල් ලස්සනට නඩත්තු කළත්, බෞද්ධකම ඇත්තේ බොදු පිළිවෙත් රකින මනුස්සයන් තුළ ය. 'මම බෞද්ධයෙක්මි' ය කී පමණින් බෞද්ධයකු විය නො හැකිය. ඒ සඳහා පළමුවන සුදුසු කම තෙරුවන් සරණ යාම ය. ඒ සඳහා ගාථා පාඨය අරමුණකින් තොරව කියා පලක් නැත. අප කළ යුත්තේ සිතින් මය; අවබෝධයෙන් මය. ඍජුවම බෞද්ධ බව පිළිගත යුතුය. ලාබ වාසි තකා ඒ බව නො සැඟවිය යුතුය. තමා බෞද්ධයකු බව කීමට බයක් ලැජ්ජාවක් නො තිබිය යුතුය.

තෙරුවන් සරණ ගිය පළමු උපාසකයන්, තපස්සු භල්ලුක වෙළෙඳ සහෝදරයන් බවත්, ඔවුන් ගෙනා කේශ ධාතු, ත්‍රිකුණාමල දිස්ත්‍රික්කයේ 'ගිරිහඬු' සෑයේඇති බවත්, ලංකාවාසී අපි විස්වාස කරමු. උපාසක වචනය අපට එන්නේ එතැනිනි. උපාසකයකු වෙන හැටි ජීවක සූත්‍රයේ [අංගුත්තර නිකාය] තිබේ. තෙරුවන් සරණ ගිය උපාසකයකු කළ යුතු දේ මෙසේ දක්වා ඇත.

- සිල් ඇතිවීමට - පස් පව් වලින් වැළකීම
- තමන්ට හිත පිණිස - ශ්‍රද්ධාවන්ත වීම, ධර්මයේ අරුත් දැන ඒ අනුව් විසීම
- අනුන්ට හිත පිණිස - ශ්‍රද්ධාවන්ත වීමට, ශීලවන්ත වීමට, ත්‍යාගවන්තවීමට, දහම් අසන්නට, දහමෙහි හැසිරීමට, ඇසුව දහමේ අරුත් පිරික්සීමට, හා දහම අනුව ජීවත් වීමට අනුන්ට කියා දීම

පස් පව් දස අකුසල්වලින් වැළකී, දස කුසල කරන්නේ නම්, ඔබ හොඳ බෞද්ධයෙකි. හොඳ බෞද්ධයකු වීම කියන තරම් පහසු නැත.

ගිහි සමාජයේ දී සම්පප්‍රලාප හා බොරු කීමෙන් වැළකීම අමාරුම වැඩ දෙකය. බොරුකීම් යන්නෙන් මා අදහස් කරන්නේ සත්‍ය පැවසීමෙන් වැළකීම ය. සත්‍ය දේවල් පැවසු විට, එයට සවන්දෙන හෝ ඇහෙන මානයේ ඉන්නා අයකු පවා, තවත් තැනෙක දී අන් අයකුට ඒවා කීමෙන්, සිත් බිඳීමේ තත්වයන්ට මුහුණ පාන්නට සිදුවේ. දොසක් හෝ නුගුණයක් නො සලකා කියන දේද, ටිකක් බර යොදා කියන අය ඉන්නා නිසා, භේද ඇතිවෙන්නට ඉඩ පෑදේ. මේ නිසා කට පරෙස්සම් කරගෙන කතා කරන්නට, පුදුම වෑයමක් දරන්නට සිදුවේ. බොහෝ විට සමහර දේවල් ගැන දන්නබව නො කීමට හෝ, පැහැදිලි අවබෝධයක් නැති බව කීමට, මම පුරුදු වී සිටිමි. හොඳම ක්‍රමය තුෂ්නිම්භූත වීමය. තොරක් නැතිව කතා කිරීමට අප පුරුදුව ඇති නිසා, සමහර වෙලාවට තුෂ්නිම්භූත වීමත් නුසුදුසු සේ හැඟෙයි.'දන්නේ නෑ, මතක නෑ' හොඳම බොරු දෙකය.

අන්‍යෝන්‍ය සබඳතාවය හා සුහද හමුවලදී, කාලය කා දැමීම ආදියට සම්පප්‍රලාපය ප්‍රයෝජනවත්ය. පලකට නැති කතා සම්පප්‍රලාප ලෙස ගතහොත්, අපට බොහෝ විට කතා කරන්නට දෙයක් නැති තරම් ය. එසේ නැතහොත්, සෑම කතාබහක්ම ධර්ම සාකච්ඡාවක් හෝ අධ්‍යාපන හෝ විෂයානුබද්ධ සම්මන්ත්‍රණයක් වනු ඇත. සාදවල කියන විනෝද කතා හෝ "පාටිජෝක්ස් " මේ තත්වය මග හැරවීමට මිනිසා සදා ගත් දෙයකි. සාහිත්‍යය යනු සීයට අනූවක්ම සම්පප්‍රලාප යයි මට සිතේ. අවශ්‍ය හා ප්‍රයෝජනයක් ඇති දේ හැර අන් දේවල් සම්පප්‍රලාප නම්, ජාතක කතාවක හරය

වාක්‍ය දෙක තුනකට ලඝු කොට ඉතිරි සියල්ල හැර දැමිය හැකිය. මේ මට හිතෙන හැටිය.

සම්පප්‍රලාපය කෙසේවෙතත්, වාග් සංවරය වෙනුවෙන් ක්‍රෝධය, රෝෂය දැක්වෙන හා ඇනුම්පද ස්වරූපයේ ප්‍රකාශවත් වළක්වා ගැනීමට අපට හැකි විය යුතුය. වචන නැතිවත් අපට අභිනයන් මගින්, සමහර දේවල් සන්නිවේදනය කළ හැකිය. අක්‍රෝෂ, පරිභව ප්‍රකාශ සඳහා අභිනයවත් නො යොදා, සංවරවීම අවශ්‍යය. අවමයක් ලෙස පටිඝ සංඥා නිකුත් නොකර ඉන්නට හැමවිටම පුළුවන් නම්, එයත් ගිහි අපට හොඳ මට්ටමකි.

ජන සමාජයේ ජීවත් වීමේදී, කාය සංවරය අත්‍යවශ්‍ය ය. එය කඩ වුනොත් දුර ඉන්න අයටත් පෙනේ. එහෙත් වාග් සංවරයේ ස්වභාවය දැනෙන්නේ, ඇහෙන මානයේ අයට පමණි. සිනා මුහුණින් කුණුහරුපෙන් බැන්න ද, ඈත ඉන්නා කෙනා සිතන්නේ අර මනුස්සයා හිනාවෙවී කතා කරද්දීත්, අනිකා අසතුටු ඇයි කියාය.

චිත්ත සංවරය ඇතොත් කාය - වාග් සංවරය ඉබේම ඇතිවේ. චිත්ත සංවරය අතිශය අමාරු ය. එහෙත්, එය තමා තුළ ම නිසා, පිට අයට වැඩිපුර නොදැනේ. දැනුනත් අනුමානයක් මිස, ප්‍රත්‍යක්ෂයක් නොවේ. කාය - වාග් සංවරය දැඩි ලෙස රැකෙනොත්, චිත්ත සංවරය බිඳුන ද බොහෝවිට එය රහසක් සේ රැක ගත හැකිය.

මේ නිසාදෝ බුදුගුණ කියන ඇතැම්මු 'බුදුන් වහන්සේ රහසින්වත් පව් නොකළ සේක' කියති. මට මේක හිනා කතාවකි. බුදු කෙනෙක් තබා, හිත දියුණු කළ කෙනෙක්වත් රහසින් පව් කෙරෙත් ද ? ඔලුවක් ඇති ඕනෑ කෙනෙක්, හිත නොදන්නා රහසක් නැති බව දනිති.. ආර්යයන් වහන්සේ ලාගේ මට්ටමේ කෙනෙක් හොඳ වෙන්නේ, තම සිතට මිස අනුන් ට පෙන්නන්නට නොවේ. රහසින් පව් කිරීම යනු, අනුන්ට හොඳ පෙන්වා ගරු බුහුමන් ලැබීමට කරන වැඩකි. රහත් නො වී රහත් බව කීම ලොකුම වසල කම බව වසල සූත්‍රයේ කියවේ. එසේ කියන බුදු හාමුදුරුවන් 'රහසින් පව් කරන්නේ නැතිබව' බුදු ගුණයක් වෙන්නේ ද? පාප කර්ම නො කළත්, රහත් වෙන තුරු මාර්ග පල ලාභීන්ගේ සිත් වල කෙළෙස් ඇති බව බණ පොත්වල කියා තිබේ. එසේ නම් මගපල ලැබුවෝ රහසින් පව් කරත් ද? අරහං ගුණය රහසින් පව් නොකරන බව ලෙස කියන්නේ ඔල්මාදෙන් දැයි මට සිතේ.

අනේ කාලේ - වනේ වාසේ! [අනාථ වුනු කල්හි වනයේ සිටින්නා සේ ය.]

## 5. “කළ නොහැක්කක් නැත” - කළහැක්ක නො කළ තැන් ද ඇත

ක්‍රි . ව. 2020 දී කොරෝනා නම් වයිරසයක් චීනය පැත්තේ සිට ලෝකය පුරා ගමන් කළේය. ලෝක සෞඛ්‍ය ලොක්කන් එයින් ඇතිවෙන වසංගතය, කොවිඩ් 19 ලෙස නම් කළේ චීනයේ දී මුල් හඳුනා ගැනීම සිදු වුනේ 2019 වසරේ දී නිසාය

මේ නො දන්නා වසංගතය පාලනය කිරීමට, ශ්‍රී ලංකා රජය කාර්ය සාධක කමිටුවක් පත් කළේ, අදාළ විද්වතුන් හා ජනපති අගමැති දෙදෙනා ද ඇතුළත් වෙන ලෙසිනි. විවිධ සාකච්ඡා වලින් පසු, සෞඛ්‍ය, හමුදා, පොලිස්, හා පරිපාලන නිලධාරි සමුහයකින් හා ඔවුන් ගේ කාර්ය මණ්ඩල ද සහිතව, කොවිඩ් මර්දන කාර්ය සාධක බලකායක් ඇති කරන ලදී. තර්ජනය කාගෙන් ආවත්, ජාතියේ ආරක්ෂාව ප්‍රමුඛ නිසා, ආරක්ෂක ලේකම් වරයාද, හමුදා මාණ්ඩලික ප්‍රධානියාද ප්‍රධාන වගකීම් ගත්තේ ‘උචිත සංවිධාන වැඩ’ [logistics] සඳහා ය.

මේ වයිරසය පුද්ගලයන් හරහා මිස, සුළඟින් විසිරී නො යන නිසා, ලංකාවට පිටරටින් අය පැමිණෙන, ගුවන් තොට හා වරාය රැක ගැනීමටත්, පැමිණෙන්නන් සටහන් කරගෙන රෝගීන් සොයා ගැනීම, බෝ වුන අය සොයා හඹා යාම, කොටු කිරීම් හෝ වෙන්ව තබා ගැනීම හෙවත් බර සිංහලෙන් නිරෝධායනය, නිසි ලෙස ආසාදිත වූ අය රෝහල් ගත කිරීම, යන කරුණු මාර්තු මාසයේම ආරම්භ වුනේ, චීන සංචාරක රෝගී කතක් හඳුනා ගත් දින සිටය.

ප්‍රවෘත්ති වලට සවිස්තරව නො කීවත්, නො හඳුනන වයිරසය සමග කරන ගනුදෙනුව පිණිස, එදිනෙදා අත්දැකීම් අනුව ක්‍රමෝපායයන් සකස් කරද්දී, අවශ්‍ය තරම ක්ෂණික හා ක්‍රමවත් නො වූ අවස්ථා නිසා, ශ්‍රී ලංකාවේ පෙර සූදානමේ අගය, පහළ ගිය අවස්ථා තිබුණි. යමක් වුනාට පසු, මෙහෙම කළා නම් හොඳය කියන පණ්ඩිත වාක්‍යය ඉදිරිපත් කරන්නට, මේ ලිවීමෙන් අදහස් නො කරමි.

එහෙත් දැන සිටි සත්‍යයන් අමතක කිරීමේ හෝ සිහි නො කිරීමේ දෝෂයෙන් මිදෙන්නට කාර්ය සාධක බලකායට හා එවක පැවති ආණ්ඩුවට නො හැකිය. අලුත් කොරෝනාව හෝ කොවිඩ් නැතත්, ශ්‍රී ලංකාව ගැන අදාළ මූලික සත්‍යකරුණු [facts] කිහිපයක් මෙසේ දක්වමි.

1. වසංගතය ලෝක ව්‍යාප්ත [ අද යෙදුමට අනුව ගෝලීය තත්වයක් -- මේ ගෝලීය යෙදුම මා සිතට නංවන්නේ ගෝලාකාර ස්වරූප දෙය කි.] තත්වයක් වෙන බව නිවේදනය කරනවිටම, රටෙන් පිට ඉන්නා අපේ අය මිලියනයකට වැඩි බව
2. පිට රට ඉන්නා ශිෂ්‍යයන් රැකෙන්නේ ශිෂ්‍යාධාර මුදලින් හා ගෙදරින් එවන දේකින් නිසා, අමාරු අවස්ථාවක ඔවුනට තනිව රැකෙන්නට බැරි බව
3. විදේශ ගත සේවක පිරිස් වැඩිම ගණනක් සුළු සේවක මට්ටමේ වීම හා බොහෝ රටවල දී ඔවුනට නිසි සැලකිල්ලක් නැතත්, අපේ රටේ ඇති

විරැකියාව හා අඩු ආදායම් මට්ටම නිසා, ඒ අය එහි ගොස් දුක් විඳින්නේ පවුලේ අය ගොඩ දමන අටියෙන් බව

4. දියුණුය කියන රටවල දී ද, කුමන හෝ සේවයට යන අපේ අයට, දෙවන පන්තියේ පුරවැසි කමකට වඩා තැනක් නැතිබව [මේ තත්වය මා අත්විඳ ඇත; මිතුරන් මට කියා ඇත. මුදල් සොයා ගෙන ඇවිත් පිටරට ලොකුව පෙන්වන අය එකඟ නොවෙනු ඇත]
5. හොර පාස්පෝට් වලින් ගිය අය ආපසු ලංකාවට එද්දී රජය බලාපොරොත්තුවෙන පිළිවෙල, ඒ අයුරින් ම නොකරාවි යයි රජය සිහිනෙන්වත් නො සිතීම
6. ලංකාවේ අය බස් පොළේ, සිනමා හලේ පෝලිමේ, නිතරම පෙන්නුවත්, අපට ස්වයං විනයක් නැති බව සිහි නො වීම
7. අනුන් වෙනුවෙන් නො සිතන, තම ජන කොටස සුවිශේෂී යයි සිතන ජන කොට්ඨාශයක් සේ ම ඔවුන් හා එකටෙක කිරීමට තමනුත් වැරදි කරන මානසිකත්වයක් ඇති බෞද්ධ ප්‍රතිශතයක් ද මේ රටේ ඇති බව
8. අපේ රටේ ආයතන, වැඩක් අවසානය දක්වා නො කර සීයට අනූවක් ඉවර වුනු පසු, සියල්ල ඉබේ ඉවර වේය යන මානසිකත්වයෙන් කටයුතු කිරීමට හුරු වී ඇති බව [පසු ගිය පනස් වසරකම බොහෝ සංවර්ධන වැඩවල දී මේ න්‍යාය යොදා දේශපාලකයින් පිනවීම හෝ රැවටීම සිදුවී තිබේ]
9. විවෘත ආර්ථිකයත් සමග පියවරෙන් පියවර, රාජ්‍ය යාන්ත්‍රනය අඩපණ කර ඇති බව
10. 70 වසරක "බලු" දේශපාලනය තුළ අපේ පක්ෂයේ ආණ්ඩුවක් නැත්නම් කිසි දෙයක් හරියට නොකිරීම, කඩාකප්පල් කිරීම, අවශ්‍ය - අනවශ්‍ය විවේචන කිරීම් තුලින් කිසිම කරුණකට එක මතයකට නො ඒම හා, ජනතාව රටට, ලේ නෑකමට වඩා, දේශපාලන පක්ෂය ඉහළින් සලකන බව
11. ආසාදිතයන් සොයන නිලධාරීන් ද ලෙඩ විය හැකි මිනිසුන් බව, සති ගණනක් යනතුරු කල්පනා නොවීම  ආදියයි.

**මේ සියලු දෝමනස්සයන් අතරේ, මේ තරමටවත් රට රැක ගැනීම මම ඉහළින් අගය කරමි. ඒ වෙනුවෙන් කටයුතු කළ, ජනපති ප්‍රමුඛ සියල්ලන්ටම ගරු කරමි.**

සතිඅන්තයට වත් ගෙදර නො ගිය, අඹු දරුවන් ගෙන් බැහැර ව සිටි, පුද්ගල ආරක්ෂණ මෙවලම් නැතිවත් සේවය පෙරටු කර කටයුතු කළ, සියලු දෙනා ජාතික වීරවරයෝ වෙති. ඔවුන්ගේ විඩාවේ හා ආතතියේ ප්‍රමාණය හැමදාම රූපවාහිනියට එන සෞඛ්‍ය දෙපාර්තමේන්තුව නියෝජනය කළ ලොකු දොස්තර මහතා ගේ හා, නීතිඥ නියෝජ්‍ය පොලිස්පති තුමාගේ මුහුණු වල සටහන් ව ගිය අයුරු අපි දුටුවෙමු. හමුදා පති තුමන් ගෙන් හා ඇමතිනිය ගෙන් ඒ වැන්නක් නො පෙනුනේ, ඒ අයට ඇති ආතතිය සමනය කර ගැනීමේ විශේෂ ශුරත්වයක් නිසා යයි සිතමි.

දැන් කාලේ හැමෝම පාවිච්චි කරන සුහුරු දුරකථන යෙදවුම් මගින්, රටට ආපසු එන්නට කැමති අය පිළිබඳ තොරතුරු, විදේශ අමාත්‍යංශයට ඉතා ඉක්මනින් ලැබෙන්නට සැලැස්වීම, ඉතාම කාලෝචිත හා බුද්ධිමත් ක්‍රියාවකි.

උදේ හවා හඩ තලන  තොරතුරු තාක්ෂණය, තවමත් රටේ කෘෂි හා අනෙකුත් නිෂ්පාදන පිළිබඳව දත්ත සැපයීමට හා සම්බන්ධීකරණය ට හරියාකාරව උපයෝගී කරගෙන නැතත්, මේ අවස්ථාවෙන් පසුව වත් ඒවාටත් ඇස යොමු වේවා යයි පතමි.

චීනයෙන් සිසු දරුවන් පිරිසක් ගෙන ඒමත් සමගම, ආපසු මව්බිමට ඒමේ කැමැත්ත දක්වන්නන් දහස් ගණනින් වූහ. ඒ දරුවන් ගෙනවිත් රඳවා ගෙවල් වලට බාර දුන් ක්‍රියාවලිය ප්‍රසංසනීය ය. එහෙත් එම සද් කාර්යයත්, චීන කත සුව කොට පිටත් කර යැවීමත් ගැන කරන වර්ණනාව අස්සේ, තව දහස් ගණනක් ගෙනා ගැනීමට කටයුතු කිරීම බොහෝ සේ ප්‍රමාද වීම දුකකි.

ආරක්ෂක මාණ්ඩලික ප්‍රධානි තුමා කට හද හදා මැන දෙඩුව, නිරෝධායන මධ්‍යස්ථාන දවසෙන් දෙකෙන් හැදුව ඒවා නොව, තිබුණු ස්ථාන අවශ්‍ය ලෙස විකරණය කිරීමක් බව, මට නම් රූප රාමු දකිද්දී ම තේරුණි. යළි සැකසුම් [refurbishing ] කොන්තරත්තුවක් හරහා සති ගණනකින් කරන දේ, හමුදාවේ දරුවෝ දින කීපයකින් නිම කළහ. කොන්ත්‍රාත් සමාගමක වැඩ කරද්දී, මෙවැනි වැඩවලට ගතවන කාලය දන්න නිසා, මම මේ දරුවන් ගේ වැඩ මහත් සේ අගයමි. පෞද්ගලික ආයතනයක නැති බලකිරීමේ හැකියාව ද, විනය හා කැපවීමද, හමුදා පිරිස් අතර දහ දොළොස් ගුණයකින් වැඩිපුර ඇති බව අපි දනිමු. මේවා අගය කළ යුතු දේවල් ය.

කෙසේ වෙතත් පටන්ගැන්මේ තිබුණ ගැම්ම අනුව, ලොකු පිරිසකට ඉක්මනින් නිරෝධායනය වෙන්නට ඉඩ පහසුකම් හදන්නට ඉඩ තිබුණි. එසේම ඒ ස්ථාන මාසයක් දෙකක් යනවිට, මුලදී තිබුණු පිරිසිදු කම් පිරිහී ගිය බව දැනගන්නට, නො නිල වශයෙන් ලැබුණේය. එහෙත් කණ්ඩායම් මාරු කරන විට දින කීපයක් පමා කොට, අඩු ලුහුඬු සදා, පිරිසිදු කිරීමත් හමුදාවටම දුන්නේ නම්, මෙවැනි කතාවක් වත් ඇති නොවෙන්නට කටයුතු කරන කැපවීම, හමුදා පිරිස් තුල ඇති බව අප අමතක නො කළ යුතුය.

රෝගය රට පුරා දිව්වේ මේ සුළු ප්‍රමාදය නිසාය. මේ තත්වය ඇතිවීමට මග පෑදුව පළමුවෙනි දෝෂය, ඉතාලිය ඉරානය හා කොරියාවෙන් පළමුවෙන් ආ “හොඳ ළමයින්ට ”, ගෙදර ගිහින් නිරෝධායනය වීමේ වගකීම් බාර දීමයි.

ඉතාලියෙන් / එංගලන්තයෙන් අවුත් “බූරු පාට් දැම්ම ගොන් පොරවල්වලට” කනේ පාර දෙකක් [ඉතා ආචාරශීලීව විශේෂ කාමරයකට ගෙනගොස්, මාධ්‍ය ඔස්තාර්ලාට නො පෙනෙන්නට] දෙන්නට බැරිවීම”, ගුවන් තොට අධිකාරියට උදව් පිණිස සිටි හමුදා හා පොලිස් නිලධාරීන් ගෙන් වුනු දෝෂයයි

බොහෝ රටවලට ගුවන් තොට වැසුවා ට පසුව පිරිස් ගෙන්වා ගැනීම බරපතල කාරියක් විය. එහෙත් කාර්යසාධක බලකායේ ප්‍රකාශකයා සඳහන් කළේ, පිරිස්

ගෙන්වා ගැනීමට ක්‍රමවේද සකස් කරමින් ඉන්නාබව හා, ප්‍රමුඛ ස්ථානය ශිෂ්‍යයන්ට, සාර්ක් කලාපයේ අයට හා සංචාරක වීසා වලින් ගිය අයට ද පසුව ශ්‍රමිකයන්ට ලබාදෙන බවත්ය; සෞඛ්‍ය උපදෙස් මත කණ්ඩායම් වශයෙන් ගෙන්වා ගන්න බවත්ය.

වරකට හාර දහසක් පමණ නිරෝධායනය කොට, එම ගණන දහස දක්වා පහළ ගියාටත් පසුවත්, පිටරට අය ගෙන්වා ගැනීම පමා උනේ මන්දැයි පැහැදිලි කිරීමක්, මාධ්‍ය හරහා නොවුණු බව මා දන්නේ, මේ තොරතුරු ගැන හැමදාමත් නාලිකා කීපයකින් ම  උදේ, දවල්, රෑ, කරුණු රැස් කළ බැවිනි. මේ ප්‍රමාදය නිසා, පිටරටවලදී අපේ අය විස්සකට වඩා මිය ගියහ.

සමහර මැද පෙරදිග රටවල තත්වය දුක්ඛ දායක විය. හැමදාමත් දුකට පත්වෙන ගෘහ සේවක පිරිස් වල අන්ත අසරණ තත්වය, අත් දුරකථන වලින් දුන් රූ සටහන් පෙළගැස්ම හරහා, රූපවාහිනී නාලිකා සමහරක ප්‍රදර්ශනය කෙරිණි. උපන් රටට ආදරෙන් අඬන දොඩන මිනිසුන් මෙන්ම, ද්වේශයෙන් වල් බූරු කටවල් අරින අය ද, මුහුණු පොත හරහා රටට ගරහන උන්ට කියන අමු කුණුහරුප ද, නො අඩු විය.

ස්වයං නිරෝධායනය කළ ඇතැමුන් ගේ නො හික්මුණු හැසිරීම් නිසා, රෝගී පොකුරු ඇතිවුන අතර, එම ගම සම්පූරණයෙන් අවහිර කිරීම් තුලින්, ගම ම කුඩු කිරීම හා ළඟ ම ඇසුර තිබුණු අය බලෙන් නිරෝධායන මධ්‍යස්ථාන වලට ගෙන යාම, පමාවී හෝ පටන් ගත් හොඳ ක්‍රියාවකි. පාරවල් වැසුවාම හොරෙන් ගිය උන්ට, දණ හිසෙන් පහළට වෙඩි නොතැබීම පොලිසිය කළ වරදකි. මොරටුව පැත්තේ මෝටර් රියකට වෙඩි තබා නැවත්තුවාට පස්සෙ ත්, මේ හොරෙන් යාම වැළැක්වීමට පොලිසිය පසුබා සිටියේ, ආගමික මෙහෙයට  යනවිට, එතන පාර අන් අයට අවහිර කරන , පාරේ යන අයට නළා හැඬවීම තහනම් කරන , හෙල්මට් නො දමන, ජන කොට්ඨාශය වෙනුවෙන්, “එක රටක් එක නීතියක්” අකුලා ගැනීම නිසා යයි මට සිතේ.

නූගත්, අබුද්ධික පිරිස් වලට හිතුමතේ කටයුතු කරන්න ට ඉඩ නොතබන්නට, නාවික හමුදාව දුන් තරඟය ද, රටේ රෝගය ප්‍රචලිත වීමට රුකුලක් විය. ආසාදිත කුඩ්ඩන් හා පොර බැදුව, නාවික හමුදාවේ ප්‍රධානම කඳවුරක සෙබළුන්, වෙන් කර තැබීමට ඉඩක් නොවීම හෝ එම අවශ්‍යතාවය සිහි නො වීම කනගාටුවකි. ඔවුන් වෛද්‍ය පරීක්ෂණයකට නො යොමන්නට, එකසිය ගණනක් නිවාඩු යවද්දී ඒ ළමයින්ට පොදු ප්‍රවාහනයේ, ලොරි , කුලී රථ ආදියේ එල්ලී යන්නට සැලැස්වූ, කඳවුරු ප්‍රධානියා මැට්ටකු, කඩාකප්පල් කාරයකු හෝ උම්මත්තකයකු දැයි සොයා බැලිය යුතු ය.

එකසිය දහ දෙනා දිස්ත්‍රික්ක අටකට යැවීමට හමුදා ට්‍රක් රථ දහයක් හොඳටම ප්‍රමාණවත්ය. ත්‍රිවිධ හමුදාවේ ට්‍රක් රථ දහස් ගණනක් ඇත්තේ ය.මේ ළමයි ඕනෑම කබල් වාහනයක යන බව අපි දනිමු. අත පය බිඳුණු ළමයින්, යුද්ධ කාලයේදී ට්‍රැක්ටර් ට්‍රේලරයේ වේදනා විඳිමින් ආ හැටිද, අපට මතකය. අමනෝඥ ක්‍රියාවකින්, පන් සියයකට වැඩි ආසාදිතයන් ගණනක් හැදීම ගැන, නාවික හමුදාවේ අදාළ ඇත්තන්ට කොරෝනා පෙම් කරනු ඇත. සෙබළා රට වෙනුවෙන් මියෙන්නට ශපත කරන්නෙකි.

එහෙත් කාගේවත් බූරු කමකට, ඔහුට මෙවැනි දුක් දීම අපට වේදනාවකි. ඇමෙරිකානු නාවික හමුදාවේ නැවියන් වෙනුවෙන් ප්‍රකාශයක් කර, රැකියාව හැර ගිය කපිතාන් තුමාට මම ආචාර කරමි.

අපේ ජෙනරාල් තුමා එදා සිට රූපවාහිනියෙන් 'නාවික විරුවන්' කියන්නට පටන්ගත්තේ, වෙනදා 'නාවික සෙබළුන්' ද මෙහෙයුම් වලට සහභාගී වුනු බව කී කටින් ම ය .නාවික විරුවන් ආසාදනය වී ඇති බව කියන විට, මට සිනා ගියේ කොහෙන් දැයි ලියන්නට බැරිය. ඒ 'විරුවන්ට' මේ කළ වැඩයට නාවික ලොක්කන්ට විශ්‍රාම ජීවිතයත් 'වීරවං ඉන්නට' වේවා යයි මම පතමි. ඔවුනගේ ම හෘදය සාක්ෂිය ඒ දඬුවම ඔවුනට දෙනු ඇත.

මේ නාවික පිරිස දිස්ත්‍රික්ක අටකට යවා තෙසතියකට පසු, ඒ දක්වා රෝගියකු වාර්තා නොවුණු දිස්ත්‍රික්ක එකොළහේ ප්‍රවෘත්තිය තුනකි යයි කියන්නට සැලැස්වීම ජෙනරාල් තුමාගේ "කළ නොහැක්කක් නැත" යන ආදර්ශ පාඨය ක්‍රියාවෙන් පෙන්වීමක් දෝ යි මට සිතේ.

ගමට ගිය දරුවන් ගේ ගෙවල් ළඟ මල් වඩම් තබන්නට, නෑදෑයන්ට පහර දෙන්නට, ගිය අමනයෝ ද මේ රටේ සිටියහ. ආරක්ෂක ලේකම් තුමා වැඩ සටහනකදී කීවේ, බුද්ධි අංශ කොරෝනා මෙන්ම අනෙකුත් බුද්ධි කටයුතු ද නො අඩුව කරන බවයි. තුමනි! මේ නොසන්ඩාල පාහරයින් අල්ලා ගන්නට බුද්ධි අංශ යොදන්න. "හ්යුමන් රයිට්ස් " උඩ පනින නිසා, අප්‍රසිද්ධියේම රජ කාලේ දඬුවම් කරන්න. මේ ඉල්ලන්නේ වෛරයෙන් නොවේ; සමාජ සත්කාරයක් ලෙසින් ය. නිසි අයට නිසි සත්කාර දැක්වීම යුතු කමකි.

කොරෝනා ආරම්භයේ මුව වැසුම් සැපයුම සීමිත විය. ඒවා පිට රටින් ගෙන්වා ගැනීමට කල්පනා වුනේ නැත. සද් භාවයෙන් හෝ, ලකුණු දමා ගැනීමට හෝ, රජයේ වෛද්‍ය සංගමයේ නිලධාරී මණ්ඩලයේ කිහිප දෙනෙක්, පෙර සූදානම හා අනෙකුත් අවශ්‍යතා ගැන මත පළ කරමින්, කිසියම් ඇවිස්සීමක් කළහ. හිටපු ඇමති තුමාට ද පරීක්ෂණ සංඛ්‍යාව තුන් දහසේ සීමාවට යාම හොඳ වුවත්, දිනකට සියයක් කරන සමයේ, එය තුන් දහසට ගෙන ඒම එතුමාට ගැටළුවක් විය. එසේ වුනේ ඒ අය බටහිර කරන දේ ම පුනරුච්චාර්ණය කරන අය වීමත්, ලංකාවේ ලොක්කන්ට ලංකාවට ගැලපෙන දේ කල්පනා නො වීම සාමාන්‍ය දෙයක් නිසාත්, පවතින ආණ්ඩුව කරන්නේ වෙන දේශපාලන පක්ෂයකින් නිසා, හොඳ දේ උනත් කියවෙන්නේ වැරද්දක් විදියට නිසාත්, යයි මම කල්පනා කරමි.

නාසයෙන් උගුරෙන් සෙම නියැදි ලබාගැනීමට, එක වර දහසක් පුරුදු කරන්නේ කෙසේදැයි මට කල්පනා වෙන්නේ, එවැනි විශේෂ පුහුණු අය සමග වෙනස් වර්ග වල පරීක්ෂාවන් කළ පුරුද්ද ඇති නිසාත්, නවකයකු යොදා ගත් දාට, අගයන් පිලිබඳ අඩමානයන් ඇති වෙන බව දන්නා නිසා ත් ය. මගේ රෝගී තත්වයට හය මාසයකට වරක් ලේ පරීක්ෂාවට යන විට, පහසුවෙන් ලේ ගන්නට පුළුවන් කම නැති හෙදි දැරියන්, පුරුදු අයකු සොයා දුවනු මා අනන්තවත් දැක ඇත. මේ නියැදිය ගැනීම ඊට වඩා සංවේදී ස්ථානයක නිසා, ඒ කටයුතු, මැන කතා කරන තරම් පහසු නැත.

යුරෝපයේ තරම් නො කරති යි දොස් කීම අසාධාරණය. සති තුනකින් පමණ මෙම දහසේ සීමාව පසු කළ බව, ප්‍රවෘත්ති වලින් අසා අපි සතුටු වුනෙමු.

වෛද්‍ය පර්යේෂණ ආයතනයේ දිනකට හත් සීයක් කළ හැකි බව අල්ලාගෙන, එතරම් ප්‍රමාණයක් දිනකට පරීක්ෂා නො කරන්නේ මන්ද යි මාධ්‍ය වේදියකු නැගුව ප්‍රශ්නයකට, ඒ ආයතනයේ උස දොස්තර මහතා [නම අමතකය] හීන් සීරුවේ කීවේ, එවා ඇති සියල්ල පරීක්ෂාකර, රෑ එකොළහට පසු අපේ පිරිස ගෙදර යන බව හා, ලැබෙන නියැදි ප්‍රමාණය සීමිත බව ය. නියැදි ගන්නේ හා පරීක්ෂා කරන්නේ දෙ ගොල්ලක් බව මාධ්‍ය ඔස්තාර් දැන සිටියේ නැත.

අදාළ නැති ප්‍රශ්න, අදාළ නැති අයගෙන් අසා, පුද්ගලයන් හිර කිරීමට දක්ෂ ම මාධ්‍ය වේදියෝ [මැදි වැද්දෝ] සිටිති. සමහර දේ සිතේ තබාගෙන අතරින් පතර දේ අසා, තමාට ඕනෑ දේත් එකතු කොට, කැමති විදියට මූට්ටු කළ සිරස් තල අටවා ගැනීම, ඔවුනට හපන් කමකි. රස්සාවක් නො කරන යුගේ, සෑම ප්‍රවෘත්ති යක් ම බලන මගේ සිතට, මේවා අසු වේ.

වෘත්තිකයන් ලෙස, නීතිඥයෝ ත්, අලෙවි කරන්නොත්, මාධ්‍ය වේදියොත්, යම් විෂයක් ගැඹුරට නො දනිතත් , අදාළ කරුණ ගැන සාමාන්‍ය තොරතුරු ටිකක් සොයාගෙන, අන් අයට තමාගේ ඌනතාවයක් නො දැනෙන සේ, නීතිමය, අලෙවිකරණමය හෝ මාධ්‍යමය පැත්ත භාවිත කරමින්, දක්ෂ ලෙස කතා කිරීමට සූරයෝ ය. එය ඔවුන් ගේ වෘත්තීයමය හැකියාවය. ඒ උනත්, ඉහත සිද්ධියේ දී, පමණට වඩා උඩ පනින්න ගිය කෙනාට, හීන් ටොක්කක් වදිනු මම බලා සිටියෙමි.

එංගලන්තයේ සිට ශිෂ්‍යයන් ගෙනෙන අතරේ ගෙන ආ, සංචාරක වීසා හෝ වැඩ අවසර මත ගොස් සිටි බුරුවන් පිරිසක්, ගුවන්තොටුපලේ හඬ තලා ඇත. හමුදා නිලධාරියාට ඉංග්‍රීසියෙන් කතා කරන්නට කී, මුන් ගේ ජාතකය ගැන මුහුණු පොතේ ළමයින් උත්තර දී තිබුණු බවක් ද ඇසුවෙමි. ජාතියක් එක්ව සිට ගන්නා වෙලාවේ, සල්ලි ලොකුව, 'මව්බස නො දැනීමේ ලොකුව', පෙන්නන්න යන උන් නිසා, ජාතියක වැදගත්කම් හා ගුණවත්කම්වල ද සිදුරු ඇතිවේ. ඕනෑම වගාවක වල් පැළෑටි හට ගන්නා නිසා, මේ අමන හැසිරීම් අවඥාවෙන් බැහැර කර, අමතක කර දැමීම වටී.

හෙදියන්ට මුව වැසුම් නැති යයි හඬා වැටෙන, පිටරට දසුන් පෙන්වන රූපවාහිනී තිරයේ ම, අපේ හෙදියන් රෝහල් අගුවේ මහන යන්ත්‍ර තබාගෙන, පුද්ගල ආරක්ෂණ කට්ටල මසා ගන්නා අන්දම ද අපි දුටිමු. රට ගිය ඉංග්‍රීසි දන්නා මැට්ටා ට වඩා , මාධ්‍යකරුවාට කතා කරන්නට හිස ඔසවන්නේ වත් නැතිව, කරබා ගෙන කාරිය ඉටු කළ ඒ හෙදිය, අපට වටිනා කෙනෙකි; ජාතියේ අම්මා කෙනෙකි.

නැනෝ තාක්ෂණ ආයතනය, සෙම පරීක්ෂාවට අවශ්‍ය ඉරටුව වැනි උපකරණය ජාත්‍යන්තර මට්ටමෙන් නිපදවීමත්, පෞද්ගලික ආයතනයක් හා එක්ව දිනකට දහස් ගණනින් සැදීම ත් සමග, හඳුනා ගැනීමේ පරීක්ෂණ වේගය ඉහළ ගිය හැටි, හැමදා කියන සංඛ්‍යා දත්ත අනුව සිතින් මැන බලන්නට හැකි විය.

පුද්ගල ආරක්ෂණ කට්ටල, වෙනත් සෞඛ්‍ය උපකරණ, විෂබීජ හරණ උපාංග නව නිපැයුම් ලෙස එකතුවීම, සෑම මාධ්‍ය නාලිකාවකම සේම බොහෝ දෙනාගේ ප්‍රශංසාව ට හේතු විය.'මේ අපේ දේශයයි, මේ අපේ ජීවයයි' යනුවෙන්, දේශාභිමානී ගී උදේ පාසල් යනවිට ඇසුණු, ඒ යුගයේ දරුවන් වුනු අපේ, අනාගත දේශය මේ දැයි මට සිතුනි. මේ දේශය "අනාගත් දේශයක්" නො වේවා.

කවදත් ගංවතුරට නියඟට කෑම බෙදන, අපේ සාමාන්‍ය ජනයා හා ව්‍යාපාරික ස්ථාන මේ අවස්ථාවේ ද, හමුවීමේ සීමා තුළ කටයුතු කරමින්, තම තමන් තනිව - වෙන්ව ඉදිරිපත්වීම පසෙක ලා, පොදු ජන සුව පිණිස වැඩ ඇරඹූ, මාධ්‍ය හා වෙනත් ආයතන හා එක්ව කළ මහඟු සේවය, අපට විශේෂයක් නො වන්නේ, ඒ අපේ කමේ හැටි නිසාය. සුනාමියේදී රජය වැඩට බසින්නට පෙර, රට මැද ගම් වල වැසියන් ලොරි වල නැගී, ආහාර පාන, නිවාස හදන්නට උණගස්, පොල් අතු පටවාගෙන, "බුදු සරණයි *අසුවල්* සමිතිය" යන පාඨ ඇති බැනර්, සුදු රෙද්දේ කළු අකුරින් අතින් ලියා සවිකරගෙන, පැමිණි අන්දම මට සිහි වෙයි . සුනාමිය නිසා මාතර සිට ගාලු පාර මග හරිමින්, කුඩා පාරවල් ඔස්සේ, මතුගම පැත්තෙන් නුවර ආ, මට හමුවුණු, දුක හඳුනන පරෝපකාරීන් ගේ වාහන ගණන සීයකට වැඩිබව සිහි කරමි.

"මට මෙච්චර ගොඩක් පුතේ!" කියා සහනාධාර කොටසක් පමණක් බාර ගත් අම්මාත්, "මාත් සම්මාදම් වෙන්න ඕනෑ" කියා, ඉනේ සල්ලි ගැටයෙන් රුපියල් දෙසීයක් දුන් අම්මත්, පෙනුමෙන් දුප්පත් ය; නූගත් ය. එහෙත් හිතින් පෝසත් සැබෑ ගුණවත් ඒ මිනිස්සු, නියම ලාංකිකයෝ වෙති. සිංහල බෞද්ධකම් කිඳා බැස ඇති, මේ මිනිස්සුන් ගේ මනු ගුණය ලෝකයාට පෙන්විය යුතුය. වසංගතය ඉවර වූ පසුත්, මේ දර්ශන තෝරා බේරා, විටින් විට රූපවාහිනී මගින් පෙන්විය යුතුය. එංගලන්තයෙන් ඇවිත් පාරම් බෑ අම්බරුවන්ට, කණෙන් අල්ලා පෙන්විය යුතුය.

ගොවියෝ එළවලු එකතු කොට, ආහාර හිඟ කොළඹ මිනිසුන්ට නිකම් දෙන්නට කීවෝය; හිමිනමක් ගම්මුන් එකතු කරගෙන, සහල් ලොරියක්, බෙදාහරින කණ්ඩායමකට බාර දුන්නේය. තවත් පන්සලකට මිනිස්සු සහල් කිලෝ විසි පහේ මිටි, හිසින් ගෙනවුත් බාර දුන්නේ, රටට ම බෙදන මහත්තුරුන්ට ය. වැඩි බස දැනුමක් නැති, ගොවි මහතා වචන ගලපමින්, කී වේ මේ පිරිස දුන් දේ ගැන නොවේ. "අපිය කියල ඇති මිනිස්සු නෙවි; ඒත් මේ පින කරන්න අපට උදව් කළ, ඔබ සැමට පින් සිදු වේවා " යනුවෙනි. පාදයක් ආබාධිතව, තවත් පුටුවක් උඩ කකුලක් තබාගෙන සිටි තැනැත්තෙක්, රජයෙන් දුන් මුදල ආපසු දෙමින් කීවේ, "අපට වඩා අසරණ අයට දෙන්න; මට දැනට කනබොන හැටි බලා ගන්න පුළුවන්" යනුවෙනි . දඩාවතේ යන සතුන්ට උයා පිහා කන්න දුන් මිනිස්සුද වූහ.

ගෙයින් දොට්ට නො බැස්ස මා,රූපවාහිනියෙන් පමණක් දුටු මේවා ට අමතරව, තව සිය ගණනක් මනුස්සකම් ඇති මිනිස්සු, දුකේ දී තම රටේ තොටේ අයට පිහිට වුනෝ ය. මේ දේවල් ඇහින් නො දැක්කත්, හැත්තෑ වසරක් දිවි ගෙවද්දී, ශ්‍රී ලංකාවේ සෑම පළාතකම ජීවත් වුනු, අග නගරයේ ධනවතුන් ගේ සිට ඈත ගම දනව් වල කම්කරුවන් ද සමග, රාජකාරියේ දී සමීපව කටයුතු කර ඇති මට, ජන මනසේ ස්වභාවය ගැන යම් අවබෝධයක් ඇත.

විවෘත ආර්ථිකය සමග මූලික අයිතිවාසිකම් පනතකුත් ඇවිත්, සිවිල් සංවිධානවල හඬ ඉස්මතු වෙන්නට පෙර, ලංකාවේ මිනිස්සු තම අයිතිවාසිකම් වින්දෝය. ඒ අයිතිවාසිකම කතාවකින් තොරව, තමා අනුන්ටත් අනුන් තමා වෙතත් ලෙසින්, මුළු සමාජයම දුකට කරදරයට පත් එකා වෙනුවෙන් කළ **යුතුකම්** වශයෙනි; තම තමාට හැකි අයුරිනි. සිගාලෝවාද සූත්‍රය නොදනිතත් " අපි දරුවන්ට යුතුකම් කරන්න තියෙනවා; මව් පියන්ට සලකන්න ඕනෑ; නෑයන් ගැනත් බලන්න එපාය; හාමුදුරුවෝ බඩගින්නේ තියන්න බැහැ සලාක දානේ කොහොම හරි දෙන්න ඕන; " ආදී වශයෙන් කියා, අපේ ගම්වල අය යුතුකම් කළේ, ගෙවල් වල කරන රටාවට අනුව, බුදු මගේ යන්නට අම්ම අප්පගෙන් පුරුදු වී තිබුණු නිසාය; ජන මනසේ කිඳා බැස තිබුණු ගුණ ධර්ම නිසාය.

සිගාලෝවාද සූත්‍රයේ ඒ ඒ අය ගෙන් අන් අයට විය යුතු යුතුකම්, ඒ ඒ කාණ්ඩයේ අයිතිවාසිකම් හැටියට විලෝමය හැටියට දැක්විය හැකිය. බුදු හාමුදුරුවන් එසේ නො කීවේ අයිතිවාසිකම් ආත්මාර්ථය ට යොමු කරන නිසාත්, යුතුකම් පරාර්ථයට සිත යොමු කරන නිසාත් යයි මට සිතේ. මේ සමාජයී ය යුතුකම් පිළිපදින අයට, කරුණා මෛත්‍රී සහගත සිතුම් රටාවක් ඉබේ ඇතිවෙයි. දුප්පත් කමේ ගැලී, එදිනෙදා වියදම් පියවා ගනිද්දී යටපත් ව ගියත්, වින්නැහියක දී මේ ගුණ දහම් ඉස්මතු වීමේ ගතිය, තවමත් ලාංකිකයන් තුල සැඟවී ඇති බව සිතෙන්නේ ය. ස්වාභාවික විපත් අවස්ථා කිහිපයකදීම මම මෙය නිරීක්ෂණය කර ඇත්තෙමි.

අපේ බිම් මට්ටමේ නිලදරුවන් වැඩට බැස්සේ, පැහැදිලි අරමුණකින් නොවේ. කියන දේ කිරීමත් එන හැටියට වැඩ කරන බවත්, මුල් දවස්වල හොඳට පෙනෙන්නට තිබුණි. පොදු ජනයා ගෙවල් වලට කොටු කළත්, පොදු ස්ථාන වල සිටි ඔවුන්ට, මුව වැස්මක් වත් නොතිබුණි. අපේ රටේ සමහර හොඳ අය, පොලිසියට හා සෞඛ්‍ය අංශ වලට ඒවා තෑගී කළහ. ආරක්ෂිතව සන්නද්ධ වුනු නිලදරුවන් දක්නට ලැබුනේ, සති ගණනකට පසුවය. රටට අවශ්‍ය මුව වැසුම් ප්‍රමාණයවත් නැති බව කියා හඬ තලන දෙස්පලුවන් ද දකින්නට හැකි විය. උන්ගේ මුව, වැස්මට උත්සුක නොවී, අන් අය මුව වසා සිටි නිසා සහ ඇවැස්ස කිරීමට යුහුසුළු වුන නිසාත්, ඒ උඩුබුරුළෑම ඉබේටම නතර විය.

එහෙත් රාජ්‍ය පරිපාලනයේ, ප්‍රාදේශීය කාර්යාලයෙන් ඔබ්බට බිම් මට්ටමට විසිරෙන, සේවා සපයන අයට මේවා සපයන්නට උන්නන්දුවුනෝ, දක්නට නොවුන. නොවුනේ ම යයි කීමට මා කළ සමීක්ෂණයක් නැතත් මේ මගේ රූපවාහිනී තිර නිරීක්ෂණ වල නිගමනයන් ය. සෞඛ්‍ය පරීක්ෂකවරු බැරිම තැන, සේවය ප්‍රතික්ෂේප කළහ. සෞඛ්‍ය අංශ අවශ්‍ය කටයුතු කළ නිසා ප්‍රශ්නය දිග් ගැස්සුනේ නැත.

ගම මට්ටමේ අනෙකුත් නිලධාරීන් ගේ ප්‍රශ්නයට විසඳුම් පමා විය."කළ නොහැක්කක් නැති" කාර්ය සාධක බලකාය, පුද්ගල ආරක්ෂණ උපකරණ සපයා ගැනීමට ප්‍රමාද වී, කළහැක්කක් නො කළ නිසා, රුපියල් පන් දහසේ දීමනාව ගෙවීමට, ග්‍රාම නිලධාරි සංගමය ප්‍රතික්ෂේප කළේය. දිනක් පමා කිරීමෙන් පසු, නිදහස් ග්‍රාම නිලධාරි සංගමය වැඩ පටන් ගත්තේය. එක්සත් ග්‍රාම නිලධාරි සංගමය දැඩි ස්ථාවරයේ ම එල්ලී සිටියේය.හේතුව සාධාරණ වුනත්, මේ ස්ථාවර දෙකේ වෙනස, ලංකාවේ තුට්ටු

දෙකේ දේශපාලනයට නතු, වෘත්තීය සමිති ව්‍යාපාරයයි. නිදහස් වෘත්තීය සමිතිය නිදහස් නැත එය ශ්‍රී ලංකා නිදහස් පක්ෂයට බැඳිලා ය. එක්සත් වෘත්තීය සමිති වල, වෘත්තීය එක්සත් කමක් නැත ඒවා එක්සත් ජාතික පක්ෂයට බැඳිලා ය.

තම වෘත්තීය අමතක කොට, දේශපාලන පක්ෂවල බත් බැලයන් වීම, ලංකාවේ සෑම වෘත්තියකම අභාග්‍යයයි. එක වෘත්තියකට අයත් අයට තනි සමිතියක් නැත. මේ ගතිය වඩා උගත්, උසස් නිලධාරීන් ගේ සමිති අස්සේ ද ඇත. අස්සේ යයි කියන්නේ නමේ නැතිමුත්, වැඩවල ඇති නිසාය. ශ්‍රී ලාංකිකයන් ගේ මොන හොඳ ගති තිබුණත්, රටට ඉදිරිගමනක් නැත්තේ මේ තුප්පහි දේශපාලන බෙදීම් නිසාය.

කළහැක්ක නො කෙරුණු තවත් ක්‍රියාවලියක් නම්, මේ වසංගතය නිසා හදිසියේ කරදරයට පත්, අසංවිධිත ජීවනමාර්ග ඇති, රජයෙන් ලේඛනගත නොකළ පිරිස, නිසි ලෙස හඳුනා ගැනීම සහ ඔවුනට රුපියල් පන් දහසේ දීමනාව ගෙවීමයි. දෙවන වටය ඇරඹුණු පසුත්, පළමු වටය අවසන්කර ගැනීමට බැරි විය. දේශපාලනයෙන් බෙදුණු, ගම්මට්ටමේ නිලධාරීන් සකස් කළ නාම ලේඛන, අසම්පූර්ණ, පක්ෂග්‍රාහී හා දෝෂ සහිත විය. මේ තීරණ ගන්නා ගමේ කමිටුවට, ප්‍රාදේශීය සභා නියෝජිතයා ඔබා, ආණ්ඩුව හත් පොලේ ගා ගත්තේය. විරුද්ධ පක්ෂයේ ප්‍රාදේශීය නියෝජිතයන්ටත් සහභාගී විය හැකි නමුත්, අවස්ථාවාදියෝ මග හැර සිටියහ. සහභාගී වුනු පසුත්, ආඩපාලි කීවෝය. තවත් උන්, පෝසත් අයට ද මුදල දෙන්නට බල කළහ. ඒ නිසා නැති බැරි කෙනා කැපී ගිය තැන් ද තිබුණි. මෙසේ පන් දහසේ දීමනාව, අක්‍රමවත් ජංජාලයක් කරන ලදී.

රාජ්‍ය පාලනයේ ප්‍රාදේශීය ලේකම් කාර්යාලයෙන් පහළ විසිරුණු නිලයන්, සමස්තයක් වශයෙන් අක්‍රමවත් දුර්වල එකක් බව ලංකා ආණ්ඩුව නොදනී. බොහෝ ගංවතුර අවස්ථාවල බෙදා දෙන්නට ලැබුණු දේ,  කාර්යාලයේ ගොඩ ගැසී ඉතිරි වුන හෝ අපතේ ගිය අවස්ථා ඇත. ආධාර බොහෝ විට බෙදා හැරුනේ, පහසුවෙන් යා හැකි ගම්මාන වලටය. ජනතා විමුක්ති පෙරමුණෙහි දේශපාලනය මෙන්ම, ඒ අය පසුගිය වසර පණහක පමණ කර ඇති බොහෝ දේ ගැන, මගේ දැඩි අප්‍රසාදයක් ඇතත්, ආපදා අවස්ථාවන්හි දී රතු තරුව ක්‍රියාදාමය, ප්‍රා. ලේ.කාර්යාලයට ඉදිරියෙන් වැඩ කළ, අගය කළ හැකි අවස්ථා, මම නිරීක්ෂනය කර ඇත්තෙමි. මේවා සලකා කටයුතු නො කිරීමෙන්, මේ දීමනාවේ වැඩය ලස්සනට කෙරුනේ නැත.

ප්‍රා.ලේ. කාර්යාලයේ ගමට විසිරෙන පිරිස, මීට වඩා ක්‍රමවත් කළ යුතුය. "ඩිජිටල් කළ යුතුය " පරිගණකයක් හසුරුවන්න දන්නා, උසස් පෙළ ගණිතය හදාරා ඇති දරුවෝ බොහෝය. සංඛ්‍යානය විෂය ඔවුහු දනිති. අවශ්‍ය පුහුණුවක් දී, ගම් මට්ටමේ දත්ත ගබඩාවන් විධිමත්ව ඇති කර ගත හැකිය. මේවා අමාත්‍යංශ මට්ටමට ජාල ගත කරන්නට ඕනෑ ය, ජාතික සංගණන දෙපාර්ත මෙන්තුවටද, කෘෂිකර්ම පර්යේෂණ ආයතනයටද සම්බන්ධ විය යුතු ය. අවිධිමත්, අසංවිධිත, ලේඛන ගත කර නැති, ජන කොටස්, හඳුනා ගෙන තිබිය යුතුය. එවිට ඉදිරියේ එන ඕනෑම ආපදාවකදී, නිසි ලෙස ක්‍රියාත්මක වීමට හැකි වන්නේ, කඩිමුඩියේ තොරතුරැ රැස් කරගන්නට, රණ්ඩු කර ගන්නට, කාරණා නැති බැවිනි.

ජනතාව බොහෝ සේ ඉවසිලිමත් වුනත්, ගුණවත් වුනත්, පොළ වැනි තැන් වල හැසිරීම අන්තිමය. මේ තැන්වල පාලනයක් සිදුවුනේ ම නැති ගානය. පොලිස් හා සෞඛ්‍ය නිලධාරීහු, නොයෙක් විට අසරණ වූහ. බැංකුවේ, ඔසුහළේ ඔවුන් කළ පාලනය, මෙහි දී හැලී ගියේය. එළවලු, මාලූ කුණුවෙන නිසා, මෙසේ සෞඛ්‍ය නීති අතපසු වීමට දෙනවා දැයි නො තෙරේ. නැතහොත් හැමදාමත් දඟලන ගුණය පොලේ භූමි දෝෂයක් වත් ද?

විලච්චියේ වට්ටක්කා, ජනපති නිසා සමාගමකට ගියත්, අතිරික්තය බෙදා හැරුනත්, හම්බන්තොට තක්කාලි, පලතුරු, අළු පුහුල් කුණු වී යනු දකින්නට ලැබීම දුකකි. ණය බර ඇතත්, කුණු වෙන්නට ඉඩ නො තබා, තමන් වැවූ බෝග ගෙන ගොස් නගරවල කොටුවුණු ජනයාට නිකම් දෙන ලෙස, මේ අය මාධ්‍යයෙන් ගිය අය වෙත කන්නලව් කීහ. ඒ ගැන වුන දෙයක් ඊට පසු අසන්නට ලැබුනේ නැත. ප්‍රවෘත්තියක් ඉදිරිපත් කළාට පසු, ඒගැන නැවත සොයා බලන්නට, ඒ ඉදිරිපත් කරන අයට ඇම්මක් නැතුවා වත්දෝ!

මත්පැන් අලෙවිසල් විවෘත කිරීමෙන් ද, ආණ්ඩුව තව ගොන් කමක් කළේය. දින හතලිස් පහක් හිටි අයට, ඔය පානය නැතිව තව හතලිස් පහක් ඉන්නට බැරිද? වෛද්‍ය සංගමය කීපවරක් මතක් කළත්, තාවකාලික මත්පැන් දුම්වැටි තහනමක් ගැන, ආණ්ඩුවට ඕනෑ කමක් නො තිබුණි. එසේ වුනේ, බදු මුදලගැනීමට වඩා, අලෙවිසල් වැඩිහරියක් ඇත්තේ දෙස්පලුවන්ට් හා නෑ මිතුරන්ට නිසා බව, අපේ මිතුරෝ කීහ.

මත්පැන් පෝලිමේ අවසිහි වූවන් මෙන් පොර කෑ අමනයන් නිසා, තව තව කොරෝනා බෝ නොවුනේ යයි කියන්න ට පුළුවන් කාට ද? සීයට හැත්තෑ පහකට වඩා ජනයා ගෙවල් වලට කොටුවී සිටීමත්, එළියට බැහැලා වැඩ කළ දහස් ගණන් නිලධාරීන් ගේ මහන්සියත්, බිල්ලට දීමකි. බාර් පොකුරු කියා ජාතියක් නො කියවුණත්, මේ නිසා ආණ්ඩුව අනවශ්‍ය ලෙස බාල්දු විය.

මධ්‍යස්ථ අප, රූපවාහිනියෙන් දකින මේ දේවල්, අදාළ අයගේ ඥාන සම්භාරයට ගියා නම්!

<u>'කළහැක්ක නො කරුණු තැන්ද ඇත' යි මා කීවේ මේ දේවල් නිසාය</u>

## 6. පරිසරය, කුණු හා අප

පරිසරය යනු අවට ප්‍රදේශය හෝ වටපිටාව ලෙස ගත හැකිය. පොදුවේ එය අදාල ප්‍රස්තුතයේ වටපිටාව වේ. අප ගැන කතා කළොත් අප හැදුනු වටපිටාව, ඇසුරු කරන අය, වාසස්ථානය හා අසල් වැසියන් ද ඇතුළු දේ අපේ පරිසරය සේ සැළකිය හැකිය. එයම ගෙදරට, ගමට හෝ රටට හෝ, වඩා විසාල ප්‍රදේශයකට, අනුකූල වෙන සේ අර්ථ ගැන්වීමට ද පුළුවන් ය. පරිසරය යන පදය නිකම් ම කීවොත්, මේ කාලයේ දී සලකන්නේ, රටේ ස්වාභාවික පරිසරය වශයෙන් ගහ කොළ, සතා සීපාවා, ජල සම්පත, පාංශු සම්පත, වා තලය හෝ, එම දේවල්ම, සමහර විට රටේ සීමාවෙන් ඔබ්බට ගිය ගෝලීය සමස්තය ලෙසය..

පරිසරය රැක ගැනීම ගැන බොහෝ කතා කරන, ලිපි ලේඛන ප්‍රකාශයට පත් කරන යුගයකි මේ. පරිසරය අපිරිසිදුවීම, වායු දූෂණය, ජල දූෂණය, අපද්‍රව්‍ය පරිසරයට මුදාහැරීම, කසල කඳු, ප්‍රතිචක්‍රීකරණය ,ආදී සරල හා බර වචන භාවිතා වේ. මේ කතාව ජන සමාජයේ පොදු ක්‍රියා හැටියට ගැනුන, ද ජන සමාජය සැදෙන්නේ, තනි තනි පුද්ගලයන් හා ඔවුන් ගේ නො මේරුව දරුවන්ද, ඔවුන් ගොඩ නගා ගන්න සංවිධාන, ආයතන ආදිය, වෙන් වෙන් සමුහ හෝ, පොදු සමුහයක් හෝ, ලෙසින් සංගත වීමෙනි.

මගේ දැක්මට අනුව, සමුහයක ඉන්නා සෑම තනි පුද්ගලයකුම, තනිව හෝ සාමූහිකව ඍජු හෝ වක්‍ර දායකත්වයෙන් කරන ක්‍රියා, සමාජයේ ක්‍රියාකාරකම් වේ. එසේ නම්, පරිසරය අපවිත්‍ර කිරීම් ගැන හඬ මොර දෙන අය මේ ක්‍රියාවලියේ කොටස් කරුවෝ නොවෙතිද? බාහිරයට දෙසන බණ තමා වෙතට යොමු කළොත්, හිතට එකඟව ‘මම පරිසර දූෂකයෙක්මි’ යන්නෙන් බැහැර විය හැක්කේ කාටද?

මෙතනදී පරිසර දූෂණය යන වචනය ද ‘නිර්වචනය’ කරගත යුතුය. ඉතාම සරලව කියතොත් හොඳට තිබෙන පරිසරයක් අපවිත්‍ර කිරීම යයි ගත හැකිය.මේ අපවිත්‍ර කිරීම යනු කුමක් ද? යම් තැනකට අදාළ නැති දේ, එතැන තැබීම ම අපවිත්‍ර කිරීමකි. ප්‍රමාණාත්මකව මේ තත්වය ඉහළගිය විට, ජරා වෙලා, දූෂණය වෙලා, ආදී කියමන් භාවිත වේ.

පරිසර දූෂණයට නිර්වචනයක් උගතුන් ගෙන් ඇසුවොත්, ජ්‍යාත්‍යන්තර දර්ශක, පරිසර නීතියේ අනුමත කල ප්‍රතිශත හෝ මිලියනයක තිබිය හැකි කොටස් ගණන [Parts per million or PPM] අගයන් වැනි දේ ලැබෙනු ඇත. ඒ අගය හොයා ගැනීමට පරීක්ෂණ හා ගණනය කිරීම් වුවමනා වේ. පරීක්ෂණය සම්මත ක්‍රමය ක් ම නොවේ. වැඩේ සරල නැත. ඇහැට පෙනෙන, ඇඟට දැනෙන දේ ට එහා ගිය දේවල්

කළමනාකරණය ම, පාඨමාලාවකි. පොදු වහරට අනුව ඒක ත් "කෝස්" එකකි. ගමේ රටේ මිනිහාට මේ මට්ටම් දැනුවත් කරන්නේ කෙසේද? උත්තරය නොයෙකුත් මට්ටම් වල සම්මන්ත්‍ර,ණ වැඩමුළු, ක්‍රියාකාරකම්, විය හැකිය. තව තවත් වියහියදම්, ගෙවීම් හෝ තවත් අයට ආදායම්, ආදී සංකීර්ණ ක්‍රියාවලියක් ගොඩ නැගෙනු ඇත.

වැඩමුළු, දැනුවත් කිරීම්, කිසිවක් නරක නැත.එහෙත් වියදමට සරිලන ප්‍රතිලාභ මේවායින් ලැබෙන්නේද? සංවිධායකයන්ට, දේශකයන්ට ප්‍රතිලාභ ලැබෙන බව සැබෑය. එහෙත් සමස්තයේ ඵලදායිත්වයේ ඇගයීමක් ඇත්තේ ද? ඒවා හොයන්නට තවත් සමීක්ෂණයක් සඳහා තව වියදම් නො කළත්, සමාජයේ ගැවසෙන විට වැඩක් වෙන බවක් දැනේනේ ද?

වචන හරඹ සුලබය.එහෙත් තමන්ගේ ගෙදර කුණු ටික නිරවුල්ව අස්කර, අදාළ තැනකට බාර දෙන අය කෙතෙක් ද? වටපිට බලා කොතැනකට හෝ වීසි කර, "පුස් පාට් එකේ" වට පිට නො බලා, හිමින් මාරුවෙන සිරිත බොහෝ ය. කී දෙනෙක් බස් ටිකට් එක, ටොපි කොලය, සිගරට් කොටය නිසි තැනක් සොයා දමනවාද ? පොදු ස්ථාන වල රැස් වෙන කුණු කෙසේ වෙතත්, තනි පුද්ගලයන් හෝ, තනි තනි පවුල් ඒකක, මේවා ගැන දැනුවත් ද? හැඟීමක් වත් ඇත්තේ ද? අවබෝධයකින් කටයුතු කරන්නේ ද? ගුණ ධර්ම ගෙදරින් පටන් ගැනීම වඩා ම සුදුසු බව, කුඩා පන්තියේදී උගත් බවවත්, බොහෝ දෙනාට අමතකය.

එය එසේ යයි උපකල්පනය කළොත්, පොදු ස්ථාන භාර ආයතන, ඒවායේ ක්‍රියාකාරකම් වලින් පරිසරය කෙළෙසයි නම්, තනි පුද්ගලයනට තම ව්‍යයාමය අත හරින්නට සිතෙන එක පුදුමයක් ද? විශේෂයෙන් ජෛන්ද්‍රීය නො වන ද්‍රව්‍ය මුදා හැරෙන්නේ, විවිධ ආයතන වලිනි. ඒවායේ පරිමාවද, සංකීර්ණ ස්වභාවයද, රසායනික හානි ඇතිවීමේ ප්‍රවණතාවද, මහත් ය. 1980 දී පරිසර පනත හා නීති සම්මත වුනේ නමුදු, නේක තැන මේවා නො පිළිපදින අය, තම වරද යහතින්, කරදරයකින් තොරව, කරත් නම්, පරිසර නීතිය කඩදාසියක් පමණි.

ලොකු ලොකු රටවල්, හොරෙන්ම මහා සාගරයට අපද්‍රව්‍ය හලා සැඟවෙන බවත්, අපේ රටේ ලොකු සමාගම් හොර නම් ලියා, අනුන්ගේ අපද්‍රව්‍ය අර්ධ අමුද්‍රව්‍ය ලෙස නම් කර ආනයනය කළ බවත්, ආයතන වල කුණු අස්කිරීම් කොන්ත්‍රාත් ගත් අය, ඒ නො තේරූ කසළ රසායනික අපද්‍රව්‍ය ද සමග, ඈත ගම්වල කැළෑ බූටෑවල, වැව ඉස්මත්තේ, හෝ සොහොන් බිම්වල දමා යන තොරතුරු, ඉඳහිට ජන මාධ්‍ය වලින් දැන ගන්නෙමු. මේ කරුණ නොවෙන්නට, මගේ නිගමනය වන "<u>පරිසරය අපවිත්‍ර කරන්නා එම පරිසරයේම ජීවියෙකි</u>" යන්න නිවැරදිය. 'ඕනෑම රීතිය කට විශේෂිත අවස්ථාව න් ඇත' යන කොන්දේසිය උඩ, කලින් වාක්‍යය විශේෂිත අවස්ථාව කොට <u>ඕනෑම පරිසරයක් අපවිත්‍ර කරන්නා එම පරිසරයේම ජීවියෙකි යි මම කියමි.</u> අපවිත්‍ර

කරන්නා එම පරිසරයෙම නූනත්, එයට යම් අයුරකින් සම්බන්ධ වෙන, මේ ලෝක ධාතුවේම එකෙකි.

මගේ දැනුමේ හැටියට ඕනෑම පරිසරයකට යමක් මුදා හරිය හැක්කේ, තාවකාලිකව හෝ එම පරිසරයට ඇතුළු වීමෙන් පමණි. පුද්ගලයකු ඇතුළු නො වුනත්, ප්‍රක්ෂේපණයක් හෝ වීසිකිරීමක් ලෙසින් යම් දෙයක් පරිසරයට පැමිණීමෙන් පමණි.

සෑම ජීවියකුම තම පරිසරයට යම් අපද්‍රව්‍යයක් මුදා හරියි. ස්වාභාවික පරිසරයේ ඇති අන්‍යොන්‍ය බැඳීම මත, එකකු ගේ අපද්‍රව්‍ය අනෙකකු ගේ පරිභරණය සඳහා අවශ්‍ය තාවක් වනු දැකිය හැකිය. සුප්‍රසිද්ධ “ඩිස්කවරි නාලිකාවේ වන ජීවිතය” [wild life] නරඹන්නකුට, මේ ගැන අනන්තවත් උදාහරණ මුණ ගැසේ.

ගසක්, වියලී කොළ, පරවුණ මල්, නො පැසුණු -නරක් වුනු -ඉදුනු - ගෙඩි, බිම හලයි. සමහර විට අතු ද බිම වැටෙයි. කොස් ගස් යට, වැල කාලයට වැටී ඇති ගෙඩි වලින් උපදින ගඳ, මැසි මදුරු ගහනය සළකා, කොස්ගස සමහර කාලයට පරිසර දූෂකයෙකි යි කියමුද? කොස් ගස යට කුණු වෙන ගෙඩියේ ඇට ටික, වැස්සට සේදී, පිරිසිදුවට එකතුකරගත හැකි වෙන්නේ දින හෝ සති කීපයකිනි. එහෙත් එය ගඳ ගහන කෘමීන් එන තැනකි.ඉඩම් හිමියාට ඕනෑ නැතත් දුප්පතකුට එය අහුලා ආහාරයට ගත හැකි.ය. ශාකමය කොටස් දිරා, වේයන්ට කුහුඹුවන් ට ආහාර වෙයි. කොස් ගස් සිටුවීම පරිසර සංරක්ෂණය කි!.

ඌරා පරිසරයේ ඇති බොහෝ අපවිත්‍ර දෑ ගිල දමයි; අල වර්ග [කළාදුරු පවා], කුඩා සතුන්, සර්පයන්, හෝ මළකුණු කා දමයි. උගේ ළඟ අපිරිසිදු ය. එහෙත් ඌරා පරිසරය පිරිසිදු නො කරන්නේ ද? ගිල දමන සියල්ල ගබඩා කරන ඌරෝ ඇද්ද ? උන්ට වසුරු, මූත්‍රා, පහකරන්න ට ඕනෑ නැද්ද? උගේ වසුරු ආදිය හොඳ ද්‍රව්‍යද අපද්‍රව්‍ය ද? ගමක් ආසන්නයේ ඌරු ගාලක් පවත්වා ගෙන ගිය අයකුට විරුද්ධව, මහා ජන හඬ නැගීමක් හා නඩු පවරන කතාවක් පුවත් පතක දුටිමි.

නගරයේ වෙළඳ පළේ, නගර සභාවට කළමනාකරණය අපහසු වුණු, කුණු වූ එළවලු සියල්ල අනුභව කළෝ ඒ ඌරෝ ය. ගාලේ හිමිකරු ඒ කුණු එළවලු එකතු කරනා විට, ඔහුට තුති කළ කෙනෙකුන් ගැන නම්, කියවුනේ නැත. ඒවා ප්‍රවෘත්ති නො වේ. බුදින පරිමාවෙන් ශරීර පරිමාව ඉතාම වේගයෙන් වැඩි කර ගන්න සතා ඌරා ය. ඌරා හලන වසුරු පරිමාව, උගේ පරිමාවෙන් සුළු ප්‍රතිශතය කි. මේ නරක ඌරු ගාලේ ඌරන්ගේ මස් කෑවේ, ඒ පරිසරයෙම අය හා වැඩිම උනොත් අසල නගරයක කඩයෙන් මස් ගෙන ගිය කෙනෙකි. මේ ඌරු වසුරු ගඳේ ගැටුලුව ඇති වුනේ, ඌරාට නිදහසේ ඇවිදිමින් කැමති තැනක බෙටි හලන්නට ඉඩ නො දී, ගාල් කර තැබීම නිසා ය.

ඕනෑම දෙයක් එක තැන වැඩියෙන් තිබෙන විට එය ඇසට පෙනේ; නහයට දැනේ. සාන්ද්‍රණය දූෂණයේ හේතුව හා තනුකනය විසඳුම සේ කියවෙන්නේ ද මේ නිසාය. ඒ නිසා පරිසරය අපවිත්‍රවීම වර්ග කිරීම ලෙහෙසි නැත.

කබර ගොයාද කසළ ශෝධකයෙකි. අනාදිමත් කාලයක සිට, කබරගොයින් මැරීම තහනම් ය. කෘමි සතුන් කා දමන උං, ගොවියා ගේ මිතුරෙකැයි කියනු ලැබේ. මළ සතුන් පවා අනුභව කරන නිසා, උං පරිසරයට වැදගත් රාජකාරියක් ඉටු කරයි. කබර වසුරු පෑගුනහොත් එතැන කුණු වෙනවා යයි, අපි කුඩා කාලයේ අසා ඇත්තෙමු. කාරණයකට පිටතට යන කෙනෙක් පාවහන් පැළඳ ගියත්, ගෙදර දොරේ වැඩ වලදී පාවහන් පැළඳීමක්, එකල නොතිබුණි. [හැමවිටම සෙරෙප්පු පැළඳීම ඇති කළේ බාටා සමගමය. දැන් පාවහන් නැතිව එළිමහනක ඇවිදින්න බැරි තරමට මිනිසුන් අතර මං වී ඇත.] කබර වසුරු පෑගුනොත්, වහාම වතුරෙන් සෝදා, කහ සහ පොල්තෙල් ආලේප කිරීම අපේ ගම්වල බෙහෙතය. එවිට එතැන වන වෙන්නේ නැත. එහෙත් කබරගොයා අපවිත්‍රකාරකයකු ලෙස කවුරුන් වත් සැළකුවේ නැත.

රටේ ඕනෑම පළාතක වසන කපුටා ද අසුචි, මළ හා නො මළ සතුන් ද කා දමන්නෙකි. උං පරිසරය පිරිසිදු කරන සතකු ලෙස, අපේ පාඩම් පොතේ තිබුණි. නගරබදව, රෑන් වශයෙන් කපුටන් ලගිනා ගස් ළඟ, උන්ගේ වර්චස් ගඳ තදින් දැනේ. එහෙත් හොඳ වෙලාවට, කපුටන් විනාශ කර පරිසරය පිරිසිදු කරන කතා ඇසෙන්නේ නැත. සමූහ වාසයක් අවශ්‍ය නොවෙන, සුළු සංඛ්‍යාවක් එක ගසක ලගින්නට තරම් උස ගස් බහුල ප්‍රදේශ වල, මේ ගඳ ගහන ගැටලුව නැත. ප්‍රශ්නයක් වෙන්නේ කපුටු ගහනයට අවශ්‍ය තරම් උස ගස් නොමැති තැන් වල පමණි.

අපට පෙනෙන මේ හැම සතුන් හා උන්ගේ කසළ අස් කරන්නේ කවුද? බොහෝ කුඩා සත්තු වෙන සතුන් ගේ වසුරු හා මළ සිරුරු බුදිති. දාමයේ පහළම කෙළවරේ ඉන්නේ කුහුඹුවන් ය. මෙතරම් ගඳ අසුචි කන, කුහුඹුවන්ගේ අසුචි ගඳ ඔබට දැනී ඇද්ද? සතුන්ගේ පරිමාවට වඩා අසුචි පරිමාව කුඩා නිසා කුහුඹු අසුචි ප්‍රමාණය ඔබට නොදැනේ. ඒ නිසා කිසිවෙක් ඒවා නො සළකයි. නොයෙකුත් වන සතුන් ගේ වසුරු හා මළකුණු, ඇට කටු ද ඉතිරි නොවෙන සේ වනය පිරිසිදු කරන්නේ, මළ සතුන් ගේ ඇට කටු ද හපා කන ඉත්තෑවන් හා කුහුඹුවන් විසින් බව, 'වන ප්‍රවාහය' පොතේ 'මායිම් ප්‍රදේශය' පාඩමේ, ලංකාවේ ඊසාන දිග වන බිමේ විස්තර කියන, ජෝන් ස්ටිල් කියා තිබේ. සත්ව කොටස් වැඩිපුර ම කුහුඹුවන්ටත්, ශාක කොටස් වේයන්ටත් ආහාර වෙන නිසා, වනයේ භූමි පෘෂ්ඨයේ අපිරිසිදුවක් අප ඇස ගැටෙන්නේ, මේ සතුන්ගේ ක්‍රියාකාරිත්වය යම් තැනක ඉවරවෙන්නට පෙර, අප එතනට ගියොත් පමණි.

මේ සියල්ල වෙත මා ඔබ කැඳවා ගෙන ගියේ සොබා දමේ තුලිතතාවය පෙන්වන්නටය. සොබාවික පරිසරයේ දී ගහ කොළ, සතා සීපාවා , උරගයා, සර්පයා ආදී සියල්ලෝ, කුඩාම කුහුඹුවා දක්වා උනුන්ගේ ආහාර දාමයේ බැඳී, තුලිතව ජීවත්ව මියෙති. යම් යුගයක මේ තුලිතතාව බිඳී ගියේ නම් තාවකාලික ගැටළු ඇති වුනත් ඒවාද ක්‍රමයෙන් තව තවත් ගැටළු හා ව්‍යසන හරහා ම සමනය වී යයි. ඒ සඳහා කාලයක් ගත වේ. සංවිධිත සමාජයේ දී, මේ තුලිතතාව බිඳින ක්‍රියාකාරකම්, පරිසරයට හැඩ ගැසෙන්නට ඉඩක් නො තබාම, නුසුදුස්ස දිගින් දිගටම.කරගෙන යන නිසා, ප්‍රශ්න වැල් ගණනක් ඇති වේ.

කිසිම ජීවියෙක්, පරිසරයෙන් නොගත් යමක්, පරිසරයට එකතු නො කරයි. මූල වශයෙන් එකම වුනත්, පාට, සුවඳ, පෙනුම ආදී වෙනස් කම් නිසා, මේ භාර කරන දෙයට අපි වෙනස් නම් කියමු. වෙනස් ලෙස සළකමු. තමා පරිසරයෙන් උකහා ගත් දෙය පරිහරණය කොට, අනවශ්‍ය දේ බැහැර කිරීම, හැම ජීවියකුටම පොදු ලක්ෂණයකි. එකකුට අනවැසි දේ අනෙකකුට ඇවැසි නිසා, නිරතුරුවම වෙනස් වෙතත්, පරිසරය තුළ ගතික සමතුලිතතාවක් පවතියි. ඒ තාක් කල් පරිසර දූෂණයක් ඇති නොවේ. ප්‍රශ්වාශ වාතයෙන් කාබන් ඩයොක්සයිඩ් හා ජල වාෂ්ප ප්‍රධාන වශයෙන්ද, අනෙකුත් ඓන්ද්‍රීය ද්‍රව්‍ය බිඳක් ද, අධෝ වාතයෙන් කාබන් ඩයොක්සයිඩ්, මීතේන් හා හයිඩ්‍රජන් සල්ෆයිඩ් මිශ්‍රණයක් රැඳි, ස්වල්ප ප්‍රමාණයක වෙනත් වායු ද, වාතලයට මුදා නොහරින, පරිසර හිත කාමියකු කිසිසේත් සොයා ගත නො හැක්කේ ම ය.

ලේ බින්දුවක් බොන මදුරුවා සංහාරය කළ යුතු වුවත්, ගේ දොර කඩා බිඳ දමන, මිනිසුන් මරා දමන, වගා වනසන වල් අලියා [සමාවෙන්න වන අලියා ; දැන් ඉන්න උන් වල් නැත. උන්ගේ ඇඟෙහි වන සැදී ඇත.!] රැක ගත යුතු සත්වයෙකි. වල් යනු කැලෑ අර්ථයම ඇති පදයක් බව නොදත්, ආචාර්යවරයකු එකතු කළ යෙදුමකි 'වන අලි' පදය. වල් අලියා හානි කාරකයකු වුවත්, මදුරුවා හානි කාරකයකු නොවේ. ඌ බොන ලේ බිඳුවකින් කිසිවකු මිය යන්නේ නැත. එහෙත් නොයෙකුත් වයිරස් වල වාහකයකු වෙන බැවින්, උගෙන් ද අපට මිදෙන්නට වුවමනාය. දැලකින් ආවරණය වී සිටින්නට හෝ, විසර්ජක ද්‍රාවණයක් සිරුරේ ගල්වා ගෙන හෝ, අතින් තලා දමා හෝ, ගැලවෙන්නට පුළුවන් මදුරුවා, සංහාරය කළ යුතුය. කන එකා නොව සංහතියම වැනසිය යුතුය. බෝවෙන ස්ථාන සොයා ගොස්, උන් බෝවීම වැළැක්විය යුතුය. මේ සඳහා පරිසර හිතකාමීන් ගේ උද්යෝගය වසරකට වරක් පමණ දැක ගත හැකිය. මානව හිමිකම් සුරකින්නන්ගේ සිට, අටානුවක් සුරකින සංගම් අතර, ජෛව විවිධත්වය වෙනුවෙන් මදුරුවන් සුරකින්නන්ගේ සංගමයක් වුවද, ඩොලර් ලැබේ නම් මේ ශ්‍රී ලංකාවේ බිහිවෙනු ඇති යයි, මට සිතෙන්නේ, දේශයට ද්‍රෝහී නොයෙක් සංගම්, ඩොලර් වලින් යැපී, පෙළපාලි සටන් පාඨ දක්වනු නුදුටුවා සේ සිටින උදවිය,

එක එක කණ්ඩායම් ලෙසින් මේ රට පාලනය කරනු, වසර ගණනාවක්, මවිසින් නිරීක්ෂණය කර ඇති හෙයිනි.

මදුරුවන් නො මරණ, මකුළු දැලක් කඩන්නට දෙවරක් සිතන, උපාසක බෞද්ධයෝ ත්, වියලී වැටුන කොලයක රැඳි දිය බින්දුවක මදුරුවන් බෝ වෙතියි සිතා, මහජන සෞඛ්‍ය පරීක්ෂක ගේ උදහසට - නඩු පැවරීමේ තර්ජනයට බියෙන්, පසු කාලයක පොහොර වන කොළ පවා, නිකරුනේ පුළුස්සා දමති. එමගින් නයිට්‍රජන් ඔක්සයිඩ් හා කාබන් ඩයොක්සයිඩ් යම් ප්‍රමාණයක් වාතයට එකතු කර, අළු පමණක් මිහි මත රඳවා, පරිසරය රකිති. සතකු ගේ වාස ස්ථානය සහමුලින් විනාශ කිරීම, ඒ සත්ව වර්ගය සමූල ඝාතනය කිරීමකි. ලේ බොන එකා අතින් ගසා නො මරා, මුළු සංහතියම වඳ කිරීමේ මහා ජාතික කර්තව්‍යයට සහභාගී වීම, අකුසල කර්මයක් නොවන්නේ, චේතනාව කුණු අස් කිරීම ලෙස අර්ථ ගැන්වූ විටය. හරියට විග්‍රහ කළොත්, කුණු අස් කරන්නේ, බෝ වීම සම්පූර්ණයෙන් නැවත්වීමට සිතා ගෙනය. අවුරුදු ගණනාවක් තිස්සේ ‘බැනර්’ ගහලත්, මේ පරමාර්ථය ඉටු නොවුනත්, චේතනාව මදුරුවන් බෝ වීම වැළැක්වීම ය. චේතනාව සඟවා කර්මය කිරීම, තම සිත රවටා ගැනීමක් පමණි. ජීවත් වීමේ දී, සීයට සීයක් ධර්මානුකූල වන්නට, පෘථග්ජන අපට බැරිය..

නිර්වාණ සම්පත්තිය ඉතා උතුම් ය. මඟ පළ වඩන යෝගාවචරයා විසින් ආහාර සැකසීම නුසුදුසු යයි මම සිතමි. ඒ නිසා, එවන් අයකුට පින්ඩපාත දෙන්නටත්, පෘථග්ජන අය සිටිය යුතුය. ඒ නිසා හැමෝටම නිවන් දකින්නට ඉඩක් නැත. සත්වයන් ඉතා සුළු පිරිසක් නිවන් දකින බව බුදුන් වහන්සේ පවසා ඇත. එහෙත් අද ලංකාවේ සෝවාන් පන්ති වලින් සහතික ලත් අයද බොහෝ වෙත් ල. පුහ්!

සියවස් ගණනක් ලංකා බෞද්ධයෝ, මදුරුවකු පිඹ හෝ පිසදා පළවා හරින්නට පුරුදුව සිටියහ. එකා දෙන්නා බැගින් නම් එසේ වුවත්, කණ්ඩායම් සේ එන විට, දුම් ගසා පලවා හැරීම ආදියෙන් තමා ආරක්ෂා වීම මිස, සොයා ගෙන ගොස් මදුරු වාසස්ථාන විනාස කිරීමේ ක්‍රමයක් එදා තුබූ බවක්, මා නම් දන්නේ නැත. වැඩිපුර දෂ්ට කරනු ලබන විට, අතින් පහර දෙන්නේ ද, පෘථග්ජනයා තුළ ඇති අකුසල මූලය, යම් සිදුවීම් තුලින් ඉස්මතු වීම නිසාය; ක්‍රෝධය හෝ වෛරය පෙරදැරි කරගෙන නොවේ. ඩෙංගු මර්දන ව්‍යාපෘතිය සඳහා, සති අන්තයට කලිසම්, ටී ෂර්ට්, තොප්පි ඇඳ පැළඳ, ගැහැණු පිරිමි ශ්‍රමදාන කරන්නේ, චේතනාවෙන් තොරවද? කැලි කසළ ඉවත් කිරීම හොඳ වුවත්, බැනරය කියන්නේ ඩෙංගු මර්දනය වෙන විට, අරමුණ මදුරුවාගේ වාසස්ථානය විනාස කිරීම මිස, වෙන මොන චේතනාව දැයි මට සිතේ.

මදුරුවාගේ ජීවිතයට වඩා, මගේ ජීවිතය මට වටිනා නිසා, අවස්තානුකූලව පිඹ හැරීම, තලා දැමීම, ගෙදර ජනෙල් වැසීම, දුම් ඇල්ලීම ආදී ඕනෑම ක්‍රියාවක් මා

කරන්නේ, පින් පව් හෝ සමාජ සේවය හෝ පිණිස නොව , මා හා මගේ අය වෙනුවෙනි. අවශ්‍ය තාවයේ දී, එයින් එහා ගිය හරි වැරදි තේරීම් හෝ, අන් අය පෙළඹවීම, උද්යෝග පාඨ තේරීම ආදිය ගැන මට සිතෙන්නේ නැත. මා මෙහි ලියන්නේ බොහෝ දෙනා කරනා දේ දකින විට, මට සිතෙන හැටි ය.

තැනට අදාළ නැති දෙය තිබීම ම අපවිත්‍ර වීම කි; එහි තර්කයක් නැත. අති මහත් ප්‍රමාණයෙන් ඒකරාශී වුනු විට, අවස්ථානුකූලව වායු දූෂණය, ජල දූෂණය, පාංශු දූෂණය ආදී නම් යෙදේ. එහි වරදක් නැත. එහෙත් ඒ සියල්ල අලුතින් නිපදවුණු කිසිවක් නිසා නොව, පරිසරහිම ඇති දේ ස්වභාවය වෙනස් වී පරිසරයේ සීමිත ප්‍රදේශ වල හෝ ජල මූලාශ්‍ර වල තැන්පත්වීම ම ද නොව, එහි සාන්ද්‍රණය අසමතුලිත මට්ටටමකට ඒමෙන් සිදු වෙයි.

දිය පාරකට ගසක කොළ හෝ, ඉදුණු ගෙඩි වැටීම ජල දූෂණය නොවේ. මඳක් ඈතින් ඒ දිය පාරෙන් දිය දෝතක් ගෙන බොන්නට වුවද පුළුවන. දිය පාරක දිය බොන සතා, එහි පෙරලී වසුරු ද හලා යන්නේ ය. ගලා යන දියේ රැළි නැගීම, ගල්වල හැපීම ආදියෙන් ඔක්සිකරණය සිදුවී, විෂ නැසී, තව දුරක් ගලා ගිය පසු, තවෙකෙක් භාවිත කරයි. වතුර අඩු කාලයේ සතුන් ට පවා වසංගත හැදෙන්නේ, ජලයේ ඇති නුසුදුසු ද්‍රව්‍ය වල සාන්ද්‍රණය ඉහළ යන නිසාය. පිරිපහදුවකින් පසු නල ජලයේ එන වතුර පවා 100% විෂබීජ හරණයකට ලක්ව නැත. එහෙත් පරීක්ෂණ හා ගණනය කිරීම් අනුව කොටස් මිලියනයකට නුසුදුසු දේ කොටස් කීයක් ඇත්තේ දැයි බලා, සම්මත සංඛ්‍යාව ට අඩුනම් පිරිසිදු ජලය ලෙස පොදු පරිභෝජනයට බෙදා හරිනු ලැබේ.

සාන්ද්‍රනය නැතහොත්, වැඩි ප්‍රමාණයක් අවශ්‍ය නැති දේ එක්වීම හැර, පරිසර දූෂණය යන්න මතයක් පමණි; පරිසරයට එකතු වෙන්නේ පරිසරයේම දේවල් නිසාවෙනි.

කුණු යනු අපම විටෙක ළඟට ගෙන ඉවත දමන දේ හෝ, අපෙන් ම ජනනය වෙන දේ පමණි. වායු සමනය කළ, දැඩි සත්කාර ඒකකයේ ඇඳෙන් බිමට නො බැස ගතවෙන කීප දිනට පසු, කකුල සෝදන විට, යටි පතුලේ කුණු ඇඹරෙනු දැනේ. එය පරිසරයෙන් ආ කුණක් නොව, අපේ ම අපිචර්මයේ මිය ගිය සෛල ගොන්නයි.

සංවිධිත සමාජයේ අධි පරිභෝජනය නිසා, අනවශ්‍ය දේ එකතුවීම වැඩිය. එසේම භූමි ප්‍රමාණයට සාපේක්ෂව, ජන හෝ සත්ව ගහනය වැඩි වුන විට, මේ තත්වය ඇතිවේ. ගොඩ ගැසෙන කුණු බොහොමයක් එතුම් හා දැවටුම් ය. අලෙවි කරණයේ දී, ආකර්ශනීය හා කල් පවත්නා එතුම් වලට ලැබෙන අගය වැඩිය. නිකම් දෙන තෑග්ග වුනත්, ලස්සන කොලයක ඔතා පීත්ත පටියකින් ගැට ගසා දීම සිරිතය. එහෙත් තෑග්ග ගන්න කෙනා, එය ඉරා තෑග්ග අතට ගත් විගස, එතුමේ අලංකරණය සැණෙන් අපද්‍රව්‍යයක් බිහි කරයි. දැවටුම් කඩදාසි වල මල් කැටයම් ආදිය ඇතත්,

කුණු මල්ල [garbage bag] කළු, කොළ හෝ කහ වර්ණයන් මිස අලංකරණ වලින් තොරය.

බුදුන් වහන්සේ ගේ කියමන අනුව අප සිරුර ද කුණු කොටස් දෙතිසකි එයින් කෙස්, ලොම් හා, නිය හැරුණු විට, අන් සියල්ල හම නම් බෑගයේ දමා තිබේ. අනිත් කුණු මලු මෙන් නොව, මේ මේ කුණු මල්ලට යොදන, හැඩ වැඩ විචිචූරණ අනන්තය. සම රැකගැනීම අවශ්‍ය ය. හැඩ ගැන්වීමේ ක්‍රම මෙන්ම, අවශ්‍යතාව අත්‍යවශ්‍ය බවට හරවන ව්‍යායාමයන් ද, බොහෝය. මේ ශරීර කුණු බෑගය ගැන, එක එක කාල වල ඇසුව දුටුව, එක එක කතා මට මතකය

"දුරටත් ලස්සන ළඟටත් ලස්සන ; රැජිනක සේ රුව වඩවන ; සිනමා නිළියන්ගේ රුව වඩවන ; "  සබන් වර්ග අප පාසල් යන සමයේ තිබුණි.

"අම්මයි දුවයි අඳුන ගන්නට බැරිවෙන" සබන් තව කාලයක තිබුණි.

පසු කාලයේ සබන් පමණක් නොව ආලේපන වර්ග ගැනද බොහෝ වර්ණනා ඇසුනි ඇස ගැසුණි.

" ඩාර්ක් ස්පොට් නැති "

" ලේසර් ලයිට් එකක් වැනි"

" චූටි පැටියාගේ සිනිඳු සමට"

"පැටියාගේ සොෆ්ට් සමට"

"සැමදා දිදුලන සිනිඳු සමක්"

" ස්ටිකි නැති හෙල්දී සමකට "

" සුසිනිඳු සුවඳැති සමක්"

"බවුන්සි සමකට " [තව කල් යන විට 'ස්පිනිං සමකුත්' එයි දෝ !]

**තව සමහර ඒවා මට මග හැරෙන්නට ද ඇත**

.

## 7. සම්මතය හා විකෘතිය

සිරුරේ බර, යටි පතුල මත රැඳෙන සේ සිරුර කෙළින්තබා ගෙන ඉන්නා විට සිටගෙන ඉන්නවා යයි අපි කියමු. දන හිස් නමා පශ්චාත් භාගයට හෙවත් තට්ටමට පමණක් හෝ, කලවා වලට හෝ ඉන් කොටසකට, බර වැටෙන සේ ඉන්නා විට, ඉඳගෙන ඉන්නවා යයි අපි කියමු. බසෙහි මේ වදන් වලට මේ අරුත් දී ඇත්තේ, හෙළ බසෙහි සම්මතය යි .

බොහෝ දෙනා භාවිතා කරන පරිද්ද දැනගෙන, අපිදු ඒ ඒ අර්ථයන් සිතින් ගන්නෙමු. අපේ අදහස් කීමටද එසේ භාවිතා කරමු. සිට ගැනීම හා ඉඳ ගැනීම යන පද වලින් අදහස් කරන දේ, මා මනසට ගියේ කවදා දැයි, මට සිහිපත් කළ නොහේ. එහෙත් පාසලේ දී කුඩා දරුවකුව සිටි අවදියේ, අපට පාඩමට අවධානය නැතිවී, නිදි මතේ වගේ හෝන්දු මාන්දු ගතියෙන් ඉන්නා විට, ගුරුතුමා වේවැලෙන් මේසයට තට්ටු කර, "සිටින්" " ඉඳින්" කියනවිට දෙපයින් නැගී සිටින්නත්, බංකුවේ වාඩි වෙන්නත්, අපට පුරුදු කරන ලදී.

සරඹ වලට ක්‍රීඩා පිටියට ගිය වෙලාවට " සීරුවෙන් සිටින්" කීවාම, දෙපා ළං කොට, සිරුර කෙලින් තබා, මාශ පේශි තද කර ගෙන, සිට ගෙන ඉන්නටත්, "පහසුවෙන් සිටින්" කී විට දෙපා පළල් කොට, පේශි ලිහිල් කොට, සිටගෙන ඉන්නටත්, " ගමනේ යා" කීවිට අත් දෙක පද්දමින්, එක සමාන දුරින් අඩිය තබමින් යන්නටත්, අපි පුරුදු කරනු ලැබුවෙමු. සීරුවෙන් ඉන්නා විට පමණක්, ඊළඟ විධානය ලෙස 'ගමනේ යා' කීවා මිස, පහසුවෙන් ඉන්නා කිසිවිටෙක, සීරුවෙන් සිටින්නේ නැතිව ඊළඟ විධානය 'ගමනේ යා' වූයේ නැත. මට මේ බව සිහිවෙන්නේ දැන් ය.

කල්පනා කළාම තේරෙන්නේ, කකුල් දෙක දෙපසට පළල් කර ගෙන ගමනේ යාම අපහසු වැඩක් මෙන්ම, මොකක් දෝ ලෙඩක් හැදිච්ච එවුන් වගේ පෙනෙන නිසා, ගුරුතුමා එසේ නො කියන්නට ඇති බවය.

මේ අනුව "සිටීම" යනු දෙපතුල් වලට සිරුරේ මුළු බරම වැටෙන සේ නැවතී සිටීමත්, ඉඳීම යනු ආසනයක හෝ බිම වාඩිවී සිටීමත්, 'යෑම' යනු කකුලෙන් කකුලට බර මාරු කරමින්, චලනය වීම බවත් මම දැන් විග්‍රහ කරගමි.

එහෙත් අපේ බස් වහරේ, "ඉඳගෙන සිටී" "සිටගෙන ඉඳියි " "යමින් සිටී" වැනි යෙදුම්, අර්ථ විග්‍රහයේ කිසිදු දෝෂයක් නැතිව, අපි භාවිතා කරමු. අපේ භාවිතය අන්‍යයෝ ද කිසිත් දෝෂයක් අඩුවක් නැතිව, අප අදහස් කරන දෙයම, අවබෝධ කරති. බසෙහි එක වදනකට අරුත් කීපයක් තිබීම හා, එක අරුතක් සඳහා වදන් කීපයක් යොදා ගන්න නිසා, මේ සංසිද්ධිය වෙයි. එහෙත් විග්‍රහ කළොත්, <u>කලින් ඡේදයේ දැක්වුණු</u>

අර්ථ නිශ්චිතය, වෙනස් විය නොහැකි ය,යි සැලකුව හොත්, 'ඉඳගෙන සිටීමත්' "සිටගෙන ඉඳීමත්" කෙසේ වත් විය නොහැකි, අභව්‍ය ඉරියව් පිලිබඳ ප්‍රකාශ, නො වෙන්නේද?

මම මේ ගැන තර්ක කරන්නට ඔබට යෝජනා නො කරමි. මේ මෑතක් වන තුරුම, මේ යෙදුම් පිලිබඳ බින්දු මාත්‍රයක සාංකාවක්, මට හැඟුනේ ද නැත. එහෙත් **කිසිදූ** ගැටලුවකින් තොරව, අප භාවිත කරන මේ වදන් හා යෙදුම් වල, පරස්පර භාවයක් ඇත. එහෙත් අපට එය නො දැනෙන්නේ, සම්මතයේ එය හොඳින් ස්ථාපිත වී, අපේ මනසේ ද පැළපදියම් වී ඇති නිසා යයි මම යෝජනා කරමි. කැමැත්තෝ සිතා බලත්වා!.

මෙය සිංහල බාසාවේ සම්මුතියේ ඇති, විකෘතියක උදාහරණයක් සේ දකිමි. බස යනු එය වහරන සමාජයේ සම්මුතියකි. බසේ සම්මුතිය, කතා බහේ දී යෙදුව විට වරදක්වේ නම්, එය ද විකෘතියකි.

මා, මේ පරිච්ඡේදයේ **කිසිදූ** යන වදන නිවැරදිව යොදා ඇත. "ද" හා "ත්" යන නිපාත පද  කිසි යන පදය හා එක්වුණු විට 'කිසිද' හෝ 'කිසිත්' ලෙසින් ලියැවෙයි. කිසි ද යන අරුතම සඳහා, කිසිදූ යන ස්වරූපයෙන් ද ලියනු ලැබේ. මේ මෑතක් වෙන තුරු "කිසිඳු " යන පදයක් භාවිතා වෙනු නො දුටුවෙමි. එහෙත් යම් කතාවක දී, ජනාධිපතිවරයකු වරදවා කිසිඳු පදය යෙදුව පමණින්, දෙරණ නාලිකාවේ ප්‍රවෘත්ති ප්‍රකාශිකාවක්, කිසිඳු කියන්නට පටන්ගත්තා ය. නොයෙක් විට ප්‍රවෘත්ති කියවන විට ලියන, යට පේලියේ, කිසිඳු යන පදය නිතරම ප්‍රදර්ශනය වේ. 'වීර', 'උදාර' දෙක එක්ව සෑදුනු 'වීරෝදාර' දැන් වීරෝඩාර ලෙසින් වහරන අය බොහෝය. මේ දෙකම වී ඇත්තේ බස නිසි ලෙස නොදැන, දෙස අමතන ප්‍රසිද්ධ අයගේ නොදැනුවත් කම් නිසාය. වහර අනුව බස සැදෙතැ යි යන න්‍යාය අනුව, කාලයාගේ අවෑමෙන් මේ වැරදි යෙදුම, හරි වෙන්නට ඉඩ ඇත.

ශ්‍රව්‍ය දෘශ්‍ය දෙකම සහිත රූපවාහිනී මාධ්‍යයේ ඇතැමුනට, බසේ එතරම් ම වගක් නැත. අප කුඩා කාලයේ, ගුවන් විදුලිය පමණක් තිබුණු කාලයේ, එහි ඇත්තෝ බසේ නිවැරදිබව මෙන්ම, පැහැදිලි උච්චාරණයට තැනක් දුන්නෝය. සිංහල මරණ, "සෙන්ඩ් කරන" නිවේදිකාවන් ඉන්නා මේ කාලයේ, මේවා ගැන මොන කතාද? විකෘතිය රජ වී, සිංහලය ඉංග්‍රීසියෙන් ගොඩනැගුනු බාසාවක් කියන්නට, අනාගත භාෂා පර්යේෂකයන්ට නිබන්ධ ලියන්නට වෙන යුගයකුත් ඒවි දෝ අප්පා! එහෙත් ගුත්තිල කාව්‍යයේ වෙණ වැනුම කවි ටික, එසේම රසාලිප්තව ඉංග්‍රීසියෙන් ලියන්නට හැකි අයකු සොයා ගත හැකි දැයි, මම "සෙන්ඩ් කරන" අයගෙන් අසමි.

මේ විකෘති වල දුක දරන්නෝ, බස උගන්නා දරුවෝත්, ඔවුන්ට නිවැරදි මග කියන්නට වෙර ගන්නා ගුරුවරු ද වෙත්. මා ද දරුවකු රැගෙන සහභාගී වූ <u>ත්‍යාග ප්‍රදානෝත්සවයක</u> විදුහල් පතිනියක වාර කිහිපයක්ම **<u>ප්‍රධානෝත්සවය</u>** කී බව මතක් වෙන විට, ම විසින් පෙර වාක්‍යයේ කී කුලකයට අයත් ගුරුවරු සංඛ්‍යාව අල්ප නේ දැයි ද, ඉබාගාතේ යාමට හපන් මගේ සිත මගෙන් ප්‍රශ්න කරයි

කුඩා පන්තිවල දී ම ධාතුවකට ප්‍රත්‍ය එකතු වී ක්‍රියා පද සෑදෙන බවත්, ශබ්දයකට ප්‍රත්‍ය එකතු වී නාම පද සෑදෙන බවත්, අපට උගැන්විනි. නාම පද වර්ග පහක් ද, ඊළඟ පාඩම් වල දී කියා දෙන ලදී. මේවා ජාති නාම, ගුණ නාම, සංඥා නාම, භාව නාම, ද්‍රව්‍ය නාම ඈ විසිනි. බලු + ආ = බල්ලා ; බූරු + ආ = බූරුවා; ජඩ + ආ = ජඩයා; මෝඩ + ආ = මෝඩයා; කුහක + ආ = කුහකයා; මේ ජාති නාම හා ගුණ නාම පිළිබඳ උදාහරණ කීපයකි.

තවත් ඉහළට උගනිද්දී, උපමා ගැන කිය වුනේය; සඳ වැනි මුහුණ ආදී වශයෙන් ය. උක්ත වස්තුව උපමේය ද, සමාන කරන බාහිර වස්තුව උපමාවද බව කියා දෙන ලදී. මෙන්, සේ, වන්, වැනි, එව්, ආදී සම්බන්දය දෙන පද සමග නො යෙදූ විට, ඒවාට රූපක යයි නමක් ද උගැන්විණි. උපමා රූපක දෙකම අලංකාරයන් ය. රූපකාලංකාරය ගැන මතක හිටි කවියක් සැලලිහිණි සංදේශයෙන් ගෙන හැර පාන්නට අවසර!

“ සුනිල් වලා, නව සඳ, නිලුපුල්, පබළු - විමල් සක්, ගිජිඳු කුඹු, සිරිවැස බැබලූ

විපුල් පුලින, රඹ, සිකිගල, මුතු, ළදලු- ළකල් රන් ලියන සරනා බල යහළු

එහෙත් මෝඩ, ජඩ, කුහක, වැඩ කරන්නකුට හෝ බලු , බූරු ගති පෙන්වන්නකුට බල්ලා , බූරුවා, වශයෙන් රූපකාලංකාර හෝ මෝඩයා කුහකයා, ජඩයා, වැනි ගුණ නාමයක් හෝ යොදා හැඳින්වුවොත්, එය අපහාස කිරීමක්, පරුස වචන කීමක් වෙන්නේය. ඉච්ඡාවට හෝ හොඳ කීවොත් කිසිකෙනෙක් හ්ම් කියන්නේ නැත.

සාහිත්‍ය පාඩමේ දී අගය කරන, බාසා පාඩමේ දී කියා දෙන දේ, කතා බහේ දී නුසුදුසුය. මා ද වැරදි, බසද වැරදි, අපහාස කරනවා යයි මා ගැන සිතන අයද වැරදි? මේකත් විකෘතියක් නො වේද ?

රූප වාහිනී වල නොයෙකුත් වෙළඳ දැන්වීම් දිස් වේ. මිනිස්සු ඒවා බලති. ඒ නිසා ඒ බඩු මිල දී ගන්නේ ද, නැතිනම්, නොමිළේ රූපවාහිනිය පෙන්වීමට අවශ්‍ය වැය සපයා ගැනීම මිස, ඒවායින් පරිභෝජන හා මිළදී ගැනීම් රටා වෙනසක් වේද, එම දැන්වීම් රූප රාමු, ජන මනසට ඇතුළු වෙනවාද, බලපෑමක් ඇති කරනවාද, ආදිය දන්නා කෙනෙක් නැත. ඒ සඳහා සමාජ හා අලෙවි සමීක්ෂණ කළ යුතු වේ.

සමහර ඒවා කා වදින බව තේරුනේ, අල්ලාප සල්ලාප යේ දී " මානුෂීයවාදී" , "හිතට දැනෙන" බව කියවෙන නිසාය. මට සිතෙන පරිදි බොහෝ ඒවා කාටවත් ග්‍රහණය නොවී ඔහේ යයි. බොහෝ දැන්වීම් වලට කාන්තාවන් යොදා ගැනීම, රුවැති අය යොදා ගැනීම, ශරීරයේ ආකර්ෂණීය කොටස් හෝ, නිතර නිරාවරණය නොවන කොටස් වෙත කැමරා නාභි ගත කිරීම, වෙළඳ දැන්වීම් කරන අයගේ විශේෂ උත්සාහයන් බව, මම ලංකාවේ රූපවාහිනී දැන්වීම් වලින් නිරීක්ෂණය කර ඇත්තෙමි.

ස්ටුවර්ට් තේ/කෝපි ප්‍රවර්ධක දැන්වීමක, තරුණ යුවළක් තේ / කොපි බොති. ගැහැණු දරුවා පය පිට පය දාගෙන වාඩිවී ඉන්නේ, නිවී හැනේ තේ බොමින් ය. ඇයගේ ගවුමේ දෙපැත්තම පලලා ඇති බව ඇයට අමතක සේ ය. කැමරා ශිල්පියා තේ කෝප්පයට වඩා අවධානයක්, රූපය නාභි ගත කිරීමේදී දී ඇත්තේ, ඒ ළමයාගේ කලවා යුග්මයටය. හැම ගෙදරම පවුලේ සියලු දෙනා නරඹන වැඩ සටහන් මැද්දට මේවා පාත්වේ. ලංකා සමාජ සම්මතය අනුව වෙළඳ දැන්වීම් වල එසේ වීම සුදුසුය. එය ගණන් ගත යුත්තක් නොවේ.

නිළියන් ගායිකාවන් ගැවසෙන වැඩසටහන් වල ද, මේ පන්නයේ ඇඳුම් හැඳි තරුණ ළමයින් දැක ගත හැකිය. "රියලිටි "වැඩ සටහන් සේ හැඳින්වෙන, ගායනා තරග වලට එන දරුවෝ, ලස්සන ගවුම් ඇඳගෙන අවුත් ගී ගයති. අවසාන දස දෙනා අතරට එන විට ගවුමේ පන්නය, දෙපැත්තෙන් හැකිතාක් ඉහළට මසා නැති ලෙසකට වෙනස් වේ. යට සායක් නො හඳින, මේ විලාසිතා වලින් සැරසුව දරුවන්, ගයමින් ඇවිදින හෝ නටන විට, යට ඇඳුමේ වාටිය තෙක් ම නිරාවරණය වේ. දරුවන් සමග එන අයට හෝ ගෙවල් වල ඒවා නරඹන අයට, එය සාමාන්‍ය දෙයකි. අතීතයේ සිට, නාටිකාංගනාව සිය රූප කාය පෙන්නා, නරඹන්නන්ගේ කාම සිත් අවුළුවා, ජීවනෝපාය සලසා ගත් නිසා, මේ දරුවන් මේ මගට යොමු කිරීම යුතු දෙයකි යි, දැන් සම්මත වී ඇත්තේ ද?

බොහෝ මධ්‍යම පාන්තික සිංහල මනාලියන්ගේ හා, මගුලට සහභාගී වෙන තරුණ දූ වරුන් ගේ මෙන්ම, තරුණ අම්මලාගේ ද, හැට්ටයේ පසු පෙදෙස නූල් වලින් ගැට ගසා ඇත. මීට විසි තිස් වසරකට පෙර නොගැලපුණු දේ, අද ඒ පන්තියේ සමාජයේ පිළිගත් සම්මතය වී තිබේ.

<u>එහෙත් ලොකු මහත් වූ දුවක් ඇඳුම ඉරී, මේ ආකාරයකින් පිට හෝ කකුල් පෙනෙන සේ ගෙදර හිටියොත් අම්මාගෙන් ඇට 'හොඳ දෙකක්' අහන්නට සිදුවේ</u>.

සංගීත කණ්ඩායම් වල තරුණයෝ, අත් නැති ඩෙනිම් කමිස හැඳ හෝ, කමිසයක් නැතිව, මාල කිහිපයක් දමාගෙන, නිරාවරණ උඩු කයෙහි බාහු හා පපු මාංශ පේශි පෙන්නගෙන සිටිති. සමහර නැටුම් වලද උඩුකය නොවැසූ තරුණයෝ රඟති.

ආකර්ෂනීය මස් පිඩු නැති, හිඟෝටු කේඩෑරි සරීර ඇති අය ද, නැටුම් දක්ෂ නිසාම, ඉදහිට තෝරා ගැනෙති. මේ දර්ශනයේ යම්කිසි සිත් ගන්න ගතියක් ඇත.

තරුණ වයසේ දී සංදර්ශන, ප්‍රදර්ශන සඳහා නැතත්, මාංශ පේශි වර්ධනය කර ඇඟේ හැඩය හදා ගැනීම, ඒ වයසේ හැටිය. අපේ කාලයේ බිම් ව්‍යායාම හෝ, අත්තක එල්ලී ඉහළ පහළයාම නැත්නම් කොන්ක්‍රීට් කුට්ටි සාදා, මැද හිලකින් පයිප්ප කෑල්ලක් දමාගෙන එසවීම, ආදිය කෙරිණි. දැන් කාලයේ හන්දියක් ගානේ ඇති, කාය වර්ධන මධ්‍යස්ථාන, ව්‍යායාමාගාර හෙවත් ශ්‍රී ලංකා සිංහලෙන් 'ජිම්වලට' යන තරුණයෝ, ඇඟ පත හදා ගෙන, පේශි පුම්බා අභිමානයෙන් යති.

මේ දරුවකු, නෑදෑයන් ගෙදරට ආ විටෙක උඩුකය නොවසා ආවොත් 'පුතා ඇඳුමක් දාගන්න' යන විධානය හෝ 'ඇඳුමක් නැතිද' යන ප්‍රශ්නය අම්මා ගෙන් හෝ තාත්තාගෙන් දරුවාට එන්නේ ඒ තරම් ප්‍රසන්න ස්වරයකින් නොවේ.

තද සීතල දවසක් නොවේ නම්, නිවසේ ඉන්නාවිට උඩු කය වසන සිරිතක් මට නැත; හැඩ පෙන්නීමට නොව පුරුද්දටය. පපු මස් එල්ලා හැලෙන, උදරය පෙරට නෙරා ඇති, මහලු මට වුනත්, අමුත්තකු ආවොත් 'තාත්ති, කමිසයක් දා ගන්නෑ'යි බිරිඳ කරන්නේ සිහි කිරීමක් ද, විධානයක් ද, ආඥාවක් ද යි ඒ ඒ වෙලාවට ස්වරය අනුව සිතා ගත යුතුය. සිතීමෙන් තොරව ක්‍රියාවට නැංවීම මගේ සිරිතය.

බිරිඳ නො කීවත් සමීප නැති අයකු හෝ කාන්තාවන් ආවේ නම්, මට ද ඉබේටම මගේ උඩුකය වසා ගන්නට සිහිවේ.

කාගේ කොහොම දැක්කත්, කොයි ස්ථානයේ සිටියත් , සිරුරේ කෙස්,ලොම්, නිය, දත්, සම හා සමෙන් හෝ සමෙන් හා ඇඳුමෙන් වැසුණු මාංශයෙහි හැඩතල මිස, අපේ දෙතිස් කොට්ඨාශයෙන් වෙනත් කිසිවක්, කාටවත් නො පෙනේ. තරුණ ශරීර හා, රූප ලාවන්‍ය ඔස්තාර්ලාගේ වැඩකිඩ වලට භාජනය වූ ශරීර, ආකර්ශනීය වෙන අතර, අප වැන්නන් අසුබ භාවනාවට සුදුසුය. රංජක හෙවත් පොදු වහරේ 'ඩයි' යොදා කෙස්,ලොම් වල අසුබය අඩුකරන සමහර අය, හාස්‍යය සපයති යි මගේ විකාර සිත කියයි.

<u>මේවා බලන විට, අපේ සමාජයේ ඇඳුම හා සිරුර ආවරණය හෝ නිරාවරණය කිරීමේ සම්මතයේ ද, විකෘත බවක් තිබේ යයි මට සිතේ.</u>

වෙන රටවල සංස්කෘතීන් වෙනස් නිසා, ඔවුන්ගේ සම්මතයන් තවත් එහා ගියතැන්, සමහර රූපවාහිනී වැඩ සටහන් වල පෙන්වනු ලැබේ. "ලැටින් ඒන්ජල්ස්" හා 'බිකිනි ඩෙස්ටිනේෂන්ස්' වල තරුණියෝ, අත් ලේන්සු දෙකක වපසරිය නැති, ඇඳුම් වලින්

සැරසී සිටිති. ඒ රෙදි කොටස් ඇගේ තිබෙන්නේ, නූල් වලින් ගැට ගැසීමෙනි. ඔවුන් ගේ පසු ප්‍රදේශයෙහි පෙනෙන්නට ඇත්තේ, ඉනෙහි ඇති නූල පමණි.

මේ රූප දුටු මට සිහි වුනේ, අපේ ගමේ පොල් කඩන , කුඹුරු කොටන අය ඇඳි අමුඩය යි. ඔවුන්ගේ ද ඉනේ දිය නූල බැඳ ඇත. වර්ග අඩි දෙකක පමණ ලේන්සුවේ හුලස් කොන, නූල යටින් යවා උඩට ගෙන ඉස්සරහින් ත්‍රිකෝණාකාර වැස්මක් සහිතව, අනික් කොන දෙපරුන්ද අතරින් ගෙන දිය ලණුවේ ගැට ගැසූ විට, තට්ටම් දෙක සම්පූර්ණ යෙන් ම පෙනේ.

ඉදිරි පස දර්ශනයේදී, ගමේ එකා වඩා හොඳින් වසාගෙන සිටී. පසු පසින් යටි කය දෙස බැලුවොත්, බටහිර තරුණිය ගේ ද, අපේ ගමේ එකා ගේ ද, ඇඳුම් දෙකම සමානය. සංස්කෘතීන් දෙකක අවස්ථා දෙකක් පමණි. තව වෙනස් කම් දෙකක් ඇත.

පළමුවැන්න ස්ත්‍රී පුරුෂ භාවයයි.

දෙවැන්න වර්ණයේ හා  හැඩයේ වෙනසයි.

බටහිර එක ආකර්ශනීය හා කාමාසක්ත අරමුණු කැඳවන අතර, ගමේ එකාගේ පස්ස කිසිසේත් කාමසක්ත දර්ශනයක් නොවේ. [සමනල යයි කියන අයට කෙසේ දැයි නො දනිමි]

මෙය සංස්කෘති දෙකක සම්මතයේ ස්වභාවය යි. අපට හුරු දේ නිවැරදි හා නුහුරු දේ වැරදි ලෙස සිතන්නට අපි පුරුදු වී ඇත්තෙමු. ඒ සිතිවිල්ලම විකෘතයක් නො වන්නේද ?

සංස්කෘතීන් වෙනස් වුනත්, ප්‍රකෘතිය වෙනස් වෙන්නේ නැත. පැහැපත් සුන්දර එකේත්, දුර්වර්ණ අසුන්දර එකේත්, ඓන්ද්‍රීය අපද්‍රව්‍ය බැහැර කරන කසළ බට සවි වී ඇත්තේය; එය සත්‍යය යි.

සත්‍යය මෙනෙහි කිරීමෙන් සත්‍යාවබෝධය ලැබේ. සත්‍යාවබෝධය සඳහා අසුභ භාවනාව සුදුසු නමුත්, අසුභ භාවනාවට මේවා යොදා ගන්නට එපා! වැරදීමෙන්වත් කසළ බටය අමතක වුනොත් රාග සිත් උපදින්නට පුළුවන.!

සත්වයකු පුද්ගලයකු නැති බවත්, ඇත්තේ නාම - රූප දෙක බවත් අපි දහම් පොත්වල කියවා ඇත්තෙමු. බුදු දහමට ඇති ගෞරවය නිසා පිළිගත්තත්, මේ කතාව මට හරියටම තේරෙන්නේ නැත.

සිත කය දෙක එක් වුනු තැන සත්වයකු ඇතැයි මම සිතමි. සිත ඇත්තේ කොහිද යන පැණය, කුඩා කල සිට මගේ සිතේ තිබුණි. ඒ මගේ සිත තිබුණේ කොහේදැයි නො දත්තත්, ඒ උපකරණයේ හෝ ඉන්ද්‍රියේ එවැන්නක් තිබුණ බව මම දනිමි.

"දනිමි" කීවත් සමහර දේවල් ගැන සිතනවිට, අප දන්නවා යයි කියන්නේ මොකක් දැයි කල්පනා වෙන අවස්ථා ද ඇත්තේය.

දහම් පොත් කියවන විට ඇතැම් පොතක 'සිත හදවතේ තිබෙන පතක් පමණ ලේ ධාතුවට බැඳී ඇති බව' ක් මා කියවා ඇත. පාඩම් කරන දේවල් මතක හිටින බව මම දනිමි. ඒවා මොළේ තැන්පත් වෙනවා යයි බොහෝ කලක් සිතා සිටියෙමි. පන්තියේ වැඩ බැරි අයට 'මොළේ නැත් ද' යි ගුරුතුමා ඇසුව නිසා, මට එවන් අදහසක් එන්නට ඇතැයි, මේ වැඩිහිටි කාලයේ මම සිතමි. කෙසේ වෙතත් සිත යනු මට සිතා ගන්න බැරි එකකි.

සසර කෙළවර කිරීමට ප්‍රඥාව අවශ්‍ය බව මම විශ්වාස කරමි. ප්‍රඥාව ඇතිවෙන්නේ සමාධියෙනැයි සිතෙන්නේ, සීල සමාධි ප්‍රඥා අනුපිළිවෙල බොහෝ සේ අසා ඇති නිසාය. සමාධිය සඳහා භාවනා කළ යුතුය. භාවනා කරන්න දැනගත යුතුය. දැනගැනීමට ඇත්තේ ක්‍රම දෙකකි. දන්නා කෙනකුගෙන් අසා දැනගැනීම හා දහම් පොත් කියවීම යි. පොත් කියවීම පහසු ය. ඒත් හරියට දන්නා කෙනකු සොයා ගැනීම අපහසුය. අසා ගැනීමට වෙලාවක් යොදා ගැනීම ඊටත් අපහසුය. දහම් පොත් කියවීම හොඳ වුනත් ටිකක් අවදානම් සහිතය; අපට වැරදියට තේරෙන්නට ඉඩ ඇති නිසාය.

කෙසේ වෙතත් සත්වයකු පුද්ගලයකු වෙනුවට නාම - රූප යුගලය ගැන කියවා ඇත්තෙමි. මා එසේ සිතන්නට ද පෙළඹී ඇත. දැක ස්පර්ශ කොට ඇති නිසා ද, විද්‍යා පොත් වල කියවා ඇති නිසා ද, ඊටම සර්ව ප්‍රකාරයෙන් සමාන නැති, රූපය ගැන විස්තර කිරීම්, පැහැදිලි කිරීම් යම් පමණකට අවබෝධ කළ හැකිය.

නාම යනු වේදනා, සංඥා, සංඛාර, විඥාන බව පොත්වලින් කියවා ඇත. ශාරීරික හා මානසික වේදනා විඳ ඇති නිසා, බණ පොතේ එන සුඛ, දුක්ඛ, වේදනා ද යම් පමණකට තෙරේ.

සංඥා යනු යමක් දැක්කොත්, ඇසුවොත්,දැනුනොත්, ඒ මේක වෙන්න ඇතිය කියා සිතට දැනෙන දෙය යයි මම සිතමි. එසේ වෙන්නේ අප කුඩා කාලයේ, අතපත ගා, කටේ දමා, එබී බලා, කළ අපේම පර්යේෂණ නිසා සිතා ගත් දේ, වැඩිහිටියන් කියා දුන් දේ, ඔවුන්ගේ කතා බස්, ක්‍රියා, අසා, දැක, අප තේරුම් ගත් දේ හා, පසු කාලීනව අධ්‍යාපනයෙන් ලත් දැනුම ආදීය නිසා මේවා මෙහෙම යයි, සිතේ තැන්පත් වුනු

අටෝර්රාවක් කාරණා නිසාය. මගේ මෙම තීරණය හරිද නැත්නම් මා ගත් අවදානම් සහිත නිගමනයක් දැයි ද සිතෙයි.

සංඛාර, විඥාන දෙක නම් තේරුම් ගැනීම අපහසු ය. විඥානය යනු සිතම යයි සිතුනත් පොත් කිහිපයක් කියවා සොයනවිට චිත්‍රය අපැහැදිලිය.

එහෙත්, විඥානය යනු අපට හිතෙන, හැඟෙන, මතකයේ ඇති සියල්ල සහිත, මොකක් දෝ සංකීර්ණ එකකැයි මම දැනට සිතමි. මේ අවබෝධය සඳහා මා දරන ප්‍රයත්නය, මේ භවයේ නම් අවසන් නොවෙනු ඇත. ඉන් එහාට මා දන්නේ නැත.

ධර්මයේ හැසිරීමට නම් ධර්මය දත යුතු ය, යන නිගමනයේ සිට, මම හැකි හැම අයුරින්ම හැකි අවස්ථාවල දහම් දැන ගැනීමට උත්සුක වෙමි.

නාම - රූප දෙක එක්වීම මිස සත්වයකු නැති ය කියා දහමේ උගැන්වුනත්, සත්වයකු ගෙන් තොරව සිතන්නට මට බැරිය. මේ දෙක එකට තිබෙන්නේ කෙසේ දැයි පැහැදිලි කිරීමක්, කටුකුරුන්දේ ඥානානන්ද හිමියන් ගේ, මනසේ මායාව පොතෙන් කියවීමි. එහි ඇත්තේ, සංයුක්ත නිකායේ කාලකාරාම සූත්‍රයේ දැක්වෙන කරුණු පාදක කරගත් විස්තරයකි. නාම- රූප ප්‍රත්‍යයෙන් විඥානය ද, විඥානය ප්‍රත්‍යයෙන් නාම-රූප ද වශයෙන් පැවැත්ම ගෙනයන බවය. මේ සිදුවීම විස්තර කර ඇත්තේ එකට හේත්තු කළ බට මිටි දෙකක උපමාවෙනි. දෙක එකට සමතුලිතව තිබුනත්, එකක් ඉවත් කළොත් අනික එලෙසම නො පවතී. නාම - රූප යුගලය එක්ව සිටින විට, සම්මතය අනුව සත්වයෙකි යි කියනු ලැබේ.

නාම -රූප නො තේරුනත් මේ උපමාව මට කා වැදුනේ, පොඩි කාලේ බෝල ගසන්නට විකට්ටුවක් සඳහා ඉනි තුනක් සදා ගන්නට බැරිවුන දාට, පොල් පිති ඔළු දෙකක් හේත්තු කොට සාදා ගන්න විකට්ටුවේද, එකක් නැතිවුණ ගමන් අනික ද වැටෙන නිසාය.

ක්‍රීඩාවෙන් පසුව, පොල් පිති ඔළු විකට්ටුව පසුදිනට අරන් තැබුවත්, ගේ පිළිකන්නේ දමා තිබුනත්, ඉනි තුනක් කපා ගන්න තුරු එය අපට විකට්ටුවමය. වැඩිහිටියකු පොල් පිති ඔළු දර මඩුවට දැම්මේ නම්, අප කියන්නේ විකට්ටුව විසි කර ඇති බව මිස, පොල් පිති ඔළු අස්තාන ගත වීමක් නොවේ. අපේ සම්මතයට අනුව, පොල් පිති ඔළු දෙක විකට්ටුවකි. ඉනි තුනක් හදා ගත් දාට, අපි පොල්පිති ඔළු විසි කරන්නෙමු. එදාට, විකට් විසි කිරීමක් සිදු වෙන්නේ නැත. අපේ සම්මතය වෙනස් වී ඇත.

<u>පොල් පිති ඔළු දෙක විකට් එක වුනා සේ නාම රූප දෙක සත්වයකු වී ඇත</u>.

පොත් කියවද්දී මේවා පිළිගත්තත්, ඕනෑම වෙලාවක සත්වයකු පුද්ගලයකු මිස, නාම -රූප මට සිහියට එන්නේ නැත.ඒ තාක් කල් පුද්ගල සංඥාව හා සක්කාය දිට්ඨිය මා තුළ තිබෙනු ඇත.

"මම" කියා කෙනෙක් ඉන්නවාදැයි ඇසුවොත් ඕනෑම දහම් පාසල් දරුවකු කියන්නේ එසේ නැති බවය. එහෙත් මම ඉන්නා බව මම විස්වාස කරමි. හරියටම දනිමි,ඉන්නා තැනත් දනිමි.

'මම' ඉන්නේ මගේ සිතේ ය. ඒක එහෙම නැති යයි තහවුරු වුන දාට මාත් සෝවාන් වීලාය; පන්ති ගියේ නැතත්, සහතික ලැබුවේ නැතත් සෝවාන් වීලා ය.

එදාට සම්මතය විසින් සත්‍යය විකෘත කර ඇති සැටි මට පැහැදිලිව තේරෙන්නට පටන් ගනු ඇත.

# 8. පැටි කලේ - සිප් හලේ 1

[මේ පරිච්ඡේදය මගේ කුඩා පාසලට උපහාරයක් වේවා ]

එය ගාලු පාර අසළ, පන්සලට යාබද ඉඩමක පිහිටියේය. උළු සෙවිලි කළ ශාලා දෙකක් ද, පොල් අතු සෙවිලි කළ ශාලා දෙකක් ද, එහි තිබුණි. සෑම ගොඩනැගිල්ලකම තිබුනේ බාග බිත්තිය; බිම සිමෙන්ති දාලාය. එකක බිම සිමෙන්තිත් තිබුණේ නැත. ගෙබිම වැලි පුරවා තිබුණි. කොටසින් කොටස එක එක අවුරුද්දේ නිවාඩු කාලයට, එහි බිම සිමෙන්ති දමන ලදී. මේ ක්‍රියාව සම්පූර්ණ වෙනවිට මා සයවන පන්තිය ද පසු කොට තිබුණි.

උළු සෙවිලි කළ, ස්ථිර සාර ගොඩනැගිල්ල තුළ කුඩා ළමෝ ද, පොල් අතු සෙවිලි කළ මහත හා සිහින් පොල් ලී වලින් සෑදී වහලය, පොල් කොට කණු මත රැඳි ගොඩනැගිලි වල, ඉහළ පන්ති වල ළමෝ ද, උගෙන ගත්හ. පාසලේ පසු කෙළවරේ, පන්සල් වත්ත අයිනේ, පළල සිමෙන්ති කානුවක් තිබුණි. දෙවැනි පන්තිය දක්වා ඇති දිග ප්‍රමාණයට, කොන්ක්‍රීට් ලෑලි වලින් එය වසා තිබුණත්, ඈත කෙළවර විවෘතව තිබුණේය. වැසි කාලයට පමණක් එහි ජලය ගලා ගියේය.

පාසල් වත්ත අක්කරයක් තරම් විශාලය. ගොඩනැගිලි ඇති කොටසට ඉදිරියෙන්, මහ පාර දක්වා ඇති කොටසේ, පොල් ගස් විස්සක් පමණ විය. එහි කාර්යාලය අසල කෙළවෙරේ ළිඳක් ද, ඈත කෙළවරේ මහපාර අසළ විසාල පේර ගසක් ද, කහ කනේරු ගස් කීපයක් ද, විය. මේ කනේරු ගස් ඉතා විසල් ව වැඩී හොඳ සෙවනක් දුනි. සමහර පාඩම් සඳහා අප ගෙන යනු ලබන්නේ මේ ගස් සෙවණටය. සටහන් ලියන්නට ඕනෑ නැති දාට අපි එහි ගියෙමු. ගුරුතුමා ගේ පුටුව පමණක් එතැනට ගෙන යන අතර, අපි බිම වාඩිවී පාඩමට සවන් දෙමු. හොඳින් තණ කොළ වැවී ඇති නිසාත්, නිදැල්ලේ යන ගවයන් මට්ටමට කප්පාදු කරන නිසාත්, තණ පලස හිඳ ගැනීමට සුදුසුය. කවි පාඩම්කරන්නෙත්, පාඩම් පිරික්සන්නෙත්, මෙහිදීය. කට ඇරලා හඬ පිටවෙන්න කවි කියන්න මෙතන යෝග්‍යය. සාලාවල දී නිකම් කතා කළත්, පරෙස්සම් වෙන්නට අපට අණ කෙරුනේ, අල්ලපු පන්තියේ පාඩමට බාධා වෙන බැවිනි. මන්ද , එකම සාලාවකවත්, පන්ති කාමර වෙන් කරන බිත්ති නැති නිසාය.

සලාවක පළල අඩි 20 ක් පමණ නිසාත්, මැද කණු නැති නිසාත්, ඒවායේ බිත්ති දිගේ ඇති කණු මත, විසල් බාල්ක තබා, වහල රඳවා තිබුණේය. අඟල් 10ක් පමණ උස මේ බාල්ක වල මුහුණතේ, ආදර්ශ වාක්‍ය ගණනාවක්, පාටහුණු වලින් ලියා හෝ, ඝන කඩදාසියේ ලියා අලවා හෝ, තිබුණි. කාගේ හෝ මේ උත්සාහය ඉතා සාර්ථක එකකැයි, වැඩිහිටි වූ පසු මම සිතමි. අනුනට පිහිට වීම, රටට දැයට ආදරය වීම,

අවංක වීම, පොදු හැඟීම ආදිය, මා තුළ පිහිටීමට, මේවා ද හේතු වුනේ යයි, මා විසින් මා හඳුනාගන්නා, මා ගොඩ නැගෙන කාලය වෙනවිට, මට පසක් විය.

ඒ කුඩා පාසලේ උගත්තේ, ඒ ගමේ හා අවට ගම්වල ළමයින් ය. කුඩා අයට ඇතිවෙන හදිස්සි කාරණා නිසා, කෙතරම් උසස් පාසල් සැපපුමක් ඇතුළත තිබුණත්, දරුවන් ඒවායේ සිර වුනේ නැත. එහෙත් යමක් ඇති, උගැන්මේ අගය හා එයින් මතු දියුණුව [භෞතික] ගැන සිතූ දෙමාපියෝ, දෙ වැන්නේ දී මේ පාසලෙන් දරුවන් ඉවත් කර ගත්හ. ඉතිරි වූ කොටසින් ද තවත් පිරිසක්, පස් වැන්නේ දී නික්ම ගියහ. එකල පස්වැන්නේ ශිෂ්‍යත්වය විවෘත වුනේ, අඩු ආදායම් ලාභී දරුවන්ට පමණය. ඒ නිසා සෑම වසරකම පාහේ, දෙතුන් දෙනෙක්, දිස්ත්‍රික්කයේ තිබූ මධ්‍ය විද්‍යාල දෙකට ඇතුලත් වුහ. හය වැන්නේ සිට ඉහළට පන්ති වල සිටියේ, අඩුආදායම් ලාභීන් ගේ දරුවන් හා, තරඟ විභාගයෙන් හෝ සබඳතාවයකින් හෝ, නගරයේ පාසලකට ඇතුළුවීමට නො හැකි වුන අයයි.

අපේ පාසලේ මුල් තැන ලැබුනේ සිංහල, ගණිතය, බුද්ධාගම, හා ඉතිහාසය විෂයයන්ට ය. ඊට හේතුව මට දැනුත් නො තේරුනත්, එය එසේ වූ බව මා දන්නේ, පාසලේ මා සිටි එකොලොස් වසර තුළ, බොහෝ කාලයක් පන්තියේ පළමුවැනියා වූ මගේ දැනුම් මට්ටම, වෙන පාසල් වල මිතුරන් හා කතා බහේ දී තේරුණ ලෙසට, මේ විෂය වලට පමණක් සීමා වූ බව තේරුම් ගන්නට හැකිවුනු, අට වැන්නෙන් එහා පන්තිවල උගන්නා සමයේ දී ය.

මධ්‍ය විද්‍යාල යේදී මගේ සිංහල දැනුම, මුල වසරේ සිටම ඇගයිණි. එහිදී මා සිංහල බස උගත්තාට වඩා, මගේ දැනුම ගැන ආත්ම විශ්වාසයකින්, වඩා හොඳින් අදහස් ප්‍රකාශ කරන්නට උගත් බව, පසු කාලයේ මට වැටහිණි.

මා මෙසේ පොත් ලියන්නෙත්, සරසවියේදී හා තරුණයකු ලෙස සේවා ස්ථානයේ දී, ගැලපෙන, සුගම, තාර්කික සිහල යෙදුම් මගෙන් ලබාගන්නට සමකාලීනයන් පෙළඹුනෙත්,මේ කුඩා පාසලෙන් මා දායාද කරගත් බසෙහි හැකියාවයි.

එය එසේ විය යුතුය. අපේ දරුවන් සීමිත පොත් ගණනකින් උගන්නා සිංහල සඳහා, දෙවැන්නේ සිට සාමාන්‍ය පෙළ පූර්ව හෙවත් නමවන පන්තිය දක්වා කාලයේ, අපි විශාල පොත් සංඛ්‍යාවකින් සිංහල උගත්තෙමු.

අදටත් මතක ලෙසට, ඒ පොත් ගැන මා මෙහි ලියන්නේ, ඒ පොත් ලියුව අයටත්, ඒවා නිර්දේශ කළ අයටත්, අපට උගැන්වූ ගුරුතුමන්ටත්, මගේ බස නංවන්නට උදව් වුනු ඒ කුඩා පාසලටත්, ම සිතේ ඇති ගෞරවය, මෙය කියවන අපේ යුගයෙන් පසු අය ගේ දැන ගැනීම පිණිසය.

ඒ කාලයේ රජයෙන් බෙදා දුන් හෝ, නියම කළ පොත් තිබුණේ නැත. අධ්‍යාපන ග්‍රන්ථ ප්‍රකාශන මණ්ඩලය අනුමත කළ පොත් ලෙස, එදා අපේ සමහර විෂය පොත්වල ලියා තිබුණි. පොත් තෝරා ගත්තේ කා විසින් දැයි අපි නො දත්තෙමු. කෙසේ වෙතත්, වසර කීපයකින් වෙනත් පොත් භාවිතයට එයි. එහෙත් එකකට වඩා පොත් ගණනක්, එකම පන්තියේදී සිංහල සඳහා තිබුණු බව මට හොඳට මතකය. ඒ පොත් දෙක හෝ තුනම එකවර අත හැරුනේ නැත. එකින් එක මාරුවෙමින් අවුරුදු පහ දහයකදී පොත් වෙනස් වුනත්, අපේ ගුරුවරු, ඔවුන් හොඳ යයි සිතුව පොත් නො හැර ම උගැන්වූහ. අඩුතරමින් ඒවායින් තෝරා ගත් පාඩම් උගැන්වූහ.

නම් පොත සහ මගුල් ලකුණෙන් අකුරු කීමට කට හුරු කර ගත් අපට, දෙ වැන්නේදී ගණදෙවි හෑල්ල සහ වදන් කව්පොතෙන් තාලයට කවි කියන්නට පුරුදු කෙරුණි. ගණදෙවි හෑල්ලේ සරල කවි ඉබේම තේරෙන්නේ, අප එදිනෙදා කතා කරන බසට, සමීප වූ නිසාය. ලංකාවේ වැඩිහිටි බොහෝ දෙනාට ඒ කවි කට පාඩම්ය.

“තුබූ තැනක සොර සතුරන් ගත නො හෙනා - එ<u>සැඩ</u> මනා වත් වතුරෙන් වල නොහෙනා

කෝප වුවත් රජ මැතිඳුන් ගත <u>නොහෙනා</u> - උගතමනා <u>ශිල්පය</u> මැයි මතු රැකෙනා”

අපට අමුතුවෙන් තේරුම කියාදුන්නේ ඉරි ඇඳි පදවලය.එහෙත් අවසාන හරියේ සංස්කෘත පද මිශ්‍ර කවි ඇත. එනිසා ව්‍යක්ත මිශ්‍ර සිංහලය ද කුඩා වියේ පටන් අපට හුරුවිය.

ශිල්ප යන පදයේ ගැඹුර මට තේරුනේ, උසස් අධ්‍යාපනයත් ලැබුවාට පසුවය. ශිල්ප යනු යම් යම් දේ නිර්මාණය කිරීම සඳහා අවශ්‍ය දැනුමය. ශාස්ත්‍ර යනු එදිනෙදා ජීවිතය ගැටගසා ගැනීමට අවශ්‍ය නොවන, ලෝකය පිලිබඳ දැනුමය. ශාස්ත්‍ර නොදැන ජීවත්විය හැකි වුවත්, ශිල්පයක් නො දතොත්, අන්තේවාසිකයකු වීමෙන් එහා ගමනක් නැත. “රූ සිරි යොවුන් ගුණ නැණ සියල්ලෙන් නො අඩු වූ මුත් නො දතොත් ශිල්ප සත සුවඳ නැති කෑල මල සම වේ” මොන පොතක තිබුනා දැයි මතක නැතත්, මේ කවිය දැන ගත්තේ මේ කුඩා පාසලේ දීමය.

ශාස්ත්‍ර දන්නා බුහුමන් ලබතත්, සේවා අවශ්‍යතාව සීමිත නිසා, දිවි පැවැත්ම සඳහා, අල්පෙච්ඡ වීමට ඔවුනට නිතැතින්ම සිදු වේ. රජ සිටු දරුවනට උගන්වන දිසාපාමොක්ලාට, ඒ අයට තරම් හය්යක් තිබුනේ නැත. එහෙත් බුහුමන් විය. <u>“විද්වාන් සර්වත්‍ර පූජ්‍ය තෙ”</u> [මේ අපේ කුඩා පාසලේ ආදර්ශ පාඨය වේ.]

වදන් කවි පොතේ කවි කීවාට, අර්ථ උගැන්වුනේ සත් වැන්නේදී නැවත උගන්වනවිටය. මවු බස, සිංහල රාජ මාර්ගය, පද්‍ය රසය. කියවීම් රජය යන පොත් 4

ම, සතියේ එක එක දවසට උගන්වන ලදී. දෙක සිට පහ දක්වා පන්තිවලට, ක්‍රමයෙන් ඉහළ යන මට්ටමකින් සකස් කර ඇති මේ පොත්, පළමු පොත, දෙවන පොත, ඈ විසින් එකම නමින් පොත් කාණ්ඩයන් ලෙස තිබුණේය. මීට අමතරව, කුමාරෝදය, ශික්ෂා මාර්ගය, කියවන නුවණ, නවමග, ආනන්ද ගීත ආදී පොත් ද උගන්වන ලදී. ඒ පොත්වල යම්කිසි කවි කතා හෝ උසස් පොත් වලින් උපුටා ගන්න ලද පාඩම් විය. පාඩමේ කරුණු වලින් අවබෝධ පරීක්ෂණය සඳහා, ප්‍රශ්න 5 ක් 10ක් අතර ප්‍රමාණයක් ද, අමාරු වචන වල තේරුම ද, සමාන පද ද, හිස් තැන් පිරවීමේ අභ්‍යාස ද, හැම පාඩමකට ම පසුව තිබුණි.

හය වැන්නේ සිට අට වැන්න දක්වා වූ පොත්වල භාෂා මට්ටම ඉහළ විය. සාහිත්‍ය මංජරිය, කියවන නුවණ, මෙන්ම ව්‍යාකරණයට බර කුමාර රචනය, ව්‍යවහාර සිංහලය වැනි අභ්‍යාස පිරි, කතන්දර අඩු පොත් ද උගැන්විණි.

ව්‍යවහාර සිංහලය පොත් හොඳින්ම මතක හිටියේ, එහි පිට කවරයේ වූ විශේෂ ස්වභාවය නිසාය. එය අපි කොපි පොත ලෙස හැඳින්වූ, අභ්‍යාස පොතක් මෙන් වූ, ගනකම අඩු, ඊට වඩා දිග පළල වැඩි, තනි සුදු කවරයක් ඇති, කොළ නිල් හෝ දුඹුරු පාට සිහින් ඉරි වලින් ඇඳි, කැටයම් රූ රටා සහිත පොතක් වූ බැවිනි. තිසර පේළි හා යම්කිසි අපේ සාම්ප්‍රදායික කලා කැටයමක් [සඳ කඩ පහන විය හැක] හරි මැද තිබුණි. යට වාටියේ වාමන රූපද, යාන්තමට මතකය.එහි බස සරලය; නූතන [එදා] බස් වහර වුවත්, අලුත් වචන හඳුන්වා දීමත්, සිත් ගන්නා ශෛලියක වීමත්, විශේෂයන් ය. ගබයියා ගේ සේරු දඩයම මේ පොතේ තුබූ මතක හිටි කතාවකි.

ගබයියා මුට්ටියක් මුනින් නවා, ජලයේ පාකර යවයි. හිල් දෙකක් සැදුව තවත් එකක් ඔලුවෙහි නවා ගනී. පැසක් අතේ රැගෙන දියට බැස, පාවෙන මුට්ටියට මඳක් ඈතින් යයි. සේරු මුට්ටියෙන් ඈතට යති; ටික වෙලාවකින් අසලට එති; මුට්ටිය මතට ද නගිති. ගබයියා නිසොල්මනේ ඉන්නේ, සේරුන් ගේ බය යන තුරුය . ඉන් පසු ඉතා සෙමින් කිට්ටුවී සැණෙන් අල්ලා, දියයට ඇති පැසට දමා ගනී. සේරාට කට අරින්නට ඉඩක් නැත. ඉවසීම හා උපායශීලී බව මෙහි දැක්වේ. පැස යනු අපට අලුත් වචනයකි. සේරුන් අපේ ගම පැත්තේ නැත. එහෙත් හතලිස් වියටත් පසුව, මහවැලි ව්‍යාපෘතියේ දෙහි අත්ත කණ්ඩියේ වැවක සේරුන් දුටුදා, ගබයියාද, පොතද, මතක් වුනේය.

කවියක තිබුණු 'පැස' පදය පැටලී සිදුවුන හිනායන කතාවක් ද මතක් වෙයි. මාළු අල්ලන්නා ගැන කවියක "ඇවිලුම් බිලිය යොත අංකඩ වමත් පසේ - දිවි රැක දෙවන බත්මුල දකුණතේ පැසේ" මෙහි පැසේ වෙනුවට දකුණු පළාතේ බත පැහෙනවා කියන තේරුමෙන්, මාළු කාරයාගේ අතේ බත් මුල පැසෙන්නේ කොහොමදැයි ගැටලුව මට ඇති උනේ, පැස යනු මල්ල බව එදා නො දත් නිසාය.

බස උගන්නට අපට තිබුණේ, කවි හා කතා උගැන්මය. ඒ දෙ වැන්නේ සිට පස් වැන්න දක්වාය. කතාවක් නොවන පාඩම් ඉතා අල්ප විය. එසේම ඒ කතා, ආයාසයෙන් තොරව මතකයේ රැඳුනේය.ඉතිහාසය පොතේ නමත්, ඉතිහාස කතා මාර්ගය විය. එහිවූ සියල්ල ලංකා ඉතිහාසය විය ලංකා හා ලෝක ඉතිහාසය නම් පොතකින් උගන්වනු ලැබුයේ, ඉහළ පන්තිවල දීය.ඒ පොතේ ද මුල කොටස ලංකා ඉතිහාසයයි. ලෝක ඉතිහාසය තිබුණේ අග හරියේ ය. වසර අවසන් වන විට ඉවර කරන්නට බැරි වුනොත්, මග හැරුනේ ලෝකය පිලිබඳ කොටසින් ද කොටසක් ය. එම නිසා අපි අපේ රට ගැන හොඳින් දැන ගත්තෙමු. අපේ ඉතිහාසයත්, අපේ බසත් හොඳින් දැන ගන්නාවිට, ඉබේටම අපේකම සිතට දැනී, අපි රටට ආදරය කරන්නෝ වීමු.

දෙ වැන්නේ සිට පස් වැන්න දක්වාම, ලෝ වැඩ සඟරාවේ කවි කට පාඩම් දීමට අපට සිදුවිය. මේ සමයේ කවි වල තේරුම කියාදුන්නත්, විභාගයේ දී අරුත් අපෙන් බලාපොරොත්තු වුනේ නැත. එහෙත් තේරුම දන්නවිට ලෙහෙසියෙන් පාඩම් හිටී. අපේ ගුරුවරුන් තේරුම් කියා දුන්නේ එනිසා විය හැකිය.

ලෝ වැඩ සඟරාව, බුදු සමය හා බුද්ධ චරිතය නම් පොත් පෙළ, දෙවැන්නේ සිට පස්වැන්න දක්වා තිබුණි. කහ පාට කඩදාසියක හිඳි පිළිමයක රූපයක් හා එහි පාමුල මල් පුදා ඇති සැටි, බුදු සමය පොතේ පිට කවරය හැඩ ගැන්වීය. පොත ලියා තිබුනේ වේරගොඩ අමරමෝලි හිමියන්ය. මේ නම ටිකක් විහිලු සහගත ලෙසක් අපට දැනුනේ, මෝඩ අයට ‘මෝල් වහන්සේ’ කියා අපේ පැත්තේ අය කියන නිසාය.

වජිරාරාම වාසී නාරද හිමියන් ලියූ, ධර්ම සංග්‍රහය උගැන්වුණේ අට වැන්නේ සිට ඉහළටය.

ලෝ වැඩ සඟරාව ජනයා පවට බිය කොට, පිනට යොමු කොට, රට හදන්නට ගත් සරල වෑයමකි, යන්න අද මගේ විග්‍රහය යි. සමහර දේ දැන් බැලුවාම හිනා යන තරමේය.

“පෙර අඟනක් එක එළු දෙනක හිස සිඳා - ඇය ඇඟ ලෝම ගණනේ හිස් කැපුම් ලදා

අඟන කවුද, කොහේදී වුනාද, එළු දෙනක්ද, පිරිමි සතෙක්ද, ලෝම කීයක් තිබුනද, ඇත්තටම වුනාද, උදාහරණයක් පමණද, ආදී ප්‍රශ්න ගණනාවක් ඇසිය හැකි වුනත්, මේ සිද්ධිය දක්වන්නේ පවෙන් වැළකීමය.

තාලෙට හොඳට කිවහැකි නිසා, සරල බස පාඩම් හිටිය නිසා, පාසල් වත්තේ කහ කනේරු ගස් සෙවනට, පන්ති කාමර වලින් ඈතට, ගෙන ගොස් පාඩම් කරවන විට, කට ඇරලා හිතේ හැටියට කී නිසා, ලෝ වැඩ සඟරාවේ කවි, අදටත් නිකම් ඉන්නා වෙලාවට, පාලු යන්න මට කියවෙන්නේ ඉබේටය. එහෙත් වයසට ගොස් තනිව දහම්

පොත් කියවා උගන්නා මේ අවදියේ, මේ පොත සම්‍යක් ප්‍රධාන ගැන, ඒ පදය නොකියා කියා දෙන, පොදු ජනයා වෙනුවෙන් ලියවුනු සරල දහම් පොතක් බව වැටහේ.

කුඩා සන්දියේ අප කියවූ පොත් බොහොමයක, කතාවට අදාළ රේඛා චිත්‍ර තිබුණි. නවමග පොතෙහි නම් පිටුවක් පුරා විසාල චිත්‍ර විය.ඒත් හැම පාඩමක ම නොවේ. මේ පොත්වල එක එක පාඩමක තිබුණේ, එකිනෙකට වෙනස් කතාය.බොහෝ කතා වලින් උගන්නට උපදේශයක් තිබුණේය. එය කතාවේ හරයයි. පාඩමට පසු අවබෝධය පිරික්සන ප්‍රශ්න වූ අතර, අපට ඒවාට පිළිතුරු ලියන්නට සිදු විය.

අප පිළිතුරු ලියන්නේ ගල් ලෑල්ලේ නම්, ඒවා ගුරු මේසය ළඟ බිමගොඩ ගසන්නෙමු. ගුරුතුමා හුණු කූරෙන් හරි වැරදි ලකුණු කරන්නේය.පොතේ ලියන කාලයේ, අදාළ පිටුව හරවා, මේසය මත ගොඩ ගසන්නට ඕනෑය. ඒවා ලකුණු කරන්නේ රතු තීන්ත පෑනෙන් ය. ළමයින් තිහ හතලිහ ඉන්නා පන්ති තිබුණි; අඩුම විස්සක් වත් වෙයි.එහෙත් ගුරුවරු සෑම පොතක් ම බලා ලකුණු කරති. සමහර විට අපට ඊළඟ පාඩම කියවන්නට නියම කොට, පොත් බලා ලකුණු කරති. අපේ කටවල් සද්දය වැඩි වුනොත්, කෝටුවෙන් මේසයට තට්ටු කළ විට, අපි නිහඬ වෙමු. හැම පන්තියකම මේසය මත කෝටුවක් ඇත්තේය.එය පහර දීමට වඩා කළු ලෑල්ලේ ලියා ඇති දෙයට, අප ඇස යොමු කිරීමට භාවිතා විය.

මේ කුඩා පොත් වල තිබු කෙටි සරල කතාවලින් කියවෙන පාඩම්, එතරම්ම සරල නැත. මගේ සිතේ කා වැදී ඇති එවැනි දේ මෙහි ලියමි.

දෙ වැන්නේදී උගත් 'ලබු වැල සහ කොස් ගස' පාඩමේ, පොතේ කෙළවරක අඟල් 3 x 3 ඉඩක රේඛා චිත්‍රයක් ලෙසින්, කුඩයක හැඩය ඇති විසල් ගසක් හා, එහි කඳේ වෙලී ඉන් ඉහළට ඇති වැලක්, ගසට ඉහලින් කොක්කක් සේ නැමී, ගස දෙස බලන අපූරු රූපයක් විය. ලබුවැල ගසෙන් යමක් අසන සේ, ඒ රූපයෙන් මැවේ.

කතාවට අනුව, ලබු වැල කොස් ගස දිගේ ඉහළට ගොස්, ගසෙන් මෙසේ අසයි. "මා ඉතා කුඩා කාලයේ ඔබ මේ වගේම ලොකුවට හිටියා. මම වේගයෙන් වැඩී ඔබත් පසු කරා. දැන් ඔබේ හිසටත් උඩින් ඉන්නවා.ඔබ ඔතරම් සෙමින් වැඩෙන්නේ ඇයි?" කොස් ගසේ පිළිතුර කෙටිය " හැම අවුරුද්දෙම දෙන්නෙක් විතර ඇවිත් ඔය ප්‍රශ්නෙම අහලා යනවා "

ස්ථිර සාර පුද්ගලයාගේ නිවිච්ච කමත්, වේගෙන් ඉහළ යන අයගේ උඩඟු කමත්, අපට ගුරුතුමා කියා දුන්නේය.

වෙරි වූ මීයා කවි පෙළ ද හොඳ පාඩමක් උගන්වයි.

“දවසක් රා ටිකක් - ලැබ බී මත් ව මීයෙක් , බළලා වී මතක් - මෙසේ කීවේ උඩඟු වදනක්”

මීයා මතින් කරන තර්ජනයත්, ළමයකු ඥාව් ගාන හැටිත් කවියෙන් කී සැටි අමතකය. වෙරි හිඳෙන මීයා ගේ බැගෑපත් වීම මෙසේය.

“පින් සිදු වෙයි අනේ - මගේ හාමුදුරුවනේ , මා නො මැරුව මැනේ - වඳිමි අත් දෙක තබා මුදුනේ”

කවි කතාව අවසන් වෙන්නේ අපට පාඩමක් කියාදෙමිනි.

“තම තරම දැනගෙන - නො පැවතුන හොත් සැමදින

මීයාට වූ මෙන - බියයි වෙන්නේ නො සිතූ විලසින” මගේ සිතේ කා වැදී ම’දිවියට ළං කරගත් කරුණකි මේ.

පද්‍ය රසය පොතේ බළලා සහ මැහැල්ල කවි පන්තියේ කවි මතක නැතත්, බළලා මැහැල්ල ට දෙන පිළිතුර අපූරුය.

තනිව සිටින කතක් බළල් සුරතලකු ඇති කරයි. දෙදෙනාම මහලු වෙති. බළලා ගේ කටින් මීයෙක් පැන යයි. දඩයම අසාර්ථක වීම නිසා ගැහැණිය බළලාට ගසන්නට කෝටුව ඔසවයි. බළලා ඉවත පනී. පහර වැරදෙයි. මට වුන දේම ඔබටත් වුනේ මහලු නිසා බව බළලා කියයි. “ ඔබත් දැන් මහලු යි මාත් දැන් නම් මහලු යි.”

මෙම කවි පන්තියටද ඉතා සිත් ගන්නා රේඛා චිත්‍රයක් තිබුණි. මේසය හා පුටුව අස්සෙන් රිංගන බළලා, ඈතට වී මැහැල්ල දෙස හිස ඔසවා හැරී බලා සිටී. කෝටුව ඔසවා ගෙන සිටින ගැහැණිය ගේ මුහුණ කෝපාවිෂ්ට ය. මේවා ඇන්දේ කාටූන් චිත්‍ර ශිල්පියකු වන්නට ඇත.

කුඩා අපට කවියෙන් ගැදියෙන් කියන දෙයෙහි චිත්ත රූප මවා ගැනීම පුහුණු කරන්නට, මෙසේ යෙදුවාදයි මට දැන් සිතෙයි. කෙසේ වෙතත් කුඩා කළ සිටම, කියවන දේ ගැන අමුතු සිතුවම් මගේ සිතේ නැගුණි. අන් අයට ද එසේ දැයි නොදනිමි.

අඹ පැළයක් සිටුවන මහල්ලා ගේ කතාවද මවුබස පොතෙනි. බිම ඇන බා ගෙන පැළයක් සිටුවන මහල්ලා ළඟ, පොත් පත් අතේ ඇති දරුවෝ සිටිති. මේ චිත්‍රය ද සමග දෙබස් ලෙසින් දිවෙන කතාවේ කියන්නේ, අඹ පැළයේ ගෙඩි හැදුනු දාට පාරේ යන අයට කෑමට පාර අයිනේ සිටුවන බවත්, එදාට තමා මියැදී ඇතිබවත්, තමා කෑවේ අනුන් සිටවූ ගස් වල ගෙඩි නිසා, මේක තමාගේ යුතුකම බවත්ය. මේ සරල

කතාව අපට ජීවිතාදර්ශයක් දෙයි. බස තුලින් ජීවිතය උගන්නන පොත් රැසක් අපට තිබුණි.

පසු කාලයේ දී පැමිණි ආණ්ඩුවේ පොත් වල, " සාමා, මාමා, අන්න ලී තාප්පයක් " වැනි දේ ලියුවේ වචන වලින් බස මිස, හරයක් හඳුනා නොගන්න දරුවන් ඇති කිරීමේ චේතනාවෙන් ම ද, ලියුව අයගේ ඔලු හිස් නිසා දැයි, වැඩිහිටි මම සිතමි.

කියවීම් රජය දෙ වැන්නේ සිට පස් වැන්න දක්වා වූ පොත් පෙළකි. එහි සිංහල, වඩා ව්‍යක්ත බසින් යුත් උධෘත වලින් පිරුණි. ගිරා පෝතකයා ගේ සමච්චලය නම් කතාව, උම්මග්ග ජාතකයේ ගිරවා කේවට්ට බමුණාගේ හිසට හා මුඛයට වර්චස් හෙලූ කතාව ය. එය අපට සිනා රසය දැනවිය. වර්චස් පිඩ පහළට ආයේ " සාල්ලෙක ලාලා පාතට බානා කෙනෙකුන් සේ" ය. සාල්ල යනු මාතර පැත්තේ කිරි මුට්ටි එල්ලා ගෙන යාමට පොල් අතු කැබැල්ලකින් සාදන, පොල්පිති නාරටිය රවුම් කොට ගැට ගසා, කොළ ටික ඉහළට ගෙන කොණ්ඩය බැන්දා සේ ගහන ගැටයකින් නිමවෙන, කුරවල්ලක් /මල්ලක් වැනි එකකැයි, ගුරුතුමා අපට කියා දුන්නේය.

තුන් වන පන්තියේ දී, ගුත්තිලයේ උදේනී පුර සැණකෙළි වැනුම, කාටත් මතක, සරල, සුගම, රසවත්, තාලානුරූප කවි පන්තියකි " සාදවා සුදු වැලි පිවිතුරු බඳවා රන් දද පියකරු, සිටුවා දොර දොර රඹ තුරු තබවා පුන් කුඹු විසිතුරු " ඈ විසින් පටන් ගන්න කවි, දහයක් හෝ දොළහක් කට පාඩම් කරන්නට තිබුණි. එය පහසු දෙයක් වුනේ ඒවා අමාරු නැති, තාලය හැඩ, ඒවා නිසාය." රැගත් සුරා පිරු විතින්, සුරත් තඹුරු පෙති සෙ නෙතින්, පුවත් නො දැන බමන ගතින්, නටත් අයෙක් සුරා මතින්" රා බීලා, ඇස් රතු වෙලා, පැද්දී කැරකෙන අය, අපේ ගම් වල ඇති නිසා, කවිය යන්තමට කියාදෙන විට, අපට රූප මැවී පෙනුනේය.

'අය' යන සමුහ වාචී පදය බහු වචන ක්‍රියා පදයක් සමග යෙදෙන බවට, භාෂා පාඩමේ කියාදුන් උදාහරණය ද මේ කවියයි.'විත' යනු අප නොදන්නා පදයකි. 'විත' බීම සඳහා ගන්න බඳුනක් බව කියන විට, අපට සිහි වුනේ පොල් කට්ටක්ය; අපේ ගමේ අය රා බිව්වේ පොල් කට්ටෙනි.

අප කවදාවත් පාසලේ කියවා නැති, ගුත්තිලයෙහි රස බර කවි වැනුම් බොහොමයක්, මේ පොත් වල උපුටාගැනීම් ලෙස තිබුණි. මුසිල බරණැස ගුත්තිල නිවසට ඒම, වීණා තරගය, සුරඟන නැටුම, අට වැන්නට පෙර අපට උගන්වන ලදී.

කුමන පොතක තිබුනේ දැයි දැන් මතක නැතත්, දහම් සොඬ දා කවෙහි එන රකුසා ගේ වර්ණනාව, ඉතාමත් දක්ෂ චිත්ත රූප මැවීමකි. ශක්‍රයා රකුසු වෙස් ගෙන පැමිණි බව කියැවෙයි. රකුසා ගේ භයංකර ස්වභාවය දනවන, උචිත පද යුතු, කවි පෙළකි. ඒ උපදනා චමත්කාරය, උද්දාමය නිසාම, එහි මට මතකහිටිය කවි, මෙහි බහා ලමි.

"දියවක් සඳ මෙන් නැමි දළ යුවළැ'ති , රිය සක් ලෙස කන් තෝඩු දෙකක් ඇති ,
මිටි දික් පුන් මැද බුන් නාසක් ඇති, කොරහක් පමණට ලොකු මුහුණක් ඇති,

හැඩුනු හූරු කර වන් බඳ කරිනා, පිරුණු මසින් උර සල තල ලෙසිනා,
නෙරුණු සැලක් වන් මහ බඩ බරිනා, නැමුණු පෙරට දණ යුවළින් තෙවුනා,

එක් අතකින් යග දා ගෙන නැබුළු, එක අතකින් ඇද ඇද දැළි රැවුළු,
දක්වවමින් සියොළඟෙහිම විසුළු, වික්ම පමින් බස් බැන රළු පරළු,

ගතින් විහිද ගිනි දැල් යුතු රුදුරු, ඇසින් නොමඳ ඉස ඉස ගිනි පුපුරු,
දිගුන් බිහිරි කර හඬ ඇන කුරිරු, පියෙන් පියට මැඩ මැඩ සහලඟුරු"

පළමු කවි දෙපදය කුඩා මට සිහි ගැන්වුයේ, නාග රාක්ෂ මුහුණක් පැළඳ , ගිනි පන්දම් අතින් ගෙන දුම්මල ගසමින් ගිනි විහිදුවන, මිටි මහත තොවිල් ඇදුරා ය. වෙස් මුහුණේ නැමි දත් දෙක හොඳට මතකය.යගදාව කෙසේ වෙතත්, ඊ ගහ වශයෙන් තොවිල් පළේ හඳුන්වන, ගොක් අත්තෙන් කැටයම් කපා හදන අඩි තුනක් පමණ දිග කෝටුව සිහිවිය. පොඩිකාලේ දුටු තොවිල් පළේ ඇදුරා ගේ සුදු සේලය හෙවත් රෙද්ද පමණක් රකුසා හා ගලපා ගන්නට මට බැරි විය. රකුසා රෙද්දක් ඇඳ සිටියේ ද නැතිද කියා කවි පෙළෙහි තිබුණේ නැත. හෙළුවෙන් සිටි බවක් කියවුනේ, නම් මට හොඳටම මතක සිටිනු ඇත.

කවි තාලය ද පහත රට බෙරය හෙවත් යක් බෙරයෙන් වැයෙන, 'දොන් දොන් තක- තරිකිට දොන් තක' බෙර පද වලට අනුරූප වේ. ගුරුතුමා වචන තෝරමින්, හා කවි තාලයට කියමින් උගන්වා, අප ලවා ද කියවන්නේය. මට මහත් චිත්ත රූප මැවූ කවි පෙළකි මෙය. මේ වනවිට අප සත්වන හෝ අටවන පංතියේය.

දෙවන වරට වදන් කවි පොත අරගන්නේ, සත් වැන්නේදීය; ස්වර, ව්‍යංජන, ලෝප, ආදේස පටන් ගන්න කාලයේ, මේවා බරට ම කියාදෙනු පිණිසය. වදන් කවි පොත පාසලේ දී බස උගන්වන මුල්ම හා ගැඹුරුම පොතයි මම සිතමි. වදන් හැදෙන හැටි, ඒවායේ විග්‍රහය එහි ඇත. කුඩා පන්තියේදී මේවා නොදැන කවි කීවත්, හත් වැන්නේදී සන්ධි උගැන්වීමට පෙර සිංහල හෝඩිය විග්‍රහ කරමින්, උගන්වන විට මේ කවි ඉබේ මතකට ආවේය.

අකුරක් උච්චාරණය කරන හැටි, ශබ්ද උපදින හැටි, අකුරු වර්ග, හෝඩියේ කොටස්, එක එක විදියෙන් විස්තර කිරීම්, අකුරක් උච්චාරණය සඳහා ගතවෙන කාලය ආදී බොහෝ දේ කියාදුනි.

මේ මතකය නිසාම, වියපත් වූ පසු විපරම් කර, ගණ දෙවි හැල්ල සහ වදන් කවි පොතක් සොයා ගත්තෙමි.

_අ_ වන පටන් _ඎ_ වන්නට වදනින් දැනෙන සොළොස පෙළ සොර'කුරු වදනින්
_කු_ යන එපස් වග _යා_ නව වදනින් මෙවන් සුතිස් දනු හස'කුරු වදනින්

ස්වර හා ගාත්‍රාක්ෂර මෙහි කියවේ. හස'කුරු යනු හල් අකුරුය. ගාත්‍රාක්ෂර සියල්ල හල් අකුරුය ඒ ඒ ස්වර හා බැඳී, ඒවා භාවිතා වෙන ශබ්ද හෙවත් අකුරු සාදයි. ක් + අ = ක, කා, කැ, කෑ ඈ විසිනි. 'යා නව' යනු, ය, ර, .... ආදී ළ දක්වා ඇති අකුරු නවයයි.

කන්ඨ ජ සත _අ, හ_, _ක වගය_ වදනින් තාලු ජ සත _ඉ, ය_, _ච වගය_ වදනින්
මූර්ධ ජ සත _ර, ළ_, _ට වගය_ වදනින් දන්ත ජ සත _ල, ස_, _ත වගය_ වදනින්

ඔෂ්ඨ ජ සය _උ_, _ප වගය_ වදනින් තාලුජ-කන්ඨ ජ _ඒ_, කුරු වදනින්
කන්ඨ ජ- ඔෂ්ඨ ජ _ඕ_ කුරු වදනින් දන්ත ජ-ඔෂ්ඨ ජ _ඖ_ කුරු වදනින්

මුදුන ය දසන ය උපදින'කුරටා යෙදු තාලුජ ය ද සෙසු'කුරු වලටා
ලදු අග මැද දිව දුනු තැන් ලෙසටා හඳුනව කරණය කී ලස'කුරටා

හෙළ අකුරු උච්චාරණයට ශබ්ද උපදවන සැටි මේ කවිවලින් දැක්වේ. ශබ්ද ජනිත වන්නේ උගුරෙන් [කන්ඨ ජ], තල්ලෙන් [තාලු ජ] උඩු තල්ල මුදුනින් [මූර්ධ ජ ] දත් වලින් [දන්ත ජ] තොල් වලින් [ඔෂ්ඨ ජ] සහ ඒවා යුගලයක ආධාරයෙනුත් ය. ඒ යුගල නම් තාලුජ-කන්ඨ ජ, කන්ඨ ජ- ඔෂ්ඨ ජ හා දන්ත ජ-ඔෂ්ඨ ජ වශයෙනි. මූර්ධ ජ හා දන්ත ජ ශබ්ද උපදවන්නට දිව අග ඒ ඒ තැන් වලට දුන්නු හෙවත් තැබුව ලෙසත්, තාලුජ හා අනෙකුත් අකුරු වලට දිව මැද යොදා ගන්නා බවත් අවසන් කවියෙන් කියැවේ.

_එක මත ලුහු_ යයි දැන කියමින්නේ _යුග මත දිගු_ යයි ගුරු පවසන්නේ
වෙන _මත තුනකින් පුලුත_ කියන්නේ _අඩ මත_ දැනගන් _හස'කුර_ යන්නේ

විවිධ අකුරු උච්චාරණ යේදී ගත කරන කාල පරාස, මත හෙවත් මාත්‍රා  බවත් ඒවා කෙටි හෙවත් ලඝු හෝ ලුහු, දිගු හෙවත් ගුරු හා වඩා දිග ප්ලුත හෙවත් පුලුත හා අර්ධ මාත්‍රාවක් ද වශයෙන් සතරකි. එනම් සාමාන්‍ය කාලය එක මතක් ද දෙකක් දිග මතක් ද තුනක් ප්ලුත මතක් ද කාලයෙන් බාගයක් අඩමතක් ද වේ.

තවද ඝෝෂ, අඝෝෂ හා දනිත, සිතිල ලෙසින් ද අකුරු වර්ග කර ඇති සැටි තවත් කවිවලද තිබේ හෝඩියේ මුළු විස්තරයම කවි පසලොසකින්ම ලියා තිබේ.

කවි සැදීමේදී, එක කවී පදයක ඇති මේ මාත්‍රා ගණන, සමාන වෙන සේ සැදීමෙන් කවි තාලයට කිව හැකිය.

බොහෝ දෙනා අසා ඇති සිදත් සඟරාව මෙන්ම වදන් කවි පොතද සිංහල භාෂාවේ මුල් විශ්ලේෂණ පොතකි. [මගේ විශ්වාසය මේවා දඹදෙනියුගයේ ලියැවුණු බවය] බොහෝ උගතුන් බස යොදා ගත්තා මිස, බස හැදෙන හැටියක් මේ කාලය තෙක් ලියා ඇති බවක්, මා දන්නා තරමට නැත. බස හැදුනේ ව්‍යවහාරයෙන් බවත්, අඩු දැනුමැ'ත්තන් වෙනුවෙන් පොත ලියන බවත් සිදත් සඟරාවේ, දී ඇත්තේ මෙසේය.

ම හද ගදකිළි කර - සව් නේ ගෙවා දත් හට - <u>දුහුනන් දැනුම් සදහා</u> - කරනෙම් සිදත් සඟරා ;

පද'රුත් විදි සියල් - අනු රූ සේ පියෝනන් - ඉති සන් සඳ සමස් ඈ - <u>වහර'නුසෙරෙන්</u> සපයා

බස වැඩී දියුණු වූ අයුරු විශ්ලේෂනාත්මකව, දීම මෙන්ම, තව දුරටත් වර්ධනය කරන අයට, සම්ප්‍රදායේ තොරතුරු දීමෙන් මගපෙන්වීම, පොතේ අරමුණ යි.

සිදත් සඟරාව අපට පාසලේ දී උගැන්වුනේ නැත.එහෙත් බොහෝ දේ දත්, සරම බැනියම ඇඳි අපේ ගුරුවරු, බස උගන්වද්දී අදාළ ලෙසට, මේ පොත් වලින් උධෘත දෙමින්, ඒවා ලෑල්ලේ ලියා කියා දුන්හ. පාඩම අවසන් වුවත්, ඒ අය අපේ පොත්වල නැති දේ නො මකා ඉතිරි කළේ, දෑසින් නිතර දැක, අපේ හිත්වල ඒ දේවල් තැන්පත් වෙන්නට යයි, මට දැන් සිතෙයි.

සාහිත්‍ය මංජරිය හය සිට අට දක්වා වූ පන්තිවලට නියමිතව තිබුණි; ගද්‍ය හා පද්‍ය පාඩම් බොහෝ ය. බොහෝ කොටම තිබුනේ උසස් කෘතිවලින් උපුටාගත් පාඩම් ය. ජාතක පොතින්, සද්ධර්මරත්නාවලිය, පූජාවලිය, වැනි පැරණි පොත්වලින් ගත් ඒවාය. පාඩමේ යට, වරහන් තුල, අදාළ පොතේ නම ලියා තිබුණි. අතකුරු ගසන්නා මුඛරි පුරෝහිතයා හට රජුගේ අනුදැනුම ඇතිව, එළු බෙටි නැලියක්ම ගිල්ලවීම, මී පැණියෙහි ලොබ වූ මෘගයා, බන්ධුල සේනාපති එක ශර පහරින් ලිච්ඡවීන් විද මැරීම ආදිය ඒවාය. ජාතක පොතෙන් උපුටා ගත් කතා කීපයක් මා සිතේ තදින් ඇඳිනි. "ගැල්සාත්තු නායකයාගේ කතාව" ලෙස නම් කර තිබුණු වණ්ණු පථ ජාතකය 'මඝ මානවක කතාව' නමින් වූ කුලාවක ජාතකය හා නාම සිද්ධි ජාතකයයි.

අපේ පාසලේ නිමල්, මානෙල් වැනි නම්ද, ගුණදාස, පියසිරි වැනි නම්ද, විල්සන් ලයනල් වැනි නම්ද, තෙයාරිස් වැනි නම්ද, ඇති ළමයින් සිටි නිසා, සමහර නම් වඩා හොඳය යි අපි ඒ කාලයේ සිතුවෙමු. නාමසිද්ධි ජාතකයේ නම්වල වටිනාකම ගැන මට කෙතරම් කා වැදුනේ ද යත් අදටත්, පාපක නම් අය හොඳ නමක් ගැන ඇසුව විට, දිසාපාමොක් තුමා ඔහු නමක් සොයා ගන්නට රට පුරා යැවූවිට, ආ පසු අවුත් නම් ගැන කී සැටි, ඒ වාක්‍ය යෙන් ම මතකය. " ජීවකයෝත් අජීවකයෝත් මියෙති; ධනපාලයෝත්

අධානපාලයෝ ත් දුප්පත් වෙති; පන්ථකයෝත් අපන්ථකයෝත් මං මුලා වෙති නාමයෙහි අර්ථ සිද්ධියක් නැත්තේය. මට අන් නමක් අවශ්‍ය නැත්තේම ය.”

එසේ උගැන්වූ, අපේ එදිනෙදා බසින් ඈත් වූ, පෙර කල තිබුණු මිශ්‍ර සිංහලය නිසා, පාළි හා සකු වදන් අපට හුරු වුයේ නිතැතිනි. බස දත්තකු වීමට, සරල සුගම නොවුනු බස් තේරුම් ගැනීමේ හැකියාව ද, ඇති කර ගත යුතුය යන මතය සේම, අපේ ගුරුවරුන් එවැනි උගතුන්ය යන පිළිගැනීමද, අපේ සිත් තුල ඉබේම පැළපදියම් විය.

අට වැන්නේ දී අපේගම, උම්මග්ග ජාතකය හා පද්‍යාවලිය යන පොත් ද පටන් ගැනුනි.

---- 000 -----

## 9. පැටි කලේ - සිප් හලේ 2

සාමාන්‍ය පෙළ පූර්වය වෙන විට, බස් හා සාහිත දැනුම සේම, ඒවාට කැමැත්තක්, ආසාවක් ඇතිකරන උගැන්වීම් රටාවක අප බහා තිබුණි. වන පොත් කිරීම් බොහෝ සේ සිදුවුවත්, අරුත් නොදැන කීම් ක්‍රමයෙන් අඩුවී, අප කියන කවිවල තේරුම් අපි දැන සිටියෙමු. අරුත් කියා දීමේදී, ගුරුවරු සිය වියත් බව මනා ලෙස පෙන්වූහ. මේ කාලයේදී ගුරුතුමාගේ උගැන්වීමට සීමා නොවී, උගැන්ම බරපතල දෙයක් ලෙස සිතන්නට අප පොළඹවන ලදී. 'ආණ්ඩුවෙ විබහගය' ලෙසින් ළමයින් කී රජයේ විභාගයට, වසර දෙකක දැනුම, මතක තබා ගෙන උත්තර ලියන, ලොකු වැඩකට අපි පෙළ ගැසුනෙමු.

සාමාන්‍ය පෙළ සාහිත්‍ය විෂය සඳහා, රජයේ විභාගයට නිර්දේශිත පොත් වුණේ, සැළලිහිණි සංදේශය, උම්මග්ග ජාතකය පැරණි සාහිත්‍යය වෙනුවෙනුත්, අපේගම හා පද්‍යාවලිය, නූතන සාහිත්‍ය ග්‍රන්ථ ලෙසිනුත්ය. උම්මග්ග ජාතකය දඹදෙණි යුගයේය. සැළලිහිණි සංදේශය කෝට්ටේ යුගයේය.මේ පොත්වලින් අප උගත් වචන බොහෝය.

උම්මග්ග ජාතකයේ බස වෙනස් ය. එහෙත් ළගන්නා ගතියක් තිබුණි. අපට නුහුරු වචන තිබුණ ද, ගුරු ඇසුරින් අරුත් දත් විට, ඒ බස ප්‍රිය විය. සිත් ගන්නා, උපහාසය මුසු කොටස්, අදටත් මතකයේ ඇත. චර පුරුෂ සේවයේ යෙදෙන ගිරවා තොරතුරු ගන්නේ, බඹදත් රජුගේ සැළලිහිණිය ගෙනි. " ගිරවානෝ ගොසින් බ්‍රහ්මදත්ත රජ්ජුරුවන්ගේ මාළිගයෙහි, රන් කොත් කැරැල්ල මුදුනේ හුන්නාහු, රාග නිඃශ්‍රිත හඬක් හැඬූහ. කුමක් පිණිස ද යත්, සැළලිහිණිය කවර මාලයෙක, කවර ගබඩාවෙක බවක් නොදැන යා නොහැක . මේ මාගේ ශබ්දය අසා මට ප්‍රතිවචන දී තොමෝත් හඬයි. ඒ සලකුණින් ඈ සමීපයට යමියි සිතා හැඬූහ."

නිඃශ්‍රිත යනු සහිත, පිරුණු යන තේරුම එදා උගත්තෙමි, සතිපට්ඨාන සූත්‍රයේ 'අනිස්සිතොච විහරති ' අර්ථය ලෙස අනිඃශ්‍රිතව වාසය කරයි දකිත්ම, රහිත අරුත ගන්නට හැකිවුණේ, අපට බර බර වචන කුඩා කාලයේම උගන්වා තුබුණු බැවිනි. මේ මතකයන් මගේ කුඩා පාසල හා, එහි ගුරුන් කෙරේ ගෞරවයක් උපදවයි.

මහෞෂධ නිවසේ කේවට්ටයන් ලබන නිග්‍රහාත්මක සැලකිල්ල අපට රසවත් එකක් විය. ගොම මිශ්‍ර මැටි පොළවෙහි සිටගෙන සිටින්නට සලස්වා, ගෝලයන් ලවා හිරිහැර කොට පළවා හැරීම, ලස්සනට ඉදිරිපත් කොට තිබුණි. ඒ වදන් පෙළ ගැස්මේ සුන්දරත්වය දැනේනේ, එහි ඇති පරිද්දෙන්ම උපුටා දැක්වූ විටය.

“කේවට්ටයා බෝධිසත්වයන් සමීපයේ හිඳිනට අස්නක්වත් නැතිව, වැතිරගෙන සිටිනා ආධාරයක්වත් නැතිව, බෝධිසත්වයන්ගෙන් මිහිරි කථා මාත්‍රයක්වත් නො ලදින්, වැසි සමයෙහි ගවර පිරි ගොවුදකට වන් ගොන් මාල්ලකු සේ, ගොම ඇඟිලි අසුවලින් පලව පලවා, ඒ පයින් මේ පය ලලා, මිරි මිරියේ මිරිකමින් සිටියේය. ඒ සිටියාවූ බමුණා මුහුණ බලා, එකෙක් තමාගේ නුවන කසා ලීය; එකෙක් බැම උඩ නගා ලීය; එකෙක් වැලමිට කසා ලීය; බමුණු ඔවුන්ගේ මේ ක්‍රියා දැක, ඉඟි කරුව ඇත් මැත් බලන්නේ, “පණ්ඩිතයිනි, අපි යම්හ යි” කියා, අනිකකු විසින් ‘කොළ අරිටු බමුණ, නො දොඩවයි කියද්දීත්, දොඩ දොඩා ම සිටින්නේ දැයි, දැන් තොපගේ ඇට බැට තලා පියම්හයි’ කී කල්හි, භයින් ත්‍රස්තව නැවත පිටි පස්ස බැලීය. ඉක්බිති, එසේ බැලූ බමුණාට එකෙක් හුණ පත්තෙන් පිටට පහරක් ගැසීය.. එකෙක් ‘යෙයි ද නො යෙයි ද’ කියා කර අල්ලා ගෙන දැමීය. එකෙක් දිවෙමින් ගොස් පිට මැද ඇතුල් පහරක් ගැසීය. ඒ තෙමේ දිවියකු කටින් ගැලවුණු මුව මාල්ලකු සේ, තැති ගෙන වෙව්ල වෙව්ලා දුවන්නේ, දුක සේ ගොස් රජ මාළිගයට වැදුනේය.”

යම් තැනකට ගිය කෙනකුට, පිළිගැනීමක් නැති තැන සිතින් වැටෙන සැටිත්, තමා ගැන ඉහළින් හිතන අයට මේ දැනීම ප්‍රබල බවත්, පළමු වාක්‍ය ඛණ්ඩ වලින් පෙනේ. අසරණවීම, උපහාසයට ලක්වෙමින් ගොම සහිත පොළවක පාවහන් නැතිව ඉන්නටවීම, හොඳින්ම දනවන වදන් තෝරා ඇත. ‘මිරි මිරියේ ඒ පයින් මේ පය ලලා ’ අද අප කියනා ලෙසට “චිරි චිරියේ ඇඟිලි අස්සෙන් එද්දී කකුල මාරු කර කර” වගේම, අප්‍රිය ගතියක් ඇති කරයි. යුගයේ බස් වෙනස ඇතත්, අරුත් නැංවීමේ දී එකසේම ය.

සේවකයන් ගේ ක්‍රියාකලාපය, වර්තමානයේ වුවද, චිත්‍රපටයක චන්ඩි පිරිස අවුත් තනිවූ අයකුට පහර දෙන්නට අරඹන විට කරන සමච්චලය හෙවත්, අද කතා ව්‍යවහාරයේ නක්කලය හෝ කින්ඩුව දැමීම ම නොවන්නේද? වේදේහ හිමියන් ජන සමාජයේ හැසිරීම් හොඳින් දැක තිබේ.

වයසක මිනිසකුට හිරිහැර කිරීම විනෝදයක් නො වෙතත්, යන්තම් ගැටවර වියට එන අපට, එය නියම හිනා කතාවක් වුනේය.’

වසර අට සියයක් පමණ පැරැණි වුවද, අදටත් දකුණු පළාතේ ‘කතා කිරීමට’ යොදා ගන්නා ‘දොඩනවා’ කියන යෙදුම මෙහි ද ඇත.

උමං කර්මාන්තය පිලිබඳ උත්කෘෂ්ට වර්ණනය, යුගයෙන් එහා දේ මනසින් මැවීම කි.

“උමග වනාහී අටළොස් රියන් උස ඇති, යන්ත්‍රයෙන් යුක්ත දොර වලින් ගැවසී ගත්තේය. එක ඇනයක් මිරිකා ලන්නාහා ම ඒ දොරවල් මුළුල්ල පිහී යන්නේය. අනෙක් ඇනයක් මිරිකා ලන්නහා ම ඇරී යන්නේය.මහා උමග දෙපාර්ශවය උළින් බඳවා සුනු කර්මාන්ත කරවූ සේක.මුදුනේ වියන් පෝරු අතුරවා සකලා ගාවා,

මකුළෙන් අති ධවල කරවූ සේක. ඒ මහා උමග අසූ මහා දොරක් හා සැටක් සුළු දොර හා වූයේය; ඒ මුලුල්ල යන්ත්‍රයෙන් ම යුක්ත වුයේය."

අද බසින් මේ ඉදිකිරීම ලියන්නේ නම්, "එහි මහා දොරවල් අසූවකි; කුඩා දොරවල් හැටකි. ඒ සියල්ල එකවර එක ස්විච් යතුරකින් වැසීමට පුළුවන තව ස්විච් යතුරකින් ඇරීමට පුළුවන බිත්ති වල ටයිල් අල්ලා ඇත; ලැලි. සිවිලිමකි; සියල්ල සුදු පාටින් සායම් කර ඇත"

<u>මේ පොත ලියන යුගයේ විදුලිය වත් ස්වයංක්‍රිය පද්ධති වත් ලෝකයේ කොහේ වත් තිබුණේ නැත</u>. මෙය ප්‍රබන්ධයක් වුවත් අද ඒ හැම භාවිතා කරන්නට ලෝකයම පුරුදුවී ඇත.

ආතර් සී ක්ලාක් මහතා ගේ ප්‍රබන්ධ නිසා, අද තිබෙන සන්නිවේදන ක්‍රම උත්පාදනය වූ බව කියැවේ. එතුමාට ගෞරවයක් දෙති; එය සුදුසු ය. අපේ ඇත්තෝ ද මේ කතා උජාරුවෙන් කියති, **එහෙත් ස්වයංක්‍රිය පද්ධති ගැන මුල් අදහසක් දුන් බවට වේදේහ හිමියන්ට පසසන කෙනෙක් නැත.**

මා සිතන විදියට, ගුත්තිලයට පමණක් දෙවැනි සිංහල කවි පොත සැළලිහිණි සංදේශය යි. බසෙහි දස්කම් විස්කම් පාන රහල් හිමියන් ගේ කවිත්වය, ගුත්තිලයේ තරම්ම නැතත්, වචන හරඹය නම් ඉතාමත් මනරම්ය.

ගුත්තිල කාව්‍යය අදටත් මා මුළුමනින් කියවා නැත. එහෙත් එහි ඇති රසබර කවි සියල්ලම පාහේ වෙන පොත් වල උපුටා ගැනීම් ලෙස, අපට උගැන්වුනේ මේ පාසලේදීය. ගුරවරු රස කරමින් කියා දුන්නෝය. ගුරුතුමා විදි රස භාව අපට නොදැනුනත්, අපේ මට්ටමට ඒවායේ හරයක්, රසයක්, වැටහුණු නිසා, අදටත් ඒවා සිහි කර රස විඳින්නට පුළුවන. ඒ කාලයේ, කවියක් නම් පාඩම් තිබීමද, තාලයට ගායනා කිරීමද, එකම කවිය විවිධ තාල වලට ගායනා කිරීමද, අපට පුහුණු කෙරිණි. මේ කවි අයත් විරිත් වල නම් පවා, ඔවුහු අපට කීවෝය. සමුද්‍රඝෝෂ හා මාලනී, විරිත් වලින් මට මතක ඇති නම් ය. යාදිනි, හෑලි, හා ගී විරිත් ද හෙළ සාහිතයේ ඇති බව උදාහරණ ද සහිතව කීහ.

විභාග නිර්දේශය නොව, බස උගත යුතු බව ඔවුනගේ මතය විය. බස හා සාහිත දැනුම් සිංහලයකු සතු වීම ප්‍රථම බවත්, විභාග නිර්දේශය තුල විෂය සමත් වීම, ද්විතියික බවත් ඔවුහු ඇදහුවෝය. මේ ක්‍රමය නිසා, බස හොඳින් උගත් අප පන්තියේ වැඩි දෙනෙක්, සිංහල භාෂාව හා සාහිත්‍යය සඳහා සම්මාන සාමාර්ථ ලැබුහ.

උගැන්ම කොටස් හතරකින් සම්පූර්ණ වෙන බව කියා දුන්නේ, ගුරුතුමා ද මගේ පියා දැයි මතක නැතත්, එය අට වැන්නේදී පමණ දැන ගත් බව නම් කිව හැකිය. අධ්‍යයන,

අධ්‍යාපන , උද්ග්‍රහණ, ධාරණ යනු ඒවාය. කරුණු සොයා දන ගැනීම, අන් අයකුගේ කියාදීම මගින් දැන ගැනීම, ඒ දෙකින්ම ගන්න දේ උකහා ගැනීම හා, ඒ දෙය මතක තබා ගැනීම මේ කොටස් හතර වේ. අපේ උගැන්ම බර වුනේ අධ්‍යාපන හා ධාරණ දෙකටය. එහෙත් අතිරේක පොත් කියවීම තුලින් අධ්‍යයනයටත්, අවබෝධ පරීක්ෂණ හා සාරාංශ ලිවීම තුල උකහා ගැනීමට ත්, පුරුදු කළා නොවේ දැයි මම දැන් සිතමි. මේ දේ දැන හෝ නොදැන කළ නිසා, මා මගේ පොඩි වයසට, ඒ පාසලේ දී, සෑහෙන දැනුමක් එකතු කරගෙන ඇති බව, තේරෙන්නේ දැන් ය. අවබෝධයෙන් තොරව මතක තබා ගැනීමට, අපේ පුතාලා කියන්නේ 'ගිරා පාර දානවා' යනුවෙනි. ඒ ක්‍රමයත් , අද කාලයේ , සමහර පාඩම් කොටස්, විභාගයෙන් සමත් වීම සඳහා විශ්ව විද්‍යාලයේ ද සිසුන් යොදා ගන්න බව, ඔවුහු කියති. ලංකාවේ දැන් කාලේ, සහතික ඇතත් දක්ෂයන් හිග, මේ නිසා විය හැකිය.

සැල ලිහිණියා  අස්න රැගෙන පිටත්වීමට පෙර, ජයවද්දන පුරයේ දී දළදා වැඳිය යුතු විය. අස්න බාර දීමට පෙර, කැලණියේදී දාගැබත් බෝධියත් වඳින්නට කියයි . ශාරීරික පාරිභෝගික වස්තූන් වඳින්නට කියන කවි තුනම මගේ සිත බැඳ ගත් ඒවාය.

" ලොවැ විහිදා සුදු පැහැ සඳ රසෙ'ව් සැදී , දෙන නොමඳා සිරි සග මොක් සැප නිසැදී , ලද මුනිඳා දම් කඳ පහස මන බැඳී,  වඳු දළදා හිමි තෙමහල් පැහැය රැඳී"

ධර්ම ස්කන්ධය ලොවේ විහිදෙන්නේ ය. එය සිරි සග මොක් සැප ලබා දේ.දහම් දෙසනවිට ධර්මය මුනිඳුන් දත් වල ස්පර්ෂ වේ. එවන් දළදාව වඳින්න.

කොහෙන් මේවා ගැලපුවා දැයි පුදුම සිතේ.දේශකයාණන් වහන්සේ ගේ මනසේ ඇති අර්ථවත් දේ, භෞතික වස්තුවක් වෙන දතකට සම්බන්ධ කරන්නට කල්පනා කිරීම ම, රහල් හිමියන්ගේ බුද්ධි ප්‍රභාවයි. දහම්, ලොව නිවන, මුදු මිහිරි එකකි. සඳරැස් මුදු සිහිල් එකකි. එය  ඔප් නංවන්නට සුදු යන විශේෂණයක් ද එක් කර ඇත. අද යෙදුම්වලත්, සුදු කළු හොඳ නො හොඳ වෙනුවෙන් භාවිත වේ. සුදු යහගුණය දක්වයි. දහම් දෙන සාන්ත සහනශීලී ගතිය දනවන්නට සඳ රැස් යා කර ඇත. අර්ථානුකූල බව, ධර්මානුකූල බව සිරි සග මොක් සැප දෙනබව කියමින් ඉස්මතු කෙරේ. සීමිත වචන ගණනකින් පිටු ගණනක් විස්තර කරන්නට තරම් දේ ට ඉඟි දෙන්නට රහළ් හිමියෝ සමර්ථයෝ ය.

" වඳු දළදා හිමි තෙ මහල් පැහැය රැඳී " බොහෝ වෙසක් පත් වල දළදා මදිරයේ හෝ කරඬුවේ රුවක් සමග මෑතක් වෙන් තුරුම මෙය ලියා තිබුණේය.. එය සිංහලයාගේ බොදුනු කමට, මේ කව කා වැදී ඇති බව තහවුරු කිරීමක් සේ මම සිතමි.

“අප මුනිඳු බුදු වන දින මුරුන් පිදු , පැහැ විහිදු දිලි කළදෝ යටින් යෙදු,
සැදි සිනිඳු ඉඳුනිල් මිණි සතෙක බඳු, වැඳ දුමිඳු කළ පින් ලද ත’අත් බඳු ”

බෝ ගසේ කඳ දුඹුරු පාට වුනත් සමහර පරණ ගස් වල දිලිර වර්ගයක් නිසා සුදු පාට පදාසයන් ම තිබේ. අපේ ගමේ පන්සලේ වසර සියස් ගණනක් පැරණි බෝ ගසේ කඳ ද, බොහෝ ප්‍රදේශයක් සුදු පාටය. කලදෝ යටින් යනු රිදී යෂ්ටියක් යයි ගුරුතුමා කීවිට අපට පහසුවෙන් තේරුණි. කොළ පැහැති බෝ පත් ඉඳුනිල් මිණි වුණේ, කවිසමයේ කොළ පාටටත් නිල් කියන නිසාය. ඉහළ කම කියන්නට මැණික් වලත් ඉහළ ඉන්ද්‍ර නීල මාණික්‍යය ගෙන අවුත් තිබේ. සතෙක හෙවත් කුඩයක හැඩය විසාල ගසක් ඈතට පෙපෙන පෙනුමය. ඉංග්‍රීසියෙන් ද ඡත්‍රාකාර [umbrella type] ගස් ලෙස මේවා හැඳින්වේ.

රහල් හිමියන්ගේ මනෝ භාව හා, දැසින් දකින ස්වාභාවිකත්වය බසින් චිත්‍රණය කිරීම, මගේ මහත් ගෞරවාදරයට පත්වුණේ, උඩු තොලේ බූවවත් නැති දරුවකු කාලයේමය.ඒ, මගේ ගුරුවරුන් ගේ පැහැදිලි කිරීම, ඇගයීම හා, රසවිඳීමේ හැකියාව අපට බෙදා දුන් බැවිනි. දුන් දෙයින් කොටසක් හෝ මා සතු කර ගත්තෙමි’ යි, මම දැනුත් සිතමි; සතුටු වෙමි.

පෙර උව්දා ගෙන ගිරිඳා සිඳු සලන, නැගි පැහැදා පෙන සමුදා සැටි නුමුත
මෙන උළිඳා පැහැ විහිදා නෙදිගු බිත, සැදි වටදා ගෙහි වඳු දා ගැබ දිමුත

වටදා ගෙය තුල ඇති දාගැබ කිරි පාටය. වැස්සට තෙමී පෙඳ බැඳී දුර්වර්ණ වී නැත. සඳක් මෙන් පැහැ විහිදයි.මුහුදේ පෙණ වැනිය. කුමන මුහුදේද කිරි මුහුදේය. කිරිමුහුද කවි සමයේ එන්නකි; හින්දු දේව කතාවලිනි. උව්දා හෙවත් විෂ්ණු මහාමේරුව අතින් ගෙන කිරිමුහුදේ ඔබා කළඹන විට අමෘත ය, සුරබිදෙන, භද්‍ර ඝටය ආදිය පහළ විය; ඒවා සුරයනට දුනි. අමෘතය බී සුරයෝ අසුරයන් පැරදුවෝය.මේ මනඃකල්පිත සුන්දර කතා, සත්‍ය ලෙසින් අදහන්නන් ඇතිදු, ඒවා අසත්‍ය ම වුවත් සුන්දරය. සරලව කීවොත් සොඳුරු මිහිරි පවය මේ විස්තර අපට කියා දුන්නේ, ජාතික බැනියම අඳින, බයිසිකලයෙන් හෝ පයින් පාසලට එන, පාසලේදී සෙරප්පු ගලවා නිකම් පයින් ම සාලාවේ ඇවිදින, සරල චාම් මිනිසුන් ය; අපේ අල්පෙච්ච්ඡ ගුරුවරුන් ය.

ජයවද්දන පුරයෙන් ඔබ්බට යන්නට පිටත් වෙද්දී, ශ්‍රී සමෘද්ධිය ගැන කෙරෙන අතිශයෝක්ත වර්ණනාවන්, බස හා වර්ණනය අනුව ඉහළ නමුත්, ගමේ ගොඩේ ගහ කොළ, මුහුදු වෙරළ දැක පුරුදු, මගේ සිතේ රැඳුනේ, ස්වාභාවික පරිසරය පිලිබඳ කවි ය. වෙරළ හා රළ නිතර දකින, පාගන, රළ බිඳෙන හඬ අසන අපට ඒ තොරතුරු, බසින් දෙන රූප, හඬ ආදිය, වඩාත් විසිතුරු ලෙස ආකර්ෂණීයව සිතේ කා වැදුනේ,

අප නොදත් වියත් බස හැඩ වැඩ ඇතිව කියාදුන්, අපේ ගුරුතුමන් ගේ හැකියාව නිසාම යයි මම කියමි.

වළඳින අදහසින් මෙන් සුර ගඟ අඟන, නල බල සසල දල රළ පෙළ නුබ නැගෙන
වෙලලසැ ගැවැසි මුතු සක් පබළු බබලන, බල මහ මුහුද එම සඳ උතුරින් පෙනෙන

මූදේ රළ ඉහළ නැගේ; වෙරළේ හක් ගෙඩි බෙලි කටු ආදිය ඇත; රළ වැදී තෙත් ව මේවා හිරු රසින් දිලිසේ. මේ අපේ ජීවිත අත්දැකීම් ය. අප දන්නා මේ දේවල් වලට රහල් හිමියෝ අමුතු කතා එකතු කොට කවි සාදති.

සුර ගඟ ඇත්තේ අහසේය; එය කවි සමයේ ඇති තවත් සුන්දර විස්තරයක් සේ ගුරුතුමෝ අපට කියාදෙති. නල බල සසල, දල, රැල්ලට යෙදූ විශේෂණ පද වේ. මුහුදේ රළ නැගෙන්නේ සුළඟ නිසාය. සුළං සැර නම් රැල්ල වඩා ඉහළට නගී. ගමේ දී අපි 'රැල්ල පොඩියි, රැල්ල ලොකුයි' කියමු. මේ සියලු කතා විශේෂණ පද හතරකින් කියා ඇත. තෙවැනි පදයේ කෙටි වදන් රූස මුහුදේ කැළඹීම දනවයි. වැල්ලේ සිට සිද්දිය දැක, ගෝසාව අසා ඇති අපට, වචන වලින් දෙන විස්තරය පපුවට දැනෙන්නේ, කතු තුමා ගේ හපන්කම, විද උකහා ගත් ගුරුතුමා හිනාවෙවී, කට හද හදා කියා දුන් නිසාය.

අග පිපි මල් මලිගිය ලිය කැලේ යා, වග බැඳ හෙන රජ හස පුල් විලේ යා
ළඟ තුරු මල් ගිලිහුන රොන'වුලේ යා, මග බැස යව පල හෙළ වැලි තෙලේ යා

රාජ හංසයන් කෙසේ වුවද, කොකුන්, කිරලුන්, කොරවක්කන් දිය ඇලවල් අසල බිම් කඩ වල, අපේ ගම්වලදී අප දැක ඇත. සත්තු වත්තේදී දකින තුරු, හංසයා යනු අපට කුරුල්ලකුගේ නමක් පමණි. වැලිතලා ම නැතත් ඉඩෝර කාලෙට ඇලවල් සිඳේ; ඇල පතුලේ සිහින් දිය පාර දෙපැත්තේ වැලි ඇත. අරලිය, ඉද්ද, ඇට්ටේරිය, වල් බෙලි, ගම් සූරිය ගස් මුදුනේ පිපි මල් ද, ගස් යට හැලුණු මිදෙල්ල,බක්මී [අපේ ගමේ බකිනි] හෝ ඇට්ටේරිය මල් හා රේණු ද, අප දෑසට හුරු දසුන් ය. පොතේ කියන්නේ බස්නාහිර පළාතේ ගම් වල, වසර පන් සීයකට පමණ පෙර තිබුණු ගහ කොළ මල් ගැන වුවත්, අප මනසින් පන්තියේදී දකින්නේ, ගමේ තැන තැන දැක්ක දේවල් එක චිත්‍රයක සිතුවම් වෙලාය.

මග නිලමින් සිටි නා දොඹ නී පියල, පිය සලමින් මල'ගෙහි කෙළ රොනින'වල
ත' තුඩ ලමින් බිදැ විළිකුන් මියුරු පල, ඉසුඹු ලමින් යෙහි සැළ දඹ පඳුරුවල .

ගස් තිබෙන නිසා මග දෙපස කොළ පැහැති ය. ගස් වල කොළ, එකම පාට නොවේ. කොළ පැහැයේ විවිධ ස්වරූප ඒවායේ ඇත. නා, අළු පැහැ කොළ පාටද දළු රතට ද, දොඹ, නියම තද කොළ පාට ද, බක්මී, අලු දුඹුරු කොළ පාට ද වේ. මේ සියල්ල කවි

සමයට නිල් ය. 'පාර ම කොළපාටය' කියනා අපේ කතාව නිලමින් යන තනි පදයකින් දී ඇත. මෙය අපූර්ව යෙදුමකි. රේණු හොඳින් පෙනෙන මල් ය; බක්මී, නා, දොඹ හා මිදෙල්ල ආදිය. මලේ මැද ත්, බිම හැලී ඇති විටත්, මේවා නිතැතින් ඇස ගැසේ. රොන් පිරි හෙවත් රොනින'වල යනු ඒ දර්ශනය වදනට නැගූ සැටි යි. රහල් හිමියන් වදන් සපයා ගන්න සැටිත්, ඉතා අඩු වචන ගණනකින් ලොකු විස්තරයකට මග පාදන සැටිත්, මගේ මහත් විස්මයට හා ඇගයීමට බඳුන් වේ.

'ගමේ පුවක් වැටේ මල් පිපිලා; ගෙඩි හැදිලා'!.

"බන්නේ මරා මිණි දුල පබළු මුතු පට , වැන්නේ ගම'ඹු ගෙලෙ පළ මල් කුමුකු වට" ලෙසින් රහල් හිමියන්ට මේකටත් කතාවක් ඇත.

ගම අඟනකි. ඇය කර පළන් මාලය මරකත මිණි හා පබළු මුතු වලින් සැදී ඇත. මරකත හෙවත් පච්ච ගල් කොළ පාටය; මුතු පබළු සුදු පාටය. අමු පුවක් ගෙඩි කොළ පාටය ලොකු ය; පුවක් මල් සුදු හෝ ඇත් දළ පාටය; කුඩාය.

ගං ඉවුරේ නේක ජාතිවල ගස් ඇත. හරිත වර්ණ ගහ කොළ මේ කවිවලට තෝරා ගෙන ඇත. උස හා මධ්‍යම ගස් වදුලට සැදේ. කැළණි ගං තෙර ජනාවාසයකි. එනිසා ඉබේ වැවෙන ගස් සේම, ගෙවතු වල වවන ගස් ද, ගඟ දෙසට යද්දී පෙනේ. ගස් කොළන් ලැයිස්තුවක් සේ පෙනුනත් මේ හැම ගසක් ම තෙත් කලාපයේ හැදෙන ගස් ම පමණි. තෙවැනි පදයේ ඇති ඒවා ගෙවතු වල වවන ඒවාය.

සල්, සපු, කීන, දොඹ, රැරඟ, නා, මිදෙලී, පුල් එරහැඳි, හෝ පලු, මී අඹ, පලොලී,  පොල්, පුවකු'ගු රඹ, මල බුලත, සලිමලි, නිල් ගන සා සෙවනලු දෙතෙර මනකලි.

අපේ ගුරුතුමා මෙයට ගස් නාමාවලියක් කීවත්, මට ඇළ ඉවුරේ ගස් පේළි හා ඔබ්බෙහි වතුවල කෙසෙල් පොල් පුවක් ඇති අපේ ගමේ ඉඩම් සිහි විය.

නාග කන්‍යාවන් ගේ වර්ණනාව තනිකර හිතළුවකි; එහෙත් මනස්කාන්තය; සිත් ගන්නා යෙදුම් රැසකි.

කළු කොණ්ඩය කවියාට නීල වර්ණය. වරලේ ගැවසූ කඩුපුල් මල් නාග ලෝකයෙහි ඇති විශේෂ වර්ගයක් බව ගුරුතුමා කීය. කඩුපහර හෝ කඩුපුල් මල් ලෙසින් හඳුන්වන රැට පිපෙන ලා රෝස පාට පිට පෙති [නිපත්‍ර] හා සුදු පාට මාංසල පෙති තිබෙන ලොකු මල් ජාතියක් අපි දැක ඇත්තෙමු . මගේ සිතට ගියේ, නාග කාන්තාවන් මේවා ඉසේ ගසා සිටි අයුරකි. මිණි මෙවුල යනු හවඩිය වගේ, ඉනේ බඳින මැණික් වලින් සැදුව එකක් යයි ගුරුතුමා කියා දුන්නේය. රහල් හිමියන් ගේ කවි වල රන්, රිදී, මුතු, මැණික්, මාල, මිනිමෙවුල, ස්ත්‍රීන් ගේ දෙ තොල, උකුල, තන, ඇස, මුහුණ ගැන අසීමිතව කියැවේ.

“දෙපසා ඉසින නිල් පැහැ නෙත දිගු පුලුල” මනහර යෙදුමකි. මුහුණේ ආකර්ෂණය ඇස්, තොල් හා දත් ය. දිගු , පුළුල් ඇස වැඩි අවධානයට යොමුවේ. මේ නිල් ඇස් ඇති අඟනෝ, ඇස් හරවමින් ඒ මේ අත බලති. කොහොමටත් කාන්තාවෝ හිස හරවා බලනවාට වඩා ඇස හරවා බලන්නට හුරුය හ. මේ ඇස හැරවිල්ල නිල් පාට ඉසිල්ලක් සේ කියන්නේ, එය සැපක් දෙන පැන් ඉසීමක පරිද්දෙනි.

ගවසා සුපුල් කඩුපුල් මල් නිල් වරල , සලසා උකුළු වට රසු’දුල මිණි මෙවුල,
සකසා දෙ තන හර සඳනෙන් කර සිහිල, දෙපසා ඉසින නිල් පැහැ නෙත දිගු පුලුල

මනහර නා මෙනෙවිය’නිඳ ළ වැලි පිට, ගෙන මිණි වෙණ තත් නිය’ගින් මැද රුවට
කන එව කියන බුදු ගුණ ගී මියුරු කොට, සැනහෙව කැලණි ගඟ බඩ මඳ කලක් සිට.

මේ වීණා වාදනය ගැන කියවෙන කවියේ න යන්න කී ආකාරයකින් න, නා, නි වශයෙන් ඇත්තේ දැයි බලන්න. වීණාවක් කෙසේවෙතත්, මැණ්ඩලීනයක් උපදවන හඬට අනුරූප වන ශබ්ද උපදින වදන් රැසක් යොදා ඇත.

මේ කවිය කෙතරම් රසවත් වන්නට ඇති දැයි සිතෙන්නේ, වසර පන් සීයකට පමණ පසු ගීත රචකයකු ලියුව කැලණි විහාර වර්ණනාවක, “ නා මෙනෙවිය පෙර කල හිඳ ළ වැලි තලාවේ, තත් පිරි මැද ඇඟිලි තුඩින් මිණි වීණාවේ, අදත් ඇසෙයි එදා ගැයුව බුදු ගුණ ගීතේ, දොහොත් මුදුන් තබා වඳිමි කැලණි විහාරේ” ලෙසින් හෙළයේ ගාන්ධර්වයා සේ හැඳින්වෙන අමරදේවයන් ගයන ගීය නිසාය.

අද වැඩිහිටියකු ලෙස මා සිතන්නේ ‘අදත් ඇසෙයි’ කියා ගී පබඳින්නා ලියන්නේ, ඔහුට සිතින් ඇසෙන මේ කවිය බවය.

ඉර බැස ගොස්, සඳ නැගෙන සඳ, අහස ගැන කියන මේ කවි හතර මගේ මනසේ රැඳී ඇත.

වදිමින් සවස නල හැසිරෙන දිග’තු වල, සොබමන් සුනිල් මිණි නිල් නුබ’තුර විපුල
පත සන් අවර ගිරි නැටියෙන් වැටෙන කල, විළිකුන් සුරත් පල වැනි වේ රිවි මඬල

මහතුන් හසල තම හට යස පිහිට ලෙස,
නියතින් නොහළ යුතු බව පැමිණෙන වෙහෙස
සුදනන් සෙවුන සිරිතැ’යි දන්වන විලස,
නුබමින් සමග ගෙවෙනු ය දහවල් දවස

සැදෑ ළෙන් වරුණ දෙව් රද මුහුද විසූ
ස දෑ සහසකර එන මහවත සැලසූ
විදෑ උපුල් පිල මෙන් රත් පටින් වැසූ
සැඳෑ වලා පෙළ පැළ දිග පෙනුණු පසූ

උදුල සොමි කැලුම් නිසයුරු හිමි පුවළ
පහළ වෙන බැවින් තම වෙත නිස'ඹු දොළ
ලකළ ගුවන් තල සිරි යහන නිකසළ
අතුල කුසුම් විලසින් සැදෙන තුරු වැල

නිල් අහස ගසෙකි, සවස සුළං අතුවල හැපේ. ඒ නිසා ඉදුණු ගෙඩියක් වැටේ. රතට ඉදිනු ගෙඩිය සූර්යයාය. මුහුද අයිනේ සිට බටහිර අහසේ හිරු බැසයන අයුරු සැබැවට ම දුටුවේ නම්, රතු පාට ඉරෙහි සම්පූර්ණ රවුම සෙමෙන් පහත් වී, එක වරම වැටෙන සේ ගිලී යන සැටි නිසැකවම තේරේ. මෙය ගසක හා ගෙඩියක රූපකාලංකාරයෙන් ඉදිරිපත් කර තිබේ.

දවාලත් හිරුත් එකට පැවතීම ස්වභාවයයි, ඉර නැතොත් දවාලක් නැත. මිනිස් ගුණයකට ගලපා සුදන ගතියක් සේ කීම, බැරිවූ වෙලාවට වැඩිදෙනා එකට නො සිටින බව ව්‍යංගයෙන් කීමකි.

මුහුද බාර වරුණ දෙවියාටය.හිරු ද වරුණ ද එකම ජාතියේ අය වෙති. ගුරුතුමා කී ලෙසට, මේ කවි සමයේ කතාය. හවසට හිරු රැස් කෝණික ව පතිත වෙන විට, වර්ණාවලියේ රතු පැහැය කැපී පෙනේ මේ නිසා වලාකුළු රත් පැහැ ගැන්වෙයි. මේ ස්වාභාවික සංසිද්ධියකි. රහල් හිමියෝ කවිසමයක් ඇදගෙන, රතු පාවඩ එලන බවක් කියති. අදත් රාජ්‍ය අමුත්තන්ට රතු පලස් එළන සිරිතක් තිබේ.

අහසේ තරු හැම පැත්තේම විසිරී ඇත. වලාකුළු නැති දාට තරු පෙනේ. සඳට පෙර තරු පායයි. මෙයට අඹු සැමි යුවලක් යොදා ගෙන ශෘංගාරාත්මක ලෙසින්, යහනේ මල් ඉස, යහන් ගත වීමට රාත්‍රිය නම් අඟන සැදී සිටින්නේ, සඳු එනතුරුයයි කවියා කියයි.

රහල් හිමියන්ගේ කවි කල්පනා, අමුතුම ආකාරයක ඇඳා ගැනීම් සහිතව, වෙනස් ම රටා වලිනි. වදන් යෙදීම රම්‍ය ය. කවියට අවශ්‍යම නොවෙන පද ඇතත්, සක්ක පද ලෙස කිව නොහැක්කේ ඒවාද, අරුතට දායක බව විග්‍රහ කොට පෙන්විය හැකි බැවිනි. නිකසළ පදයට හොඳ විග්‍රහයක් දිය හැකිය. ගුවන් තල යහන පිරිසිදු ය; කසළ නැත. වලාකුළු තිබුණේ නම් තරු මල් නො පෙනේ. එසේ නම් අහසේ කසළ වන්නේ වලාකුලුය; අවශ්‍ය නොවන දේ කසළ වේ.

විබිසෙන් දෙව් වැනුම ද උපමා රූපක ගොන්නකි.

"නම කළ සත හැලේ සිහිලේ සැප සිලිලී - බිය සෙණ රුපු කැලේ තුමුලේ දෙන නො කලී

නළලත ගිරි තෙලේ සුනිලේ රසිනි'පිලී - සුර රද දෙබැම ලේ ගන ලේ සිරි කියෙලී "

සිහිල් දිය, හෙණ, වලාකුළු, මෙහි ඇති රූපක ය. දෙබැම නම් වලාකුළු නමස්කාර කරන්නනට සිහිල් වැසිදිය දෙයි. සතුරනට මහා හෙණ අවේලාවේ දෙයි.

අඩු වැඩි වෙමින් වහින, ලොකු බින්දු වැටෙන දවසක වැස්සක හඬ අඩුවැඩි වෙමින් ඇසෙන සද්දය සිතින් මවාගන්නට මේ වදන් පෙළ ගැස්ම අපූරුය.

"පානා සෙනෙහෙ සුසිනිඳු මඳ ලස බැල්ම , ගානා නිමහමෙ'ච් දෙවඟන නෙත් කැල්ම නානා සුරිඳු පුළුලුර සිරිසඳ ඇල්ම, නූනා කෙළන ගල තල වැනි ඉඳුනිල් ම "

ශක්තිමත් පුරුෂයකු ගෙ වැඩුණු ළය ගල් තලාවෙකි. ඒ තැනැත්තාට ආදරය කරන ගැහැණු, ඒ ළය දෙස බලන්නේ ආදර බැල්මෙනි. මේ බැල්ම පිරිමැදීමකි. නිකම් නොවේ නිමහම් [අද කාලේ ෆිනිෂිං ක්‍රීම්] ගෑමකි. නැවත ද කවි සමයට එළඹ, ශ්‍රියා කාන්තාවද කැඳවනු ලැබේ. ඇය ඉන්නේ උතුම් ස්ථාන වලය. දෙවි රජු ගෙ ළය තලේ ඉන්නී නිකම් නොවේ, සෙල්ලම් කරමිනි; ආසාවෙනි. හැඩිදැඩි කාල වර්ණ පුරුෂයකුට පෙමින් ඔහු අසල රැඳෙන ස්ත්‍රීන්, ගැන දෙවියන් දෙවඟනන් ඇදගෙන මේ කරන වර්ණනාව ට යොදා ඇත්තේ, කෙටි පද සමූහයකි; ඉතාම අඩු සම්බන්ධක පද ගණනකි.

රහල් හිමියන් ගේ ශාබ්දිකත්වයේ තවත් උච්ච අවස්ථාවකි මේ.

" පැහැ සරණිය මිණි පැමිණිය කොත් අගට, බඳ කිකිණිය දද ගිහිණිය විමන් වට නොව පැරැණිය වන රමණිය විටින් විට , සැළ ලිහිණිය වදු කැළණිය පුරවරට"

ගෙවල් වල කොඩි බොහෝය. ඒ වායේ කිකිණි බැඳ ඇත. කොඩි සුළඟට ලෙළ නො දේ නම්, කිකිණි හඬ නො නගී. සුළඟ සැරනම් එය ගාල ගෝට්ටියක් වනු ඇත. මේ කිසිවක් නොකියා කඩින් කඩ යෙදුව 'න' කාර ස්වරූපයන් මගින්, විටින් විට ඇසෙන කිකිණි හඬ ධ්වනිත කරයි. "නිනි නි, නිනි නි" ලෙසින් කඩින් කඩ ඇසෙන කිංකිණි හඬක් සිහි කරන්නට, මම ඔබට ආරාධනා කරමි. රසවතකුට බොහෝ දේ සිතින් මවන්නට, මේ කැළණි පුර වැනුමේ කවි වල ඉඩ සලසා ඇත.

" නොව පැරණී වන රමණී... සැළ ලිහිණී වදු කැළණී ..." ලෙසින් කොටසක් ඇති ගීයක් අනූව දශකයේදී මම ගුවන් විදුලියෙන් ඇසුවෙමි. මේ ගායකයා හා රචකයා මේ කවි කියවා මත්ව, ඒ සුන්දර අනුවර්තනය නිපදවා ඇත. 'මේ සංසිද්ධිය, සැළ ලිහිණි සංදේශයේ කවි පරම්පරා ගණනක් අත නො හැර රස විඳින නිසා, අද කාලයට අනුව නැවත මතු කර ගැනීමකි' යි මට සිතේ .

ගුත්තිලයේ රස කවි ගැන නො ලියුවහොත් එය අඩුවක් සේ දැනේ.

උදේනි පුර සැණකෙළි බැලීමට බරණැසින් ආ වෙළඳුන්ට, මූසිල හමුවීම දක්වන කවි කීපයෙහි කතු තුමා බසෙන් ශිල්ප දක්වන අන්දම ගුරුතුමා අපට කියා දුන්නේ, තමාගේ ශිල්ප අපට දක්වමිනි.

ඉදිමී යි නො වී ණය - දක්වා ශිල්ප වීණය - සමග උපවීණය - රැගෙන දැඩි කොට සදා වීණය.

වීණය යනු වීණාවයි. නොවී ණය යනු ලද දෙයින් ජීවත් වීමයි. ජීවත් වන්නට හොඳ ගණනක් එදා උපයා ගැනීමට මූසිල සිතුවේය. කලා කාරයා පොහොසතෙක් නොවේ. සිංහලයේ මූර්ධජ ණ යන්නෙන් පටන් ගන්න එකම වචනය ණය පමණි. උපවීණය යනු වයලීනයේ 'බෝ එක' වගේ එකකි. මේ ඔක්කොම එක කවියක් ගැන අපට කියා දුන්නේ හතේ පන්තියේ දී උගැන්වූ ගුරුතුමාය. පාසලේ පළමුවැනි ගොඩනැගිල්ල වන, විසාලම පොල් අතු වහලය ඇති සාලාවේ, සොහොන් පිටියට යන පාර පැත්තේ කෙළවරේ, පන්තියේදී ය

මූසිල ගේ වාදනය වෙළඳුනට සරි නො වීය. ඒ පිළිබඳ කවිය නම්,

"ඇදුර තුටු නො වෙතියි, <u>නො සිත අප සිප් නො දතියි</u>, උනිමු වෙන සදති යි, නො දත්තෙමු ගායනා කරති යි" දෙවන පදය ගුරුතුමා කීවේ "නො සිත'ප සිප් නො දනිතියි" බවය. නොදතියි යනු පෙර නොදැන සිටි බවක් හඟවන නිසා නොදනිතියි යනු නිවැරදි බවත් මෙය මුද්‍රණ දොසක් විය හැකි බවත් ගුරුතුමා ගේ මතය විය.

අප ගයනා කරනවා ලෙස දැන සිටියේ තාලයට කටින් කීමය. සංගීත උපකරණ වාදනය මිස ගායනය කිරීම ලෙස කීම හරිදැයි නො දත්තෙමු. ගුරුතුමා කීවේ එදා කාලයේ යෙදුම් වෙනස් මිස, වැත්තෑවේ තෙරිඳුන් වැරදි වචනයක් යොදා නැති බවය.

භාෂාව පාඩමේදී කුමාර රචනය පොතින් උක්ත ආඛ්‍යාත සම්බන්ධය කියාදෙද්දී 'සංශයක් හෝ වාර්තාවක් ඉදිරිපත් කිරීමේදී ඒක වචන හෝ සඳහනක් නැති කර්තෘ ඇති විට බහුවචන ආඛ්‍යාත යෙදීම' ගැන උදා හරණ ලෙස දුන්නේ මේ කවිය හා "පරසතුරන් එති එති යන බසටා හැර අඹු දරුවන් යන ලෙස වලටා" යන ලෝ වැඩ සඟරා කවියයි.

ගුත්තිල එනතුරු ඔහු නිවසේ මූසිල ගත කරන කාලය ද අපට රසවත් විය.

"මඳක් සැතපී ඉඳ - මහා බෝ සතුන් ගේ සොඳ - රැගෙන වෙණ මන නඳ - වැයීමට ඔහු පටන් ගත් සඳ

අඳ මවු පිය දෙදෙන - ඔහු වයන බව නොම දන - කතී වෙණ මීයන - සු සූ යයි අත ගැසූ සැකයෙන

එ අසා වෙණ තබා - සිතෙහි ගරු මන් නො තබා - උන් පද හිස තබා - නැමද මෙලෙසින් කියයි ගදඹා

උදේනී පුර සිට - වීනා සිප් උගැන්මට - ගුත්තිල පඬි වෙතට - ආමි කොදූ ඒ හිමි කියව මට"

මූසිල ගේ සාපේක්ෂ අදක්ෂතාව ව්‍යංගයෙන් කී සැටි, ගුරුතුමා ගෙන් උදව්වක් නැතිවම තේරී අපට හිනා ගියේය. කොද යනු කොහිද බවත්, එසේ යොදා ඇත්තේ, මාත්‍රා ගණන සරි කිරීමට හෝ එදා යෙදුමක් හෝ විය හැකි බවත් ගුරුතුමා කීවේය. අප නම් අහන්නේ 'කෝ ' නැත්නම් 'කොහේද' කියලාය.

වීණා තරගයට ලත් අභියෝගයේ දී මුසුප්පු වී සිටිනා ගුත්තිල ගේ මනෝ භාවයන් ගුරුතුමා පැහැදිලි කළේය.

" දියෙහි යන දණ්ඩට - පිහිටක් වෙතත් පෙරසිට - දුදනන් හට පිහිට නො වව් යන බස සැබෑ කළෙ මට "

'දියෙහි යන' යනු මුද්‍රණ දෝෂයක් බවත්, දිය හී යනු දියෙහි පාවී බවත් දඬ ට යනුවෙන් පැරණි පොතේ තිබුනු බවත් ගුරුතුමා කී සැටි අදටත් මතකය. පොතේ අකුරුවලට වඩා අපට ගුරුතුමා විශ්වාසය.

කොපමණ ගුණ කළත්- දුදනෝ නොවෙති යහපත්- කිරි දියෙනි දෙවියත් - අඟුරු සුදු වන කලෙක් නම් නැත්

දුරු කර හිරි ඔතප් - පෙන්විය දුදන ගුණ ගැප්- මොහුට අප දුන් සිප් - පෙවූ කිරි වැන්න විස ගොර සප්"

මේ දෙ කව මට නියම ලෙස තේරුණේ රැකියාවට ගියාටත් පසුය.

තරගයේ වීණා වාදනය අසා සිටි පිරිස ගැන කියන කතාවේ හරය බරපතල ධර්ම කාරණාවකි. අප සලායතන වලින් අරමුණු ගන්නේ එක වරකට එකක් පමණි. සිත ඕනෑම දෙයක රැඳෙන්නේ ක්ෂණයකි. ඊ ළඟ ක්ෂණයේ එම අරමුණ ම හෝ වෙනත් අරමුණක් ගැනීමට සිතට හැකිය. එකම අරමුණක සිත රඳවා ගැනීම සමාධි ගත වීමකි. භාවනාව පුහුණු කරන්නේ, මේ පැන පැන යන සිත එක අරමුණක තබා ගැනීමටය. අප ශ්‍රව්‍ය දෘශ්‍ය කතා කීවද, කිසිවෙක් මේ දෙකම එකට කරන්නේ නැත.

එකින් එකට පැන පැන ශ්‍රව්‍ය දෘශ්‍ය අරමුණු මාරුවට ගනිමින් සිටිතත්, දෙකම එක විට කරනවායයි අපි සිතා සිටිමු.

වැනුමට අනුව අසන කවුරුත් ඒ අරමුණෙහි පමණක් සිටියහ. ඒ නිසා අනෙකුත් ක්‍රියා හෝ වගකීම්, ඔවුනගේ මනසින් ගිලිහුණේ ය. ශබ්දාරම්මනයේ ගැලී සිටි අය ගේ අතපසු වීම්, පෙළ ගස්වා ඇත. කුඩා වියේ දී මේවා මෙතරම් බරට තේරුණේ නැත. එහෙත් ගුරුතුමා තමා විඳි රසය අපට 'වැඩ දදා ' කියා දුන්නේය.

සතුන්ට සංවරයක් නැත. එහෙත් නොසෙල්වී සිටියෝය. සොල්දාදුවාගේ අවධානය අවියටය. අම්මට දරුවා ය.

අලි කන් නොසොල්වති ; පිය මාරු නොකරති . නිකම් උන් නොවේ; මද කිපී දඟලන අලින් ය. එහෙත් මෙන්න වුනු දේවල්!

බිය සන් නොව බිඟු දැල් රැඳි කොපුලී, අවසන් නොව වෙණ නදටම කුහුලී
මද සන්සුන් පියොවින් සිටි නො සැලී, ගජ සෙන් සිතියම් ගජ සිරි ඉසිලී

නිතරම කකුල ඔසවා බිම අනින, හොම්බ හොලවන අශ්වයෝ නොසෙල්වී සිටියහ.

කන් කළු වෙණ නද ඇසුමෙහි ලොබිනේ , රන්රසු දැල් කොලහල වෙන බියෙනේ
සන්සල නොව එහි පිළිරූ ලෙසිනේ, නන් හය සෙන් සිටියෝ සිටි මතිනේ

නිති නිරිඳු ගෙ රැකවලෙහි නියුත්තෝ , රැති ලෙස රුපු'නොද බිඳ ජය ගත්තෝ
පැතිරෙන වෙණ නද බැඳුණු සිතැත්තෝ අති'නවි ගිලිහෙන බව නොම දත්තෝ

මන මත් කරවන දන මුළු දෙරණා, රසවත් වන වෙණ නද නද කරනා
සවනො'ත් සඳ පුරඟන ලොබ දියුණා, නො දනිත් දරුවන් ඇකයෙන් වැටුනා

දිය වලෙක ඉවුරේ ඉන්නා මාළුවෝ, අඩිය බරට තිබ්බත්, කෝටු කෑල්ලක් කැඩුනත්, කොලයක් වැටුණත් වහා පැන ගැඹුරෙහි සැඟවෙති. හඳයන් හිරිකනයින් දෙස කුඩා කාලයේ එබී බැලුව අපි මේ බව දනිමු. එහෙන් වීණා හඬ අසන්නට මිනිසුන් දැක දැක මාළුවෝ ගංගා වෙරළට රැස්වුහ. ඇත්තද ...?

පන්සිළු වීණා නද පසු බැස්වූ , මන් පිනවන වෙණ නදයෙන් තොස් වූ
නන් දන කැන් දුටුවද බිය සිස්වූ, මින් රළ'වුත් ගං වෙරළට රැස්වූ

ගුරුතුමා අලුත් වචන හා තොරතුරු පැහැදිලි කරන්නේය.

අලියාගේ කනේ මීමැස්සන් වහන්නේ, මද කිපෙන කාලයට එතනින් ඉස්මක් එන නිසාය. අලියා කන් සොලවා උන්ට පහරදෙයි. ඒ වෙනත් දවස් වලය .

අශ්වයාට හය කියන්නේ උඟට කුර හයක් ඇති නිසාය. ඉස්සරහ තනි කුරයක් බැගින්ද පසු පස, දෙක බැගින්ද වේ. ගුරුතුමා කීවේ 'ඉස්සරහ එකයි පස්සෙ ඩබල් ඩබල්" කියාය. කළු ලෑල්ල ට ගොස් අශ්ව ලාඩමක හැඩය ඇඳ, ලාඩම් ගහන කතාවත් කීවේය.

සක් දෙවිඳු ගේ වීණා වාදකයා කොණ්ඩා පහක් බඳින කෙනෙකි. ඒ නිසා පන්සිළු හෙවත් පංච සිඛ වේ. මේ කවිසමයේ තොරතුරු ය.

අන්වර්ථ නාම උදාහරණයට බාසා පාඩමේ දී ද මේ උදාහරණයකි. සමූහාර්ථ වාචී උක්තයට ආඛ්‍යාතය බහු වචන විය යුතු බවට උදාහරණය 'මින් රළ'වුත් ගං වෙරළට රැස්වූ' ය.

කුඩා කාලයේ සාහිත්‍යය හඳුන්වනු වස් කියාදුන් දේ, සාමාන්‍ය පෙළ වෙන විට භාෂා පාඩමේ උදාහරණ තුළින්, නැවත මතකයට ගෙනෙන්නේ තවත් හේතු කාරණා ද සහිතවය. අපට උගැන්වූ පොත් පෙළ හා ගුරුන් ගේ විෂය ප්‍රවේශය, එකිනෙක බැඳී යන දාමයක් සේ අපේ භාෂා ඥානය වර්ධනය කර ඇත්තේ අප නො දැනුවත්ව ම ය.

"එ මා සත්හු එ නද ට අසමානය, පමා නො වී කොවුලෝ උපමානය<br>තමා නාද මිහිරැයි යන මානය, දමා එයින් වින්දෝ අව මානය".

මේ කවියට බැඳුණු මනහර මතකයක් මට ඇත්තේය . ඒ කාලයේ කවි පන්තියක් උගන්වද්දී එය දවසකින් ඉවර නොවේ. පළමුවන දා ගුරුතුමා ගායනා කරමින් කියා දෙයි. ඊ ළඟ දාට අපට ද කවි කියන්නට සිදුවේ. තාලයට කියන්නට පාඩම් තිබිය යුතුය. පොත බලාගෙන කීවත්, හුරුවක් නැත්නම් මග දී ඇන හිටී. මේ නිසා අපි කවි පාඩම් කරගෙන යන්නෙමු. කොහොමටත් හැමෝටම හෝ, තනිව හෝ තාලයට කවි කියන්නට පුළුවන් වෙනතුරු, පාඩම අවසන් නොවේ.

මම ගෙදරදී හඬ නගා කවි පාඩම් කරමින් සිටියෙමි. මගේ පියා මා අසළට පැමිණ, අරුත කියාදී නියම විග්‍රහයක් කළේය. " ඔය කියන්නේ කොහාගේ හඬ අනිත් කුරුල්ලන්ගේ ට වඩා හොඳ නිසා උඟ ආඩම්බරයෙන් ඉන්න බවත් වීණා නාදය අසා උඟ ඒ ආඩම්බරේ ඇතැරිය බවත්. ඒක කවිකාර කමේ හපන් කමක් මිසක්ක කොහාට ඕව කල්පනාවක් නැහැ. උඟ කෑගහන්නේ අවුරුදු කාලෙට , රෑළ කාලෙට. ඕකෙ යටි අර්තයක් තියෙනව මිනිස්සුන්ට. මිනිස්සු හිතනවා ඒ ගොල්ලන්ට වැඩ පුළුවන්, හැඩ කාරයි, සල්ලි කාරයි වගේ නොයෙක් දේවල්. ඊට වැඩි කෙනෙක් එක්ක වැටුනම හිතේ මාන්නෙ බහිනව."

මේ කතාව මගේ සිතේ කිඳා බැස ඇත. කවුරුන් හෝ හැකි කම් කියනවිට, ආත්ම වර්ණනා දෙන විට මට තාත්තා ගේ කතාව නිතැතින් සිහියට එයි.

දෙව් ලියන්නේ නර්තන වර්ණනයේ කව් පහ සිංහල දන්නා හැමෝම අගයන ඒවාය. ඒ විස්තරය ඒ තරම් අරුත් බරව, සිලිටිව, චිත්ත රූප මැවෙන ලෙස, ශබ්ද ධ්වනියෙන් යුතුව, සීමිත වදන් ගණනකින්, කිව හැකිද, අන් බසකට පරිවර්තනය කළ හැකිද, කියා මට සිතිය නො හැක්කේය

ඊ ළඟ හොඳම වැනුම දෙව් ලොව ගමනේ දකින දේ පිළිබඳ සොබා වැනුම ය.

අහසේ සිට පහළ බලන්නකු දකින දර්ශනය, ගුවන් යානා නැති යුගයක, සක් රජුන් රියේ නැගී ගුවනේ යන ගුත්තිල දකින ලෙසින් ගෙනෙන විස්තරය මනස්කාන්තය.කන්දක් උඩ හෝ ගසක් උඩ සිට පහළ භූමිය නැරඹිය හැකිය එහෙත් මෙතරම් විසල් පරාසයක් ගුවන් දසුනක් සේ මවාගැනීම ම දස්කම කි.

එළිවෙන යාමේ උදේ පාන්දර  බරණැස සිට දෙව් ලොව යන රිය, දෙව් පුර සැපත් වීම කවි විස්සකින් පවසා ඇත. එකකට එකක් නො පරදින මේ කවි වලින් මා සිත්ගත් කීපයක් මෙහි ලියමි.

“තඹ වතුරේ’වි තුරු බිජු රැඳි නුබ කෙතට - දිලි ලවගෙ’වි ගනදුරු හුණ වන පෙතට
දිනපති දෙව් රද එන මග නියම කොට - බැඳි දද එව් අරුණළු නැගී පෙර’ඹරට”

අරුණාලෝකය එන්නේ හිරුට පෙරය. එය වර්ණවත්ය අරුණළු එද්දී තරු මැකී යයි. රන්වන්, තඹවන්, රත් වන් ආලෝකය, හිරු පිළිගන්නට බැඳි කොඩි ය. කුඹුරේ ඉසි බිජුවට තඹ වතුරෙන් වැසී නොපෙනී යයි. රොන් මඩ සහිත හෙවත් ගංවතුර තඹ පාටින් කවියා දකී. අහස කුඹුරක් කර පරිසර වර්ණනාව ගමේ අත්දැකීමක් සමග ගලපයි

බොල් පිනි බිඳු බැමීය අතු නැමීය - මල් මුවරද තෙමීය නල හැමීය
පුල් තඹරෙහි බිමීය බිඟු බිමීය - මල්සර සැව් දැමීය රිය හිමීය

පින්නෙන් බරවන රිකිළි නැමේ; එවිට පිනි බිම වැටේ. මල් පැණියෙන් තෙමුණු මඳ සුළං හැමුවේය. නෙලුම් මල් වටේ මී මැස්සෝ කැරකුනෝ ය. එනිසා අනංගයා දුන්න අතහැරියේය. දුනු දියෙහි ඉන්නෝ මීමැස්සෝ ය. පාන්දර මල් පිපෙන සත්‍ය ස්වාභාවයට කවි සමයේ දේ එක් කොට, මනහර ලයක් සදා ඇත්තේ, එක විදියේ වචන දෙවරක් බැගින් කවි පදයක් ගානේ යොදමිනි.

මල්, පිනි, මී මැස්සන් වැනි සියුම් වස්තූන් වෙත නාභිගත කළ ඇස, නැවතත් විසාල චිත්‍රයට යොමුකෙරේ. විසාල ගස් ඇති උයන් වල අඟනෝ මල් නෙළති.

‘සැලී සුපිපි සපු නා තුරු වල දිමුතු - දිලී කුසුම් බිඳ බිඳ නමනමා අතු
ඇලී ඉඳින කොමළඟ තුනු සිරින් යුතු - බැලී තැනින් තැන සැදී සොඳ උයන් වතු’

සැලී සුපිපි, දිලී කුසුම්, සුන්දර යෙදුම් ය. මුකුටය දිග හැරුණු විගස නැවුම් මල් වල වර්ණ දීප්තිමත්ය මේ වැකිය දිලී යන තනි පදයෙන් අරුත් ගන්වා ඇත. මල් කඩන ගැහැණු තුනු සිරින් යුතු දැයි අහසට නම් නොපෙනේ. දුරට කැත නොපෙනෙන නිසා, ගුත්තිලට එහෙම හිතෙන්නට ඇත.

'ලද ඇල් ගෙවිලියන් ඉද කියන රාවය - මද කල් සිට අසමින් කන් පුරාගිය
සුවඳැල් කෙත් රන් දම් සේ පැසී ගිය - සුවිපුල් සිත් සතොසින් දැක පිනා ගිය'.

යායේ කුඹුරුවල ගොයම පැසිලාය; පැසුණු, නැමුණු කරල් රන් දම් සේ ය.ගොයම් කපන්නට ආ ගැහැණු ගොයම් කවි කියති. නියම ගැමි දසුනකි.

'වන තුරු පටින් දිලිහෙන මනකලාවන් - සිඳු නිල'ඹරින් සුසැදුනු මිහි කලාවන්
මිණි මුතු පෙලින් බබලන මේඛලාවන් -දැක දැක ගොසින් ගං හෝ වැලි තලාවන්'

වනාන්තරය, මුහුද ගංගා ඔය වැලිතලා මිහිකත ගේ ඇඳුම් පැළඳුම් ය. වනය හා මුහුද සළු වෙද්දී ගං හෝ වැලි තලා මිණි මෙවුල වේ. උපමා රූපක බහුලය; මනෝ චිත්‍රය විචිත්‍රය; දර්ශනය චමත්කාරය.

වැලිතලාවන් යන වචනය හා එළිසමයෙදී සමවන්නට මනකල් මනකලාවන් ද, මිහි කල මිහිකලාවන් ද, මේඛලාව මෙබලාවන් ද වී ඇත. පද්‍යකරණයේදී කවියාට මෙවන් වෙනස් කම් සඳහා ඉඩ හසර, අවසර හෙළ සාහිතයේ නොයෙක තැන ඇත.

'ගිලි රොන'වුල් මලීය පෙන මලීය - දිව එන පිලි පිලීය පල පිලීය
සඳ කැලුමෙ'ව් හැලීය ඇද හැලීය හෙනු දුටු ගඟුලැලීය සිහිලැලීය'

මල් රේණු හා ගෙඩි ජාතිද, පෙණ ද, දියේ පාවෙයි; ජල පහරේ වේගය 'දිව එන' වදනින් ධ්වනිත වේ මල් හා ගෙඩි ඒ මේ අත වීසිවීම ප්‍රවාහයේ ජවය දනවයි. වදන් පෙළ ද දොළ පාරක් සේ ම සුන්දරය; මනස්කාන්තය. කතු හිමියන්ගේ ප්‍රතිභාව ද, හෙළ බසේ ප්‍රභාව ද, අප සිතේ රාව ප්‍රතිරාව දේ.

රිය නික්මෙද්දී අරුණු අහසේ ගුත්තිල දකින සියුම් දේවල සිට, ක්‍රමයෙන් වඩා විසල් පරාසයක ඇති දේ දකිමින් අවසන,සමුදුර, දිවයින්, මහාද්වීප හා සත්කුළු මුදුන ද යුගන්ධර පව්ව හෙවත් හිමාලය ද, පසුකර දෙව් පුර පිවිසේ. කවියෙන් කවිය නිවී හැනේ බැලුවොත්, හෙලිකොප්ටරයක් බිම සිට කෙමෙන් ඉහළ නගිද්දී ලැබෙන දර්ශන තල, පියවරෙන් පියවර විස්තර කෙරේ. ක්‍රමවත් ලස්සන ඉදිරිපත්කිරීමකි. භාෂා නෛපුණ්‍යය ඊටත් එහාය. මේ, ගමනේ අවසන් කවි දෙකය.

වළා පෙලින් ගැවසුන මෙන් සුනිල'ඹර - දුලා උල'ඟි රළ පතරින් පිරි නිතොර
ගලා සිටින සිඳු මැද සක්වල අතර - බලා කොදෙව් සහ මහ දිවයින් සතර

පෙර සුර පුරට පව්රෙව් මෙර වසා සිටි - සමුදුර තරඟ සෙමරට ලූ කිරණ මිටි
යුගඳුර පටන් අඩකින් එකිනෙකට මිටි - මනහර රුවන් සත් කුළු පව් වළලු දිටි

සැලලිහිණි සංදේශයත් ගුත්තිල කාව්‍යයත් කෝට්ටේ යුගයේ පද්‍ය රචනාය. උයන්, නගර, ඇල් ගෙවිලියන්, වැලි තලා මේ දෙකේ ම පොදු වස්තූන් ය. 'ලද ඇල් ගෙවිලියන් ඉඳ කියන රාවය' කවියත් සැලලිහිණියේ 'සලා දුලා පියොවුරු තඹර රොන් රත' කවියත් ඇල් ගෙවිලියන් ගැනය. මෙහි සොබා රසය දෙන අතර, සැලලිහිණි කවිය ශෘංගාරයට බරය.

ගිලිරොන' වුල් ගුත්තිලයේ වැටී ඇත්තේ ගඟුල ටය. සැලලිහිණියේ ඇත්තේ වැලි තලාවේය.

සමාන කම් සේම දක්ෂ කම් ද බොහෝ සේ පෙන්වන මේ පද්‍ය රචනා දෙ,ක සිංහල සාහිතයේ හොඳම කවි පොත් දෙක යයි මම සිතමි. සමාන වීමේ අරුමයක් නැත්තේ ගුරුතුමා ගේ හා ගෝලයාගේ වැඩ නිසා ය.

උධෘතය මොන පොතේ තිබී අපට උගන්නුවා දැයි මතක නැතත්, හංස සංදේශයේ කැරගල පියස ගැන කවි පහක් හෝ දහයක් අපට උගැන්වුනි. කවි දහයකට වඩා ඇති මේ විස්තරය පද්මාවතී පිරිවෙන පිහිටි ගම ගැන ය. මේ විස්තරය මාසිත කාවැදී ඇත. සැටවිය ද ඉක්මවූ පසු, මම හංස සන්දේශයක් මිළ දී ගත්තෙමි.

සාර පලය අඹ දඹ රඹ ද වල්පිට - මීර ජලය ඇල දොළ කඳු පිටින් බට
නැර ලොලය වඩවන දුටු දනන් හට - කැරගලය වැජඹෙයි මේ ලෙසින් සිට

කුළින් කුළම සිහිල'ඹ වැහෙන කඳුරු ය - දොළින් දොළ ම කල් යල් කරන කුඹුරුය
පලින් පලම තල් පොල් ගෙවතු මැදුරුය - <u>තලින් තලම</u> පුල් පියුමු'පුල පඬෙරුය

පැසෙයි නිබඳ සුවඳැල් කෙත් වත් අවට - ඇසෙයි ළමා වසු පැටියන් හඬ දුරට
දිසෙයි වෙහෙර එහි සුර විමනක් ලෙසට - රසෙයි අමා රස මය ඒ පියසට දුට

නිබඳ පැසී පල ලඹ දෙන මිහිර'ඹය - සුවඳ විහිද සිටි විලිකුන් කැන් රඹය
නො මඳ තැනින් තැන වලු බර <u>වන රඹ</u> ය - එමැද වෙහෙර දිලි දුර ලන සසර බය

නුදුරුව සිහිලැලීය, ගඟුලැලීය - වට සැදී මල් වැලීය සුදු වැලීය
පිපි වන සිටි මලී ය, වන මලීය - තුටුවන සිතුවිලීය, පුල් විලීය

පවන ද පිපි තුරේය, නිරතුරේය - කුසුමන් පෙති තුරේය , මලු තුරේය
අවට සුපිපි සරේය බිඟු සරේය - සිත එවෙහෙර කෙරේය , ලොබ කෙරේය

මේ වර්ණනාව ප්‍රදේශයේ සැබෑ සැටියයි. දොම්පේ පෙදෙසේ ඇති භූ විෂමතා ස්වරූපය, ගහ කොළෙහි ස්වභාවය හා එවක ගමක ගේ දොර හා, වැවූ දේ සරලව, එහෙත් උසස් බසින් දී ඇත. නූතනත්වය නිසා ඇති වී තිබෙන ගෙවල් හා ගොඩනැගිලි ද, අන්නාසි ගම්මිරිස් වැනි වගාවන් ආදිය ද, මකා දමා ඉතිරි වෙන චිත්‍රය මනසින් ගතහොත් මේ විස්තරය අදටත් එහි ඇත්තේය. වර්ණනාවේ දී ඇති, එහි අද නැති දේ තල් ගස් ය. ඒ වෙනුවට තල ගස ඇත.

තලින් තලට යනු තඩාගයෙන් තඩාගයට සේ පොතෙහි අරුත් වෙයි. එවැනි තඩාග නැත. සරේය යන පදය විල් ලෙසද එම පොතේම පැහැදිලි කර තිබේ. භූ විෂමතාව අනුව, මෙවැනි ප්‍රදේශයක ස්වාභාවික විල් නැත. කබොක් ගල් කපනු පිණිස හාරනලද වලවල් නම් තිබිය හැක.හැකිය. කෝට්ටේ රාජධානියේ ගොඩනැගිලි නටබුන් වල, මේ කබොක් බැමි දැකිය හැකිය . එවැනි වළවල්, විල් නොව පොකුණු ය යි සැලකිය හැකිය. දියකදුරු කුඩා දොළ හා ඇලපාරවල් ද, ඒ දෙපස කුඹුරු ද, වතුර රැඳෙන බිම් කඩවල ඕලු, නෙලුම් ද, අදටත් දැකිය හැකිය.

වල්පිට කියන්නේ, නියම මහා වනයකට නොව කැළෑ බූටැවක ගස් පඳුරු මංඩියක් ය. ග්‍රාමාසන්නව මහවනය පිහිටන්නේ නැත. මිනිසාගේ ක්‍රියා කාරකම් නිසා ගහනය අඩුවුනත්, ගස් හා පඳුරු අතරින් සතුන් හා මිනිසුන් යනෙන අඩිපාරවල් ඇති වගා නොකරන ඉඩම් වල, ගඩා ගෙඩි නො අඩුය; වන පල බහුලය. පනස් වසරකට පෙර, අපේ ගම්වල එවැනි බිම් කඩ දුටු නිසා, පන්සිය වසරකට පෙර ගම් මංඩියක් අසබඩ කැළෑ බුටැව, කවියේ ඇති පරිදි විය හැකි බව වැටහිණි, කවි පෙළේ ඇත්තේ වදන් පෙළකි. සිතේ දුවන්නේ චිත්‍රපටියකි.

වලු පිරි අඹ ගසක් ඇතින් දකින විට, දිග නැටි වල එල්ලෙන අඹ හා පොකුරට සිටි අඹ පෙනේ. ලඹ දෙන යන්න එල්ලෙන අර්ථය සුන්දර ලෙසින් අනිකුත් පද හා යෙදී ධ්වනිගත වේ. අද මෙන් අපිරිසිදු නොවූ දිය පාරවල සිහිල් මිහිරි ජලය ඇත්තේය. ගස් වල මල් පිපෙද්දී මී මැස්සෝ රොද දෙති. වර්ණනය මිහිරිය; ගුරුතුමා එය ඔප් නැංවීය. මේවා ම හදේ කිඳා බැස ඇත.

අඹ ගස්, දං ගස්, කෙසෙල් ගස්, කුඹුරු, ගල්කුළු, උස් පහත් බිම් ඇති, පහත රට ගමක, පොල් වහාවන් මැද, මැදුරු කෙසේ වෙතත්, පිළිවෙලේ සිංහල උළු සෙවෙණි ගෙවල් තැනින් තැන තිබේ. මේ ගම මැද්දේ පිරිවෙන ඉතා සුන්දරව පෙනෙන්නේය. එය ඇත්තේ කඳු ගැටයකය. නව නිර්මාණ නිසා පිරියත වෙනස් වුනත්, පුරාණ

පන්සල් ගොඩනැගිල්ල දැක ගත හැකි විය. එදා කාලයේ එය මනරම් ඉදිකිරීමක් වෙන්නට ඇත.
කැරගල කොහේ දැයි සොයාගෙන මා එහි ගියේ, මට වයස හතලිස් ගණන් වලය. බසෙක අරුම විඳ, සිතෙක රඳන දේ, වස් ගණන් ගියත් උච්ඨානය වේ. අවස්ථාව ඇතිවිට සොයා යන්නට පොළඹවයි.

පර ගැති වීමට පෙර, ලංකාවේ විද්‍යා ස්ථාන වුයේ, කෝට්ටේ සුනේත්‍රා දේවී පිරිවෙන, තොටගමුවේ විජයබා පිරිවෙන, කැරගල පද්මාවතී පිරිවෙන, හා මයුරපාද පිරිවෙන බව ගුරුතුමා සඳහන් කළේය. බණ්ඩාරගම ආසන්නයේ ඇති, වීදාගම රජමහවිහාරයද, සවන පැරකුම්බා රජ කාලයේ සිට කෝට්ටේ යුගයේ බැබළුණු පිරිවෙනකි. ඒ බුදුගුණා ලංකාරය, ලෝවැඩ සඟරාව, එළු අත්තනගාලු වංශය හා හංස සංදේශය ලියු වීදාගම මෛත්‍රීය හිමියන් නිසාය. මෙතුමන් ගේ ගුරු හිමියන්ද වීදාගම නායක හිමියන් ලෙසින් හැඳින්වේ.මේ ස්ථාන වල අගය කියමින් මිෂනාරි අධ්‍යාපනය නිසා අපේකම බොඳ වී ගිය බවද, ගුරුතුමා කීවේ අසරණ හා අප්‍රසාද ජනක ස්වරයෙනි.

මයුරපාද පිරිවෙන මාවනැල්ල අසල ඇති බව මා දැන ගත්තේ, ඒ ප්‍රදේශයේ පාරක් සෑදීමට ගිය, මගේ සැට වස් කාලයේ දීය.

දැන් කාලේ ප්‍රසිද්ධ විද්‍යෝදය විද්‍යාලංකාර පිරිවෙන් අරඹා ඇත්තේ 1873 හා 1875 දී ය. ඒ හික්කඩුවේ සිරි සුමංගල හිමියන් හා රත්මලානේ ධම්මාලෝක හිමියන් විසිනි. මේ දෙදෙනාම රත්මලානේ පරම ධම්ම චේතිය පිරිවෙනෙහි වලානේ සිද්ධාර්ථ නායක හිමියන් ගේ සිසුහු වෙති.

අප සැළ ළිහිණිය උගන්නා සමයේ, සංදේශ පොත් වල සමාන කවි සසඳමින් උගැන්වීම, ගුරුතුමාගේ සිරිතය. දිය කෙළි වැනුමක් සැළලිහිණියේ නැතත්, ගුරුතුමාගේ උද්යෝගයට හංස සංදේශයේ දියකෙළි වැනුමද අපට උගැන්වීය. කවි තාල හොඳ නිසා, සමහරක් මතක හිටියත් තෙළෙස් වියේ මට, මේවායේ ලොකු රසයක් දැනුනේ නැත. අදාලමත් නැති නිසා, අප එයට බරක් දැම්මේ ද නැත. අපට වසර පහකට හෝ ඊටත් පෙර මේ ගුරුතුමා, අපේ අය්යලාට හංස සන්දේශය උගැන්නුවේය. කවිවල ඇති ගැඹුර හා ශෘංගරය විදි ගුරුතුමා ගේ මහත් උද්යෝගය හෝ උන්මාදය, මට තේරුනේ, වැඩිහිටියකු වී සාහිත්‍යය විඳින්නට තරම් රැකියාවේ ඉස්පාසු ලද සමයේ, හංස සන්දේශයක් ගෙන කියවූ පසුවය.

දියකෙළි වැනුම කවි දොළොසකි. ගුරුතුමා රස කර තරම නිසා, මතක හිටි කවි කීපයක් මෙහි ලියමි. සමහර වචන වල අරුත් දැන ගත්තේ මේ දෙවැනි කියවීමේ දී ය.

"ලෙලෙනා මෙන් ගඟතරඟ කනා ලිය - කෙළනා ලෙස එළි බැස දිවෙනා ලිය
පිහිනා යන එන සොදුරු මනා ලිය - සොබනා රූසිරි නො හැකි වනා ලිය

මිනිසෙක් දිය පීනා යයි එතෙරට - අඟනක් දිය පීනා යයි මෙ තෙරට
පහරක් දුන සරණින් ඔහු සිරසට - අනෙකක් හැඬුවා ඒ සඳෙහි දුර සිට

අඟනක පය ගෑ ලතු සිරසෙහි වැකි - මිනිසකු ගඟ දිය කෙළියෙන් නො වැළැකි
අනෙකක ඇස රතු විය ලතු නොම වැකි - ඇය සක එරතට වෙන දිය කරණෙකි

දිය මං දිය ගති දැන ගත් අය නිති - පැන ගං ඉවුරෙන් දිය හී ගැඹුරැති
ඉදිමින් දිය තුළ දුර ගොස් ඉපිලෙති - දිය බුං දිය කෝකිල ගසමින් යෙති.

පිහිනත උඩුකුරු වෙමින'ඟ නන් රඟ - සියපත ඉඳුවර දිසි තිසරුන් රඟ
පැහැපත බිඟු රළ කෙළනා මන රඟ - සිරි ගත ගඟ දිය ගෙදිගු විලෙක රඟ

තරඟ පැහැර ගතා කොකුම'ඟරා ගතා - අඟනන් ලවනතා මඳ නො තිබිය රතා
තලි'නල දිය හෙතා බියෙන් වැසූ නෙතා - පුන් සිසි රැස් පතා ඉඳුවර සිරි ගතා

මසෙක් ගොදුරු පතා, මිණි මෙවුලේ ගතා - එ ළඳුන් බිය පතා, ගත වෙව්ලුම් ගතා
එමතු නොවෙයි ඉතා, නිල් සෙවලැයි සිතා - කොමළ'ඟනන් මුතා සරල් වරල් ගතා

පමණින් තම ගලා, ගඟ දිය තුල තුල ගලා - සිටිනා මනකලා වුවනත මන කලා
සයුරෙහි පිරි කලා , සඳ වැනි දිසි කලා - කෙළන ලඳුන් බලා පයැ'ද නොයෙති බලා

මේ කවි වලින් කියැවෙන්නේ කැළණි ගඟෙහි දිය නාන පිරිස් ගැනය. වැඩි විස්තරය අඟනන් ගැනය. පිරිමි අඩුනිසා ද? කතුතුමාට ආසා අඟනන් ගැන කීමටද ? මේවා රසිකයාට කැමති හැටියට හිතා ගත හැකිය. කෙසේ වෙතත් කියැවෙන හැටියට, ගෑණු රොත්තක් අස්සේ පිරිමි දෙදෙනකු පිළිබඳව ද සඳහනි. නාන තොටේ ගෑණු අස්සේ ගැවසෙන්න මිනිස්සු කැමති ය හ.

මේ අඟනන්ගේ රූ සපුව ඉතා ඉහළින් කියවෙන නිසා තරුණ අය විය යුතුය. පීනා යන මිනිසකු ගේ හිසට පා පහර දෙන්නේ හොඳ විසේකාර ළමිස්සියක් විය යුතුය. තලත්තෑනි ගැහැණියක් කිසිදා එවැන්නක් කරනු නැති. ඊ ළඟ කතාව, එයට අඬන්නේ ද තවත් කතක් වීමය. එතනත් මොකක් දෝ හුටපටයක් තිබෙන්නට ඇත. ඒවාට හේතු කාරණා කියා නැත. හිතා ගන්න ඉඩ තබා ඇත.

ගැහැණියක ගේ පතුලේ ගැවුන ලතු හිසේ තැවරුණු මිනිසෙක් ගෑණු අස්සෙන් ඉවත් නොවීම දිය කෙළියි. " චූන්" උනාම පතුල ඔලුවේ තිබ්බත් සනීපය! ඒ වැඩේටත් තව එකියක ගේ ඇස රතු වෙන්නේ කඳුලෙනි. නියම මනමාල [ගෑන්සියක්] කණ්ඩායමක්!

උඩුකුරුව පිහිනන ගැහැණුන් ගේ ඇස, තොල, හා තන රූපකාලංකාර වලින් දෙන්නේ , නිල් මානෙල් [ඉඳුවර] (රත්) නෙලුම් හා තිසරුන් ලෙසය. ගඟ, ගෙදිගු විලක් [නාන තඩාගයක්] යයි කියන්නේ බොහෝ දෙනා ළඟ ළඟ සිටින බව හැඟවීමට ය.

දිය රැළි වැදී ඇඟේ ගෑ කොකුම්, තොල් වල රත, පවා නැති වීලා ය.තොල් ආලේපන දියවීමක්ද සීතලට හැකිලුනු තොල් වල රත, දුඹුරු ගතියට [තොල් කළු වෙලා ද] හැරුනේ ද ? වතුර ඉසගන්න අය අත්ලෙන් දිය තලයට පහර දී මුහුණට එවන විට නිතැතින් ඇස වැසේ. මේ ගෑනුන් ගේ පියවුණු නිල් ඇස් ඇරෙන්න බලා ඉන්න නිල් මානෙල් ය. [ ෂුහ්!]
මාලුවෙක් මිණි මෙවුලේ [හවඩිය වැනි ඉන පළඳනාවක්] මිණි කැටයක් හපයි. ස්ත්‍රිය බිය වී වෙවුලයි. ඒ අතරේ නිල් වරලේ වෙන මාළුන් ගැවසෙන්නේ දියෙහි නිල් සෙවල යි සිතාගෙනය. [මාලුන්ටත් තියෙන ගාය!]
නිකට ළඟටම වතුරේ ගිලී ඉන්නා කාන්තාවන් ගේ මුහුණු මහා සාගරයේ ගිලෙන්න යන සඳ වැනිය . මේ ගෑණු දිහා බැලුව අයෙක් එතනින් පය ඇද ගෙන ඉවතට නොයයි.[ හ්ම්!]

අපේ, අවිවාහක තරුණ ගුරුතුමා, මෙච්චර මේවා කියන්න ඇත්තේ බසට වශී වෙලාද, කවියේ උනත් ගෑනුන්ට වශී වෙලා වත් දැයි, මට සිතෙන්නේ දැන් ය.

අතිශයෝක්තිය සිංහල සාහිත්‍යයේ පිළිගත් අලංකාර ක්‍රමයක් නිසා, මේ පාර තොටේ යන උන් ටිකක් ගඟේ නානවා බලා, හාමුදුරුවන් දීපු අතේ රෝලකට අපේ ගුරුතුමා වසඟ වී ඇත. අවසාන කවියේ අවසාන පදය බලන්න.ඇත්තටම කතුතුමාට ගෑණු නානවා බලලා, පය උස්සලා අහකට යන්න බැරි අත්දැකීමකුත් එන්න ඇති. මේවා ගැන මට දැන් හිතෙන්නේ මේ ලෙසටය.

' බත් රස දන්නෝ - කෙත හඳුනන්නෝ , කිරි රස දන්නෝ - මව හඳුනන්නෝ,
කව් රස දන්නෝ - බස හඳුනන්නෝ, මෙතුන නො දන්නෝ - කුමට උපන්නෝ'

මේ කවියත් පාඩම් උනේ මේ පාසලේ දීම බව ද පමණක් මතකය.

සිංහල උගැන්ම හිතා මතා කළ දේකට වඩා, මේ පාසලේ දී අපට ඉබේම වුනු දෙයකි. මේවා ම'සිතට ආයේ, වැඩිහිටියකු වී වෘත්තීය උගෙනුම් හමාර කොට, මගේ විනෝදයට සිංහල කියවන්නට වූ සමයේය.

'හෙළ බසේ රස දුටුවෝ, රහල් හිමි ආදී ශ්‍රේෂ්ඨයෝ ද, අදත්, මතුත්, බස හඳුනන, එය වහරන [ව වෙනුවට ප ගැලපෙන අය ද සිටිති] බසට අදර කරන, හෙළයෝ ද වෙති' යි මම අදහමි; පතමි.

පුදමි සාදරෙන් - හද පිරි බැතියෙන් ;
මගෙ දෙමාපියන් - සොයුරු සොයුරියන්

මගේ ගුරුවරුන් - බස් රස මට දුන්;
පොත පත ලියමින් - නැණ දුන් උගතුන්

[මෙතෙක් නම සඳහන් නොකළ ඒ කුඩා පාසල, අනගාරික ධර්මපාල තුමන් ගේ දේශනා අසා උද්යෝගීමත් වූ, අපේ ගමේ එකල තරුණ පිරිස, විද්‍යා වර්ධන බෞද්ධ සමිතිය යන නමින් ලොකු හාමුදුරුවන්ගේ අනුසාසනා ලබා ඉදි කොට පවත්වා, තිස් පස් වසරකට පමණ පසු එක දහස් නවසිය හැටේ දී පමණ රජයට බාර දුන්
**මාතර පඹුරණ ශාරීපුත්‍ර විද්‍යාලයයි**]